**විද්‍යාත්මක ජ්‍යොතිෂයඃ විද්‍යාත්මක ජ්‍යොතිෂ ලිපි සංග්‍රහය**

**ප්‍රථම මුද්‍රණය**

ISBN 978-955-51227-0-2



**ශ්‍රී ලංකා ජාතික පුස්තකාලය - ප්‍රකාශනගත සුචිකරණ දත්ත**

**වසන්ත, එම්. එම්. රෝහණ**
**විද්‍යාත්මක ජ්‍යොතිෂයඃ විද්‍යාත්මක ජ්‍යොතිෂ ලිපි සංග්‍රහය/ එම්. එම්. රෝහණ වසන්ත.-**
**උතුරු කුඩාවැල්ලඃ කතෘ, 2008.-**
**පි.;**

ISBN 978-955-51227-0-2

i 133.5 ඩිවි 22 ii ග්‍රන්ථ නාමය
1 ජ්‍යොතිර්විද්‍යාව, සමාජවිද්‍යාව, සංස්කෘතික අධ්‍යයන

අක්ෂර සංයෝජනය සහ පිටකවරය
**එම්. එම්. රෝහණ වසන්ත**

මුද්‍රණය
යාත්‍රකාර්මික උපදේශන සේවය
අංක 25, උතුරු කුඩාවැල්ල,
නාකුළුගමුව.

කතෘ ප්‍රකාශනයකි

මෙලොවට බිහිකළ

ජී. ඒ. ලියනගේ

අම්මාටත්

රං කිරි කට ගෑ

වර්ෂා හැන්නැදිගේ පුංචිනෝනා

ආත්තම්මාටත්

සිටගන්නට අත දුන්

එම්. එම්. ඩේවිඩ්

තාත්තාටත්

දිවි ගමනට අත්වැලක් වූ

දිල්කාටත්

ජීවිතය රසවත් කළ

නවෝද්‍යා සහ දසුනි

දියණියන්ටත්

ආදරෙන්

# අස්නෙ කිම ...

ජ්‍යෝතිර්විද්‍යා ශාස්ත්‍රීය සංග්‍රයක
අවශ්‍යතාවය තදින් ම දැනී යන වකවානුවක
මෙවන් කෘතියක් මගින් එකී හිදැස පිරවීමට
කතුවරයා ගෙන ඇති උත්සාහය ප්‍රශංසනීයය.

එම්. එම්. රෝහණ වසන්ත මහතාගේ මනා සංස්කරණ
හැකියාවන් පිළිබඳව සහ ඔහුගේ ජ්‍යෝතිර්විද්‍යා ශාස්ත්‍රීය
දැණුමෙහි හසල භාවය "ලංකා ජ්‍යෝතිෂ සංග්‍රහයේ" දී සහ
''බුද්ධි'' මාසික ජ්‍යෝතිර්විද්‍ය සංග්‍රහයේ දී අප මොනවට දුටිමු.

ඔහු විසින් විවිධ මාතෘකා ඔස්සේ ලාංකේය ජ්‍යෝතිර්විද්‍යා විෂය
මූලික ශාස්ත්‍රීය කතිකාවට එක් කරන ලද පර්යේෂනාත්මක ලිපි
එකතුවක් මෙලෙස කෘතියක් ලෙසින් දොරට වැඩීම පිළිබඳව
මාගේ උනුසුම් සුභාශිංසන පිරිණමි

**ශ්‍රී ලංකා දෘෂ්‍ය හා ප්‍රසාංගික කලා**
**විශ්වවිද්‍යාලයීය නර්තන පීඨයේ**
**පහතරට නර්තන අධ්‍යයනාංශාධිපති**
**මහාචාර්‍ය ලයනල් බෙන්තරගේ**

# ස්තුතිය

මසකට වරක් හෝ දෙවරක් ගෙදර සියළුම දෙනා හා එක්ව වට වී ඉස්තෝප්පුවේ හිඳගෙන පවුලේ අයගේ පුස්කොලයේ ලියා ඇති කේන්දර සටහන් එකිනෙක ගෙන සුපරීක්ෂාවෙන් බලා සතියකට හෝ දෙකකට පසු ගෙදර එන පියාණන්ගේ කේන්දර පලාඵල කථනයට සවන් යොමු කර සිටීමට කුඩා කල සිටම පුරුදු වී සිටි කාර්‍යයක් විය.

එසේ බැලූ පුස්කොල කේන්දර සටහන් අතුරෙන් ඉතාම අලංකාර අයුරින් නිමවා තබූ එකම කේන්දරය මාගේ කේන්දරය වීම පිළිබඳව මා හට තිබුනේ අහිංසක එහෙත් ලොකු ආඩම්බරයකි.

මේ අතර රටේ ඇති වූ විවිධ අර්බුදකාරී තත්වයන් හමුවේ 1989 වන විට බෙන්තර ගඟෙන් එතෙර වී ගෙන්දගම් පොළොවට පය ගසන්නට සිදුවීම ජීවිතයේ එක් සුවිශේෂී හැරවුම් සන්ධියක් වශයෙන් පෙන්වාදිය හැකිය.

මේ අතර අහම්බෙන් එක් දිනක මුණ ගැසුන බේන්දළුවේ සෝරත නමින් වූ යතිවරයාණ කෙනෙකුගේ විමසුම් ඇසට ලක් වීමට ලැබුන අවස්ථාව මේ දිගු ගමන ඇරඹීමට ලද මහඟු පිටිවහලක් විය.

සරස්වතී හෝරාවක් යෙදුන එක් උදෑසනක උන් වහන්සේ කලක් තිස්සේ මහත් වර වෑයමෙන් ආරක්ෂා කරගෙන ආ සරස්වතී තෙල් බිඳුවක් බෝ කොලයක නැට්ටක ගල්වා එය උගුරේ ගැල්වීමෙන් අනතුරුව "ලිත් හෝඩිය" සුරතට දී කටපාඩම් කරවීමට සැළැස්වීමෙන් අනතුරුව දල කේන්ද්‍රයක්

සිංහල හැට පැයේ ක්‍රමයට සකස් ගන්නා ආකාරය පිළිබඳ ගණිතමය සූත්‍ර විධීන් රැසක් ඊට පසු දින කිහිපයක් තිස්සේ පුරුදු කරවන ලදී.

පසුව උන්වහන්සේ සතු වූ පොත් පත් රැසක් මාවෙත යොමු කරමින් "...හ්ම්... දැන් ඔය ඇති. මේ මගේ හිණි පෙත්තට යන්න ඕන හැටි අවශ්‍ය වෙලාවට අවශ්‍ය දේ නිසි ආකාරයට අවශ්‍ය පමණ ලැබේවි. එතකන් ඔහොම කරගෙන යන්න. ..." යනුවෙන් පවසා මා හට සමු දුන්නේය.

ඒ නව ඇරඹුම ක්‍රමයෙන් දළු ලා තරමක වෘක්ෂයක්ව වැඩී එන අවස්ථාවේ දී විශ්ව විද්‍යාල ප්‍රවේශය ලබා කොළඹ විශ්ව විද්‍යාලයට තේරී එහි අධ්‍යයන කටයුතු කරගෙන එමින් තිබූ අවස්ථාවේ දී 1997 වසරේ එවකට අයිසීටී ය නමින් හැඳින් වූ පරිගණ තොරතුරු තාක්‍ෂණ ඒකකය මගින් සංවිධානය කරන ලද එක් ප්‍රදර්ශනයක් නැරඹීමට යොමුවීම මාගේ දිවියේ තවත් එක් හැරවුමක් විය. හා හා පුරා කියා පරිගණකයක් අතින් අල්ලන්නට ඉඩ ලද පළමු අවස්ථාව එය විය. පරිගණක පිළිබඳ උණක් මාවෙත හට ගැනීමට එය බලපාන ලදැයි කිවහොත් එය නිවැරදිය.

නමුත් "කොම්පියුටරය" කියා සිංහලෙන් කොම්බුවක් වත් නොතිබුණ යුගයක් වූ එම කාලයේ මා හට අත දුන් සුමනසේකර නම් වූ සහෘදයාණ කෙනෙකුන්ගේ නිවැරදි මග පෙන්වීම යටතේ "ඩොස්" මෙහෙයුම් පද්ධතියෙන් ඇරඹි එම ගමන සමාන්තර ගමනක්ව කරගෙන යාමට ඉඩ ලදිමි.

අනතුරුව මාගේ 23 වන ජන්ම දිනය දා ම විවෘත කරන ලද කොළඹ විශ්ව විද්‍යාලයීය ශාස්ත්‍රපීඨයේ ශිෂ්‍ය පරිගණක ඒකකයෙහි පළමුවන සිසුවා වශයෙන් ලියාපදිංචි වී තනිවම

පරිගණකයක් ලඟ වාඩි වී කටයුතු කිරීමට සමත් වීම මාගේ ප්‍රථම ගෞරව උපාධිය ලැබුමට ද ලොකු පිටිවහලක් විය. එහි දී මුණගැසුන අසිත බටුවන්තුඩාව, සහ කන්දසාමි ප්‍රදීප් කුමාර යන දෙ සොහොයුරන් හා එවකට එම ඒකකය භාරව සිටි ආචාර්ය සිරිමල් අබේරත්න ඇදුරුතුමන් දිවි ගමනේ අමතක කළ නොහැකි චරිත වූහ.

මෙසේ ආ ගමනේ දී පුවත්පත් හා ශාස්ත්‍රීය ලේඛනය පිළිබඳ දොරගුළු විවර කර දී මාධ්‍ය ආචාර ධර්ම පිළිබඳ දැනුවත් කරමින් මා හට අත දුන් "රස ප්‍රකාශන" සමාගමේ "සම්පත" ජ්‍යෝතිර්විද්‍යා පුවත්පතේ කර්තෘ මණ්ඩල ප්‍රධානී වශයෙන් කටයුතු කරන කරුණාරත්න ඩී. පිලිප් මැතිඳුන් මෙහි දී සිහිපත් කටයුතු ය. ඔහුගේ පූර්ණ දායකත්වය යටතේ එළි දකිනු ලැබූ "ලංකා ජ්‍යෝතිෂ සංග්‍රහය" නමින් වූ වාර සංග්‍රහය මගින් දැන අඳුන ගත් කුමා වෙල්ලාලගේ සොහොයුරා ද මෙහි දී ගුරු බැතියෙන් සිහිකැඳවිය යුතුය.

දිවිමගේ නොවැටී කෙළින් සිට ගැනීමට වෘත්තීමය අත්වැල අල්ලා දුන් කොළඹ විශ්ව විද්‍යාලයේ දේශපාලනවිද්‍යා අංශයේ මහාචාර්‍යවරයා වශයෙන් ද ශ්‍රී ලංකා සමාජ විද්‍යාඥයින්ගේ සංගමයේ ක්‍රියාකාරී අධ්‍යක්ෂක හා මූල්‍යාධිකාරී වශයෙන් කටයුතු කරන ජයදේව උයන්ගොඩ ගුරු පියාණන්ද මෙහි දී අනිවාර්යයෙන් සිහි කැඳවිය යුතුය.

මේ අතර කොට්ටේ රාජධානියට අයත් මාදින්නාගොඩ ශ්‍රී සුරම්‍යාරාම පුරාණ විහාරස්ථානයේ විහාරාධිපති ආචාර්ය දොඩම්ගොල්ලේ පඤ්ඤානන්ද ස්වාමින් වහන්සේ ද ඔරුගොඩවත්ත මජීඩ් පෙදෙසේ ශ්‍රී සම්බුද්ධාලෝක ධර්මායතනයේ විහාරාධිපති පූජ්‍ය මැණික්කඩවර ඤාණවිමල ස්වාමින් වහන්සේ ද නමස්කාර පූර්වකව සිහිපත් කරමි.

ශ්‍රී ලංකා දෘෂ්‍ය හා ප්‍රසාංගික කලා විශ්වවිද්‍යාලයීය උපකුලපති මහාචාර්ය ජයසේන කොට්ටගොඩ මැතිඳුන් ද නර්තන පීඨයේ පහතරට නර්තන අධ්‍යයනාංශාධිපති මහාචාර්ය ලයනල් බෙන්තරගේ මැතිඳුන් ද, උඩරට නර්තන අධ්‍යයනාංශයේ හිටපු අංශාධිපති මහාචාර්ය ධනපාල ඕවිටගෙදර මැතිඳුන් සහ ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය ලංකාතිලක මැතිනිය ද තාලවාද්‍ය අංශයේ අංශාධිපති සද්ධා උත්පලකන්දගේ මැතිඳුන් ද සහ උඩරට නර්තන අධ්‍යයනාංශයේ ආධුනික කථිකාචාර්ය ශාස්ත්‍රපති කීර්ති තුමාර පියනන්ද රූපසිංහ සොහොයුරා ද මෙහිලා නොවක් ස්තුති පූර්වකව සිහි කැඳවිය යුතුය.

නම් සඳහන් නොවන්නට යෙදුනු තවත් බොහෝ සහෘද කැළක් මේ එළිදැක්මට පිටුපසින් තිරයෙන් එපිට හිඳ කළ උපකාර හා පාඨක ඔබට ද "**KENDARA SINHALEN** කේන්දර සිංහලෙන්" වෙබ් අඩවියට ගොඩවැදී මා දිරිමත් කළ සහෘද පාඨක ඔබට ද කෘතඥතාව පළ කරමි.

එම්. එම්. රෝහණ වසන්ත
යාතුකාර්මික උපදේශන සේවය
අංක 25,කුඩාවැල්ල උතුර,
නාකුළුගමුව,
ශ්‍රී ලංකාව.

wasantha2010@gmail.com

009441-2255556/009471-4161082/009472-3430028

http://kendaralk.blogspot.com

# පටුන

# සමාජ විද්‍යාත්මක ජ්‍යෝතිෂය

ඔගස්ටේ කොම්ට්, මැක්ස් වේබර්, එමිල් ඩුක්හයිම් සහ කාර්ල් මාක්ස් විසින් සමාජ ගත කරන ලද සමාජයීය විෂය ධාරාවක් ලෙස අප හඳුනාගන්නා සමාජවිද්‍යා විෂය ධාරාව බටහිර ලෝකයේ ආගමික බුද්ධි පුනරුදයෙන් පසු බිහි වූ කාර්මික විප්ලවයත් සමග බටහිර සමාජයේ එවකට පැණ නැගුන විෂම සමාජ රටාවන් හා විෂම සමාජ ඵලයන්ට පිළිතුරු සෙවීමේ දී ඉස්මතු වූ විෂය ධාරාවක් ලෙස අපට පෙන්වාදිය හැකිය.

ජ්‍යෝතිර්විද්‍යාව සහස්‍ර වර්ෂාධික ඉතිහාසයක් ඇති ඓතිසාහික විෂයධාරාවක් වශයෙන් හඳුනාගත හැකි විෂය ධාරාවකි. මෙම විෂය ධාරාව සමාජගත කිරීමේ පුරෝගාමීත්වය ගෙන කටයුතු කරන ලද්දේ ඉතා දූරාතීතයේ විසූ පරාශර, උත්තර, ගර්ස, කල්‍යාණවර්ම, ජෛමිනි, මිහිර, මහේන්ද්‍රපාද, ජීවනාථාචාර්‍ය්‍ය හා ගණේෂාචාර්‍ය්‍ය භට්ටෝත්පල, පෘථුයසස් ආදී ආත්මීය විමුක්ති ඥාන ගවේශනයේ නියුතු වූවන් රැසක් විසිනි.

මොවුන්ගේ පරමාර්ථය ද බටහිර සමාජවිද්‍යා විෂය ධාරාව සමාජ ගත කරන ලද පඬිවරුන්ගේ පරමාර්ථයට බෙහෙවින් සමානතාවක් පෙන්නුම් කරනු ලබයි. නමුත් මිසරය, ඊජිප්තුව, අරාබිය, චීනය, බැබිලෝනියාව, මධ්‍යම ඇමරිකාවේ මායන්වරු, යවන දේශය, බයිසැන්තියන් අධිරාජ්‍යය ආදී භූගෝලීය කලාපයක හෝ නමුදු බිහි වූ ජ්‍යෝතිර්විද්‍යා විෂය ධාරාව ජනනයට දායක වූ පඬිවරුන්ගේ ජ්‍යෝතිර්විද්‍යා නියමයන්

හා පර්යේෂණයන්හි සමාජවිද්‍යා විෂය පථය ඉක්මවා ඇති තත්වයක් දැකගත හැකිය.

බෘහත් පරාශර හෝරා ශාස්ත්‍රය, හෝරාසාරය, උත්තර කාලාමෘතය, ගර්ස හෝරාව, කල්‍යාණවර්ම සාරාවලී, ජෛමිනි සූත්‍ර, දෛවඥකාමධේනුව, වෘහ්හජාතක හෙවත් වරාහමිහිරය, හෝරාභරණය, ජීවනාථාචාර්ය භාව කුතුහලය, ගණේෂාචාර්ය ජාතකාලංකාරය, භාව ප්‍රකාශය භට්ටෝත්පල ටීකාව, ප්‍රශ්න මාර්ගය ආදී ජ්‍යෝතිර්විද්‍යා මූලග්‍රන්ථ පරිශීලනය කිරීමේ දී පෙනී යන ප්‍රබල වෙනස්කම් සහිත කරුණු රැසක් ඇත.

කාර්ල් මාක්ස්ගේ සමාජය හා ගැටුම, ජෙහාර්ඩ් ලෙන්ස්කිගේ සමාජය හා තාක්ෂණය, මැක්ස් වෙබර්ගේ සමාජයීය තර්කාපණය හා එමිල් ඩුර්ක්හයිම්ගේ සමාජය හා ක්‍රියාවාදය වැනි සමාජ විද්‍යාත්මක විග්‍රහයන් තුළ පුද්ගලයා සමාජය සමග යෙදෙන අන්තර් ක්‍රියාවලියේ ස්වභාවය පැහැදිලි කිරීමට උත්හාස දරා ඇති බව පෙනී යයි.

එහි දැකගත හැකි ප්‍රධාන වෙනස නම් සමාජවිද්‍යාව විසින් පර්යේෂණයන්ට භාජනය කරන ලද පුද්ගලයා හා සමාජය යන කරුණු සමාජය තුළ පවතින ආකාරය අනුව විග්‍රහ කරගනිමින් එය අවබෝධ කර ගැනීමට ගන්නා ලද උත්සාහයක් බව පෙනී යෑමයි.

නමුත් ජ්‍යෝතිර්විද්‍යාව විසින් එය සිදු කිරීමේ දී සමස්ථ විශ්වයම සැලකිල්ලට ගනිමින් පුද්ගලයා හා සමාජය අවබෝධ කිරීමට උත්සාහ ගනී. මෙම උත්සාහය තුළ පෘථිවි කේන්ද්‍රීය, පුද්ගල කේන්ද්‍රීය දෘෂ්ඨියක් සහිතව විශ්වයේ ක්‍රියාකාරීත්වය සැළකිල්ලට ගනිමින් විශ්ලේෂණය කරයි.

එසේ පෘථිවි කේන්ද්‍රීය, පුද්ගල කේන්ද්‍රීය දෘෂ්ඨියකින් විශ්ව ක්‍රියාකාරීත්වය සැලකිල්ලට ගනිමින් පුද්ගලයා හා සමාජය අවබෝධ කිරීමට යත්න දැරීම සමාජවිද්‍යාත්මකව විග්‍රහ කළ නොහැකිය. එහිලා සමාජවිද්‍යාව විසින් ගොණුකරනු ලබන ප්‍රධාන තර්කය වශයෙන් ගෙනහැරපාන ප්‍රධන හේතුව ලෙස පෙන්වා දෙන්නේ, විශ්ව ක්‍රියාකාරීත්වය පුද්ගලයාට හා සමාජයට කරනු ලබන බලපෑම තාරකාවිද්‍යාවේ සොයාගැනීම් අනුව, ඇසට පෙනෙන ආලෝක කිරණ ගමන් ගන්නා වේගය, විශ්ව වස්තූන්ගේ දුරස්තර භාවයන් අනුව පෘථිවියට ලඟාවීමට ගතවන කාලය පුද්ගල පරමායුෂය ඉක්මවන බැවිනි" යනුවෙනි.

මෙහිලා පෙන්වාදිය යුතු කරුණක් ඇත. විශ්ව වස්තූන්, විශ්ව වස්තූන්ගේ ස්වාභාවික ආලෝක කිරණ හා විශ්ව වස්තූන්ගේ ආලෝකයන් පෘථිවියට ලඟාවීමට ආලෝක වර්ෂ ට්‍රිලියන ගණනක් ගත වුවත්, එහිලා ක්‍රියාත්මක වර්තමානය වශයෙන් දකින මොහොත තුළ පුද්ගලයාගේ උපත තීරණය කරමින් පෘථිවි කේන්ද්‍රීයව භූගෝලීය අක්ෂාංශ දේශාංශ අනුව අදාළ වේලාවේ විශ්ව වස්තූන්ගේ පිහිටීම සිතියම් ගත කරමින් වේලාපත්කඩය නැතහොත් පුද්ගල කේන්ද්‍ර සටහන සකසනු ලබන බව දැකගත හැකිය. නොඑසේ නම් ග්‍රහයින් ඇතුළු විශ්ව වස්තූන් පුද්ගලයාට හා සමාජයට ඇති කරන බලපෑමක් පිළිබඳව හෝ විශ්ව වස්තූන් විසින් පුද්ගලයා හා සමාජය පාලනය කරන බවක් ජ්‍යොතිර් විද්‍යාවෙන් නො කියවෙයි. නමුත් ජ්‍යොතිර්විද්‍යාව පිළිබඳව පූර්ණ කරුණු ගවේශනයකින්, විශ්ලේශනයකින් හා අවබෝධයකින් තොරව ඇතුමුන් මෙය වරදවා කරනු ලබන විග්‍රහයක් වශයෙන් පෙන්වාදිය හැකිය.

මෙම පුද්ගල කේන්ද්‍ර සටහන නැතිනම් ඔහු හෝ ඇය උපන්වේලේ අදාළ ස්ථානයට අනුව නැගෙනහිර ක්ෂිතිජ රේඛාව අංශක 00 වශයෙන් ගෙන පෘථිවිය කේන්ද්‍රකොට

බාහිර අවකාශය අංශක 3600 වශයෙන් ගෙන සිතියම් ගත කරන ලද විශ්ව වස්තූන්ගේ පිහිටීම අනුව එම බාහිර අවකාශය සමාන කොටස් දොළසකට බෙදා කේන්ද්‍රයෙහි භාව දොළස නිර්ණය කොට ඇත.

එහි පළමු භාවය තුළින් සමාජය තුළ වෙසෙන පුද්ගලයාගේ පෞරුෂය, පුද්ගල මානසික ක්‍රියාකාරීත්වය, ශාරීරික සැකැස්ම, අම්ල, හෝර්මෝන ආදී ශාරීරික රසායනික ක්‍රියාකාරීත්වය ද කේන්ද්‍ර සටහනෙහි දෙවන භාවය තුළින් පුද්ගල දෘෂ්ටිය, පුද්ගල සමාජයීය ආර්ථික ශක්‍යතා ද කේන්ද්‍ර සටහනෙහි තෙවන භාවය තුළින් සහජ හැකියා, පවුලේ සාමාජිකයින්ගේ අන්තර් සබඳතා, පවුලේ සාමාජිකයින්ගේ පැවතුම් රටා ද කේන්ද්‍ර සටහනෙහි සිව්වන භාවය තුළින් මාතෘ මූලික මානසික චර්යාරටාවන්, මව, මව් සෙනෙහස, මව්ගේ ශරීර සෞඛ්‍යය, මාතෘ විහීනතා, මාතෘ-දාරක සබඳතා ද කේන්ද්‍ර සටහනෙහි පස්වන භාවය තුළින් පුද්ගල අධ්‍යාපනය, පුද්ගල සමාජානුයෝජනය, දූදරු සබඳතා, දරුඵල හා සාපලයතාවය ද කේන්ද්‍ර සටහනෙහි සයවන භාවය තුළින් පුද්ගල ශාරීරික සෞඛ්‍යය, සමාජයීය බිඳවැටීම්, සොර සතුරු උපද්‍රව, සමාජයීය බාධක ද කේන්ද්‍ර සටහනෙහි සත්වන භාවය තුළින් පවුල, විවාහය, ලිංගිකත්වය, ස්ත්‍රී පුරුෂ සමාජභාවීය ක්‍රියාකාරීත්වය, පුද්ගල සමාජ ව්‍යාභිචාර, පුද්ගල සමාජ විෂමාචාර, පුද්ගල සමාජ දුරාචාර, දික්කසාද, දෙවන විවාහය ද කේන්ද්‍ර සටහනෙහි අටවන භාවය තුළින් පුද්ගල මරණය, මරණයේ ස්වභාවය, සියදිවි නසාගැනීම්, අනෝමීයතාවන් ද කේන්ද්‍ර සටහනෙහි නවවැනි භාවය තුළින් පුද්ගල ආගමික ජීවිතය, ආචාරවිද්‍යාත්මක සමාජ අගයන්, සංස්කෘතික අගයන්, පූර්ව ජන්ම වාසනා ගුණය ද කේන්ද්‍ර සටහනෙහි දසවන භාවය තුළින් පිතෘමූලික මානසික චර්යාරටාවන්, පියා, පියපස ඥාතිත්වය තුළින් ලබන උරුමයන්, රැකියාව, ආර්ථික ධනෝපායනය

ද කේන්ද්‍ර සටහනෙහි එකොළොස්වන භාවය තුළින් පුද්ගල ආදායම් මාර්ග, දෙවන විවාහයකින් ලබන වස්තුව ද කේන්ද්‍ර සටහනෙහි දොළොස්වන භාවය තුළින් පුද්ගල වියදම්, පුද්ගල කායික මානසික නිදහස ආදී කරුණු රැසක් විග්‍රහ කරගනු ලබයි.

ඉතාමත් සරළව කෙටියෙන් පැවසීමේ දී පුද්ගල ජීවිතය හා බද්ධ අර්ථ, ධර්ම, කාම, මෝක්‍ෂ යන සතර කරුණුම පුද්ගල කේන්ද්‍ර සටහන ඇසුරු කරගනිමින් ජ්‍යොතිර්විද්‍යාව විසින් විග්‍රහ කිරීමට භාජනය කරනු ලබයි.

මේ අතර ජ්‍යොතිර්විද්‍යාව හා සම්බන්ධ වී ඇති අනෙකුත් සමාජයීය විෂය ධාරාවන් කවරේද යන්න හඳුනාගැනීම කළ යුතු වෙයි. එම විෂයයන් පහත දැක්වෙන අයුරින් පෙළ ගසා දැක්විය හැකිය.

◆ තාරකා විද්‍යාව Astronomy

මිනිස් ඇසින් ද දූරේක්‍ෂ, රේඩියෝ තරංග හා පරිගණක ඇසුරෙන් ආකාශ වස්තූන්ගේ ක්‍රියාකාරීත්වය පිළිබඳව සොයාබැලීම සිදු කරනු ලබන විදයාවක් වශයෙන් පෙන්වා දිය හැකිය.

◆ ගණිත විද්‍යාව Mathematics

වීජ ගණිතය, ජ්‍යාමිතිය, ත්‍රිකෝණමිතිය ආදී ගණනය කිරීම් සිදු කරනු ලබන විෂය පථයකි.

◆ ප්‍රක්ෂේපණ විද්‍යාව Projection

පවතින දත්ත ඇසුරෙන් ඉදිරිය සඳහා විය හැකි දෑ පිළිබඳව පුරෝකථන නිර්මාණය කරනු ලබන විෂය පථයකි.

◆ පරිගණක විද්‍යාව Computer Science

ඉලෙක්ට්‍රොනික් උපාංග විශේෂයෙන් ට්‍රාන්සිස්ටර් ඇතුළත් කොට සාදන ලද සංගෘහිත පරිපථ (Integrated Circuit - IC) භාවිතා කරමින් සකසන ලද දත්ත සැකසුම් උපකරණයක් ලෙස පරිගණකය ක්‍රියාත්මක වන අතර එහි ක්‍රියාකාරීත්වය හා භාවිතාව පිළිබඳ ක්‍රමවේදයන් ද ඇතුළත් විෂය පථයකි.

◆ උපදේශනය Counseling

මානසික ආතතීන් හා වික්ෂිප්තභාවයන් මෙන්ම මානසික රෝග කාරක තත්වයන් හමුවේ පුද්ගලයාට සිය දෛනික ජීවිතයේ සහ අනෙකුත් කාර්‍යයන්හි දී ඔහුට අවශ්‍ය කරන උපදෙස් ලබාදීමේ ක්‍රමවේදයන් පිළිබඳ විෂය පථයකි.

◆ ආචාර විද්‍යාව Ethic

පුද්ගල අන්තර්ක්‍රියාවන්, සමාජ ක්‍රියාවන්, සංස්කෘතිය හා සමාජ ආයතන සමග අන්‍යෝන්‍ය ප්‍රතික්‍රියා කිරීමේ දී අනුගමනය කළ යුතු ප්‍රමිතීන් පිළිබඳ නිර්ණායක පැණවීමේ ක්‍රමවේදයන් පිළිබඳ විෂය පථයකි.

◆ ආයුර්වේද වෛද්‍යකරණය Ayurvedic Medicine

ශාරීරික හා මානසික සෞඛ්‍යය පැවැත්ම උදෙසා අනුගමනය කළ යුතු වෛද්‍යකරණ ක්‍රමවේදයන් අතුරෙන් පෙරදිග රටවල් (විශේෂයෙන් ඉන්දියාව, තායිලන්තය සහ ලංකාව වැනි රටවල්) විසින් අනුගමනය කරන වෛද්‍යකරණ ක්‍රමවේදයන් ඇතුළත් විෂය පථයකි.

◆ මනෝ විද්‍යාව Psychology

සිග්මන් ෆ්‍රොයිඩ් නම් වූ දර්ශනවේදියා විසින් බිහිකරන ලද පුද්ගල මානසික ව්‍යාධීන් හමුවේ ඊට ප්‍රතිකාර කිරීමේ දී අවශ්‍ය පුද්ගල මනස හා මානසික ක්‍රියාවලිය

◆ අධිමනෝ විද්‍යාව Para-Psychology

අධි-භෞතික පුද්ගල මනෝභාවයන් පිළිබඳ විශ්ලේෂණයන් ඇතුළත් විෂය පථයකි.

◆ අභිචාර Ritual

අධි-ස්වාභාවික යථාර්ථයන් තුළින් මිනිසාට ඇතිවන ගැටළු සහගත තත්වයන් සඳහා අනුගමනය කරන පිළිවෙත් සමුදායයකින් සමන්විත විෂය පථයකි.

◆ ශබ්ධ විද්‍යාව Audio-logy

අධි-ස්වාභාවික යථාර්ථයන් හා මිනිසා අතර පවතින ගැටළු නිරාකරණය සඳහා විශ්ව ක්‍රියාකාරීත්වයෙහි අංගයක් වශයෙන් පවතින ශබ්ධය උපයෝග කර මිනිසාට සහනයක් ලබාදීමේ අරමුණින් යුතුව බිහිකොට ගෙන ඇති විෂය ධාරාවකි.

◆ පූජා විධීන් Worship Patterns

අධි-ස්වාභාවික යථාර්ථයන් හා මිනිසා අතර පවතින ගැටළු නිරාකරණය සඳහා විශ්ව ක්‍රියාකාරීත්වය යළි ස්ථාපනය කිරීමේ අරමුණින් මිනිසා විසින් අනුගමනය කරන ක්‍රියා පද්ධතීන් ඇතුළත් විෂය පථයකි.

◆ මන්ත්‍ර, තන්ත්‍ර, ශ්ලෝක, යාදිනි, සැහැළි, කවි

විවිධ වූ ශබ්ධ රටා ඇසුරු කර ගනිමින් පුද්ගල ජීවිතය හා බද්ධ ප්‍රධාන ක්‍රියා අටක් සිදු කරගැනීම සඳහා නිර්මාණය කර ඇති විෂය ධාරාවකි.

◆ පංච තූර්ය නාද භාවිතය

මිනිස් මනසේ හා ශරීරයේ ඇති වන සුඛ, දුක්ඛ හා මධ්‍යස්ථ වින්දනයන් සඳහා භෞතික පරිසරයේ ඇති උපාංග පහකින්

සකසා ගන්නා ලද ශබ්ධ ක්‍රියා ඇතුළත් විෂය පථයකි.

◆ මූර්තිකරණය Sculpture

මිනිසාගේ වින්දනීය මනෝභාවයන් මත මිනිස් දිවියේ විවිධ වූ පරමාර්ථ සාධනයෙහි ලා භාවිත කිරීමට ගොඩ නගන ලද අනුරූකරණයන් සහිත විෂය පථයකි.

◆ කැටයම් Carvings/ චිත්‍ර හා වර්ණ සංයෝජනය Paintings and Colourings/ සැරසිලි Decoration

මිනිසාගේ වින්දනීය මනෝභාවයන් මත මිනිස් දිවියේ විවිධ වූ පරමාර්ථ සාධනයෙහි ලා භාවිත කිරීමට ප්‍රතිනිර්මාණාත්මක සක්‍යතාවන්ගෙන් ගොඩ නගන ලද අනුරූකරණයන් සහිත තව ද විෂය පථ කිහිපයකි.

◆ නර්තනය Dancing

මිනිසාගේ වින්දනීය මනෝභාවයන් මත මිනිස් දිවියේ විවිධ වූ පරමාර්ථ සාධනයෙහි ලා භාවිත කිරීමට ප්‍රතිනිර්මාණාත්මක සක්‍යතාවන්ගෙන් ගොඩ නගන ලද පුද්ගල ශරීරගත රිද්මය ඇසුරු කර ගනිමින් මිනිසාගේ වින්දනීය මනෝභාවයන් මත මිනිස් දිවියේ විවිධ වූ පරමාර්ථ සාධනයෙහි ලා භාවිත කිරීමට ප්‍රතිනිර්මාණාත්මක සක්‍යතාවන්ගෙන් ගොඩ නගන ලද තව ද එක් විෂය පථයකි.

◆ ආලෝකකරණය Lightings

මිනිසාගේ වින්දනීය මනෝභාවයන් මත මිනිස් දිවියේ විවිධ වූ පරමාර්ථ සාධනයෙහි ලා භාවිත කිරීමට ප්‍රතිනිර්මාණාත්මක සක්‍යතාවන්ගෙන් ගොඩ නගන ලද විවිධ ක්‍රියාවන් සඳහා ආලෝකය ඇසුරු කර ගනිමින් මිනිසාගේ වින්දනීය මනෝභාවයන් මත මිනිස් දිවියේ විවිධ වූ පරමාර්ථ සාධනයෙහි ලා භාවිත කිරීමට ගොඩ නගන ලද තව ද එක් විෂය පථයකි.

ඇතමෙක් මෙම විෂයීය විශ්ලේෂණය සඳහා විරෝධාත්මක ආකල්පයක් දක්විය හැකිය. ඊට හේතුව, මෙහි දක්වෙන ඇතැම් විෂයයන්ගේ මූලික සිද්ධාන්ත, නිර්වචන හා විධික්‍රම භාවිතයන් අනන්‍ය වූ ලක්ෂණ පෙන්වන බැවිනි.

එම විෂයයන් මෙහිලා සම්බන්ධතාවක් ඇතැයි සෘජුව පිළිගත නොහැකි නමුත් යම් ගැඹුරු විශ්ලේශනයක දී ඊට සම්බන්ධතාවක් ඇති බව පෙන්වාදිය හැකිය.

යම් විෂයයක් බිහිවීමේ දී නව සොයාගැනීමක් මත පදනම්ව එය බිහිවෙයි. නො එසේ නම් යම් සංස්කෘතියක් හෝ යම් සන්දර්භයක් තුළ නව විෂයයක් බිහි වීම වෙයි. මේ තත්වය සෑම සමාජයීය විෂයයකට මෙන්ම සෑම විද්‍යාවකටම පොදු ධර්මතාවකි.

නමුත් මෙම පොදු ධර්මතාව මත පිහිටා සන්දර්භය තේරුම් ගැනීමට යාමේ දී ගවේශකයාට එම විෂයයට අදාළ වපසරිය තේරුම් ගැනීම අත්‍යවශ්‍ය කරුණක් ලෙස පෙන්වාදිය හැකිය.



පළමු රූපය

දෙවන රූපය

යම් වස්තුවක් දෙස අප බලන ආකාරය ඉහත රූප සටහන් තුළින් පෙන්වා ඇත. මෙම උදාහාරණාත්මක රූප සටහන තුළ ඉහළ සිට පහළ බැලීමත්, පහළ සිට ඉහළ බැලීමත් පෙන්වා ඇත. මෙම රූපසටහන් දෙකෙහිම ඇස පිහිටි ස්ථානය සහ එම ඇසෙහි දෘෂ්ඨිය යොමුවන දිශාව සහ කෝණය පෙන්වා ඇත. මේ අනුව පළමු රූපයේ දී විෂයය වස්තුවේ සාර්වය දකින අතර දෙවන රූපයේ දී විෂයය වස්තුවේ පැතිකඩක් පමණක් දැකගැනීමට ලක් වන බව අපට පෙනන කරුණකි.

ඉහතින් දැක් වූ පොදු ධර්මතාව පළමු රූපයට ආදේශ කළ නොහැකි අතර දෙවන රූපයට මැනවින් ගැළපෙන්නකි. මේ අනුව පහත දැක්වෙන පරිදි එම න්‍යාය විෂය බද්ධ කළ හැකිය.

- පළමු ස්ථරය - ගෙදර සිට ගෙදරින් පිටත බැලීම
- දෙවන ස්ථරය - පිටතට ගොස් ගෙදර දෙස බැලීම
- තෙවන ස්ථරය - ගමේ සිට නගරය දෙස බැලීම
- සිව්වන ස්ථරය - නගරයට ගොස් ගම දෙස බැලීම
- පස්වන ස්ථරය - රටක සිට විදේශයන් දෙස බැලීම
- සයවන ස්ථරය - විදේශයකට ගොස් රට දෙස බැලීම
- සත්වන ස්ථරය - පෘථිවියේ සිට විශ්වය දෙස බැලීම
- අටවන ස්ථරය - විශ්වයට ගොස් පෘථිවිය දෙස බැලීම
- නවවන ස්ථරය - මම විසින් අනුන් දැකීම (ආරූඪ පාද)
- දසවන ස්ථරය - අනුන් මාව දකින අයුරින් මම අනුන් දැකීම (ආරූඪ පාද)
- එකොළොස්වන ස්ථරය - අනුන් මාව දකින අයුරින් මම විසින් මා දැකීම (ආරූඪ පාද)

මෙහි දක්වන ලද ස්ථර එකොළොසෙහි ක්‍රියාත්මක වන විෂයයන් රැසක් අපට දැකගත හැකිය. පුද්ගලයා හා මනස යන දෙවැදෑරුම් වස්තූන් මූලිකත්වයෙන් සංස්කෘතික ලෝකයක් ගොඩනගා ඇති අයුරුත්, එසේම එම සංස්කෘතික ලෝකය

මත විෂයය ධාරාවන් ගොඩනගා ඇති අයුරුත් අපට මේ අනුව පෙන්වාදිය හැකිය.

මෙසේ ගොඩනගන ලද දර්ශනය ඇතුළු සමාජයීය විෂයය ධාරාවන් මෙන් ම විද්‍යානුකූල පදනමක් ඇති සෑම විෂයය ධාරාවක් ම සහ විද්‍යානුකූල පදනමක් නැතැයි සලකන විෂයයන් සියල්ලම මෙම රාමුව තුළ අන්තර්ගත කොට ඇත.

මෙම රාමුව තුළ ජ්‍යෝතිෂය විෂයය කවර ආකාරයකින් ගොඩනැගී ඇති ද යන්න මෙන් ම එය ක්‍රියාත්මක වන ආකාරය පිළිබඳ ව විමර්ෂණාත්මක අයුරින් විමසා බැලීම මෙම ලිපියේ ප්‍රධාන අරමුණ වශයෙන් පෙන්වාදිය හැකිය.

ඉහත දක්වන ලද ස්ථර සටහනට අනුව එහි සත්වන ස්ථරයෙන් ඉහළට ගිය විෂයයක් ලෙස ප්‍රථමයෙන්ම ජ්‍යෝතිෂය විෂයය පෙන්වාදිය හැකිය. එහි ක්‍රියාකාරීත්වය පෘථිවියේ සිට විශ්වය දෙස බැලීමකින් ආරම්භ වෙයි.

අංගුත්තර නිකායේ චතුක්ක නිපාතයේ ලෝක සූත්‍රයේ පෙන්වා දී ඇති ආකාරයට ඉමස්මිං යේව බ්‍යාමමත්තකේ කලේබරේ ලෝකං ච ලෝක සමුදයං ච ලෝක නිරෝධං ච ලෝක නිරෝධගාමිණී පටිපදං ච පඤ්ඤපේමි" යන ලෝකය, ලෝක සම්භවය, ලෝක නිරෝධය සහ ලෝක නිරොධය සඳහා වන ප්‍රතිපදා මාර්ගය යන සතර කරුණු මෙම බඹයක් පමණ වන ශරීරය තුළ ම අන්තර්ගත වන බව බුදුරදුන් පෙන්වා දී ඇත.

එම මූලික ප්‍රකාශය බැහැර නොකොට පුද්ගලයාගේ පසිඳුරන් තුළින් ග්‍රහණය කරනු ලබන විෂය වස්තූන් හා එකී විෂය වස්තූන් පිළිබඳව පුද්ගලයාගේ මනසෙහි ගොඩ නැගෙන සංස්කෘතික අත්දැකීම් තුළින් පුද්ගලයා ඉහත දක්වන ලද

ස්ථර ගොඩනගා ගන්නා බව අපට පෙන්වාදිය හැකිය.

මෙසේ ගොඩනගා ගන්නා ස්ථර එකිනෙක විශ්ලේෂණය කිරීමෙන් සමාජයක් ගොඩ නැගෙන අයුරුත්, එසේ ගොඩ නැගෙන සමාජය තුළ පුද්ගල හා සමාජ අන්තර්ක්‍රියාවන් ගොඩනැගෙන අයුරුත්, එම අන්තර් ක්‍රියාවන් පාදක කොට ආර්ථිකය දේශපාලනය සහ අනෙකුත් භෞතික විෂය පද්ධතීන් ගොඩ නගා ගන්නා අයුරුත් සහ සම්බන්ධතාත්මක දෘෂ්ඨියකින් බැලීමේ දී අවබෝධ කළ හැකිය.

මේ ආකාරයට මූලිකව විෂයය ධාරාවන් ගොඩනැගෙන අතර එකී ගොඩනැගෙන විෂයය ධාරාවන් සංවර්ධනය කිරීමේ දී විවිධ සන්ධිස්ථාන පසුකර ඉදිරිය බලා ගමන් කරන බව ද අපට දැකගත හැකි ස්වාභාවික සිද්ධියකි.

මෙම විෂය සංවර්ධන ක්‍රියාවලියේ දී දැකගත හැකි ලක්ෂණයක් වන්නේ උත්සාහ කිරීම් සහ වැරදීම්" තුළින් විෂය සංවර්ධනය කිරීමයි. එය මනොවිද්‍යානුකූල විග්‍රයන් තුළ පෙන්වා දී ඇති මානව සංජානනාත්මක ක්‍රියාවලියේ ස්වභාවය මත සිදුවන්නක් බව අපට පෙන්වාදිය හැකිය. නමුත් ඇතැම් විෂයය ධාරාවන් එහි ප්‍රතිවිරුද්ධ දිශාවේ සිට පැණ නැගෙන බව කිසිදු පුද්ගලයකු විශ්වාස නොකරන දෙයක් වශයෙන් කිව හැකිය. නමුත් සත්‍යය දකිනවුන් ඒ විශ්වාස කරති. සත්‍යය දැකීමට ආරාධනා කරමින් මානව සංජානනාත්මක ක්‍රියාවලියේ ප්‍රතිවිරුද්ධ දිශාවේ සිට පැණ නැඟුන ජ්‍යෝතීර්විද්‍යා විෂයය ධාරාව පිළිබඳ විමර්ෂණාත්මක දෘෂ්ඨියක් ඇතිකරගන්නා ලෙස ඉල්ලමින් මෙම ලිපිය තවදුරටත් ඉදිරිපත් කරමි.

අවුරුදු 1805ක් වයසැති භාරත යෝගියා මහාවතාර් බබාජී යනුවෙන් 2009 මාර්තු 16 වැනි දින රිවිරිසි පත්‍රයේ පළ අසෝක

මාලිමගේ ඇමරිකාවේ සිට ලියන ලද ලිපියට අනුව, යමෙකුට භාවනාව උපයෝග කරගෙන පුද්ගලයෙකුගේ මානසික සංවර්ධන ක්‍රියාවලියේ ඉහළ ස්ථරයකට ලඟාවිය හැකි බව ඔබ කියවන්නට ඇතැයි සිතමු. එතුළින් පුද්ගලයාගේ අයුෂය, ස්මරණය පමණක් නොව ජීව ශෛලයන්ගේ භෞතිකත්වය පවා පාලනය කිරීමේ ප්‍රබල හැකියාවක් දක්වා චිත්ත ශක්තිය කුළු ගැන්විය හැකි බව පෙන්වා දෙයි.

මෙම තත්වය බුදුන් වහන්සේ ද මජ්ඣිම නිකායට අයත් මහා පරිනිබ්බාණ සූත්‍රයේ දී තහවුරු කරමින් අනඳ හිමියන්ට පවසා ඇත්තේ සතර ඍද්ධිපාදයන් වන

- චන්ද (සතර අගතියට ඤඡන්දය, ද්වේශය, භය, මෝහය% නොයාම),
- චිත්ත (රාග ද්වේශ මොහාදියෙන් දමනය කරන ලද සිත),
- විරිය (උපන් අකුසල් මැඩීමටත්, නූපන් අකුසල් නොඉපැදවීමටත්, නූපන් කුසල් ඉපැදවීමටත්, උපන් කුසල් වැඩි දියුණු කිරීමටත් ගන්නා උත්සාහය),
- විමංසා (දස අව්‍යාකෘතාදියෙන් තොර කාලාම සූත්‍රයේ දී පවසන ලද ආකාර වූ විමර්ශනයකින් යුතු විදර්ශනයට යොමු කරන ලද සිත)

ආදිය මනාව වඩන ලද්දෙකුට ආයු කල්පයක් හෝ ඊට වැඩි ප්‍රමාණයක් යමෙකු විසින් අවශ්‍ය නම් ජීවත් විය හැකි බවයි. නමුත් මාර දිව්‍යපුත්‍රාවේශව සිටි අනඳ හිමියන්ට ඒ පැවසූවේ කුමක් දැයි වටහා ගැනීමට සිහිකල්පනාව නොවූයෙන් බුදුන් වහන්සේට ආයු කල්පයක් ජීවත් වීමට ආරාධනා නොකරන ලද බැවින් පසුව දිව්‍ය පුත්‍ර මාරයාගේ පිරිණිවන් පෑමට කරන ලද ආරාධනය බුදුන් වහන්සේ විසින් පිළිගන්නා ලදී.

මෙම නිදර්ශනය තුළින් පැහැදිලි වන යථාර්ථය තුළ පෙන්නුම් කෙරෙන්නේ යම් දැකීමක් අනුව මෙහෙවනු ලබන සිතකින් කළ හැකි විස්මිත ක්‍රියාවකි. නමුත් මෙආකාරම වූ විෂය දැනුමකින් යුතු වීම හෙවත් ස්වයංභූඃඥානයෙන් අවබෝධ කරන ලද ලෝක යථාර්ථයට අනුව මනාව සංවර්ධනය කරන ලද සිතකින් නව විෂය දැනුමක් භෞතික ලෝකයට දානය කිරීම සංකීර්ණ යයි අපට හැඟී ගිය ද ඉතාමත් සරල ක්‍රියාවලියක් බව ඒ දෙස මනාව විමර්ශනයේ දී පැහැදිලි වෙයි. ඊට කදිම උදාහරණය සිද්ධාර්ථ ගෞතමයන්ය.

මෙකී සියළු කරුණු අනුව මානව සංජානනාත්මක ක්‍රියාවලියේ ප්‍රතිවිරුද්ධ දිශාවේ සිට පැණ නැඟුන ජ්‍යෝතීර්විද්‍යා විෂයය ධාරාව කවර නම් සථරයක පවතින්නේ ද යන්න විමර්ෂනයට භාජනය කළ යුත්තකි. ජ්‍යෝතීර්විද්‍යා විෂයය ධාරාව කවර නම් සථරයක පවතින්නේ ද යන්න විමර්ෂනයට භාජනය කිරීම සඳහා අනුගමනය කරන සහසම්බන්ධිත විෂය පරාසයනික් යුතු එම විෂය ධාරාව අප සමාජ විද්‍යාත්මක ජ්‍යෝතිෂය නමින් නිර්වචනය කළ හැකිය.

# ඉරණම නැමති මෘදුකාංගය ලියන පරිගණක භාෂාව දෝසතරයි




පරිගණකයක් යනු ඉලෙක්ට්‍රොනිකව ක්‍රියාත්මක කරනු ලබන යන්ත්‍රයක් වශයෙන් හඳුන්වාදිය හැකිය. මෙම යන්ත්‍රය ප්‍රධාන වශයෙන් ක්ෂේත්‍ර තුනක ක්‍රියාත්මක වෙයි. එනම්, දෘඩාංග, මෘදුකාංග සහ සජීවී මැදිහත්කරුවකු වශයෙන් එය හසුරුවන්නා පෙන්වාදිය හැකිය.

දෘඩාංග - පරිගණකයේ අතින් ඇල්ලිය හැකි උපාංග Hardware
මෘදුකාංග - පරිගණකයේ ක්‍රියාකාරීත්වය Software
සජීවී මැදිහත්කරු - එය හැසිරවීම Live-ware

මෙම ප්‍රධාන ක්ෂේත්‍ර තුනෙහි පළමු ක්ෂේත්‍රය වඩාත් පදනම් කාර්යභාරයක් ඉටු කරනු ලබයි. එය ආදාන (Input), සැකසුම් (Processor) හා ප්‍රතිදාන (Output) වශයෙන් කොටස් තුනකින් යුතු වෙයි. මෙහි දී ආදාන ඒකකය දත්ත පරිගණකය වෙත ලාබදීමේ නැතහොත් ප්‍රවේශ කරවීමේ කාර්යයෙහි නියුතු

වෙයි. සැකසුම් ඒකකය එම දත්ත විශේෂිත තර්කණ උපායයන් ඇසුරු කරගනිමින් සජීවී මැදිහත්කරු විසින් ලබාදෙන විධානයන් අනුව ක්‍රියාත්මක වෙයි. ප්‍රතිදාන ඒකකය මගින් එසේ සකසා ගනු ලබන දත්ත පදනම් තොරතුරු වශයෙන් නිෂ්පාදිතයන් ලෙසින් එළිදක්වයි.

පරිගණකයේ මෙම ආදාන ඒකකය විවිධ දත්ත පරිගණකය වෙත ප්‍රවේශ කරයි. ශ්‍රව්‍ය දත්ත නැතිනම් මිනිසාගේ ශ්‍රවණේන්ද්‍රිය මගින් ග්‍රහණය කළ හැකි දත්ත, දෘෂ්‍ය දත්ත නොහොත් මිනිස් ඇසින් ග්‍රහණය කරන වේදයිතය සහ මිනිස් මනසට ගෝචර වන ස්නායු ආවිග හෝර්මෝනමය විද්‍යුත් ධාරා සංඥා වශයෙන් පවතින සෑම දත්තයක් ම ආදාන ඒකකය මගින් පරිගණකයට යොමුකළ හැකිය. ඇතැම් විට මනසේ හෝර්මෝනමය විද්‍යුත් ධාරා සංඥාවන් කේතනය කළ හැකි ද? යන පැණය ඔබට ඇතිවිය හැකිය.

ඇමරිකාවේ ෆෙඩරල් බුද්ධි අංශය මගින් අත්අඩංගුවට ගනු ලබන යම් සැකකරුවෙකු ප්‍රශ්න කිරීම සඳහා භාවිත කරන ප්‍රශ්න කිරීම් කුටිය ඇතුළතින් පිටත නොපෙනෙන වීදුරුවලින් ආවරණය කර ඇති එකකි. එහි පිටතින් සේවයෙහි නියුතු විශාල කණ්ඩායමක් වෙයි. එක් පුද්ගලයෙකු පමණක් ප්‍රශ්න කිරීම් සිදු කරන අතර තවත් පිරිසක් පරිගණයක් ආධාරයෙන් අධෝරක්ත කැමරා උපයෝග කර ගනිමින් ඔහුගේ හෝ ඇයගේ මොලයේ රසායනික ප්‍රතික්‍රියාවන් සැලකිල්ලට ගනිමින් ඒ අනුව ප්‍රක්ෂේපිත දත්ත විශ්ලේශනය කිරීමෙන් ඔහු හෝ ඇය පවසන දෑ සත්‍ය තොරතුරු ද නැතිනම් අසත්‍ය තොරතුරු ද යන්න නිර්ණය කරනු ලබයි.





http://kendaralk.blogspot.com/2010/11/blog-post_20.html හි ඇති කෙටි වීඩියෝ ක්ලිපය නැරඹීමෙන් ඔබට එය සනාථ කර ගත හැකිය.

මෙම කෙටි වීඩියෝ ක්ලිපය ඔබට මනසේ හෝර්මෝනමය විද්‍යුත් ධාරා සංඥාවන් කේතනය කළ හැකි බව තේරුම් ගැනීමට කදිම නිදසුනකි. ඉහත දක්වා ඇති ඡායාරූප එම වීඩියෝ ක්ලිපයෙන් ගන්නා ලද ඒවාය.

ප්‍රධාන වශයෙන් පරිගණකයේ ඉලෙක්ට්‍රොනික උපාංග ක්‍රියාත්මක කරවීමට අවශ්‍ය විද්‍යුත් ධාරා සංඥා වශයෙන් ප්‍රධාන අවස්ථා දෙකකින් යුතුව ක්‍රියාත්මක වෙයි. ඒවා ඇත සහ නැත යන අවස්ථා දෙකෙහි පවතියි. මෙය, විද්‍යුත් ධාරා සංඥාව පැවතීම සහ බිඳවැටීම දක්වාලයි. පරිගණකයේ ක්ෂුද්‍ර ඉලෙක්ට්‍රොනික උපාංගයන්ට තේරුම් ගත හැකි එකම භාෂාව මෙම මූලික අවස්ථා දෙක පමණක් බව සැලකිය යුතුය.

නමුත් මෙම අවස්ථා දෙක උපයෝග කර ගනිමින් විවිධ තර්කණ උපායයන් මතින් ඔබ සජීවීව පරිගණක තිරය මත දකින සෑම අතුරු මුහුණතක් ම නිමැවී ඇති බව උදක් සිහියට ගත යුතුය.

පරිගණක තිරය මත මැවෙන පික්සලයක් නිමැවෙන තිතක් පවා විද්‍යුත් ධාරා සංඥාවන්හි ඇති ප්‍රධාන අවස්ථා දෙක අනුව ක්‍රියාත්මක වන බව පැහැදිළි කළ හැකිය.

පරිගණක භාෂාවක් යනු පරිගණකයට ආදාන දත්ත ප්‍රවේශ කරවීමේ දී යන්ත්‍ර භාෂාව වන 0 සහ 1 නැතිනම් විද්‍යුත් ධාරා සංඥාව බිඳවැටීම සහ පැවතීම යන කේතයන් දෙක බවට පරිවර්තනය කිරීමේ ක්‍රියාවලිය (Encode -කේතනය) මෙන්ම යන්ත්‍ර භාෂාමය යෙදුමක අර්ථය සාමාන්‍ය ව්‍යාවහාරික භාෂානුයුක්තව අරුත් ගැන්වීම (Decode -විකේතනය) සඳහා හැකියාව ඇති මූලෝපායික සංජානන, ඉගෙනුම් හා තර්කන සිද්ධාන්ත පද්ධතියක් වශයෙන් පෙන්වාදිය හැකිය.

පරිගණක මෘදුකාංග වශයෙන් ද මෙම පරිගණක භාෂාවන් ක්‍රියාත්මක වෙයි. විශේෂිත කාර්‍යයන් ඉටුකරගැනීම සඳහා වෙනමම නිර්මාණය කරන ලද යෙදවුම් මෘදුකාග නමින් ව්‍යවහාර කරනු ලබන මෘදුකාංග කොටසක් ද පරිගණක ආශ්‍රිතව ක්‍රියාත්මක වෙයි.

සමස්ථ යන්ත්‍රය පද්ධතියක් වශයෙන් අන්‍යෝන්‍ය සබැඳියාවකින් යුතුව ක්‍රියාත්මක කරවීම සඳහා අවශ්‍ය හැසිරීමේ පිළිවෙල නිර්ණය කරන ලබන පද්ධති මෘදුකාංග නමින් ව්‍යවහාර කරන මෘදුකාංග කොටසක් ද පරිගණක ආශ්‍රිතව ක්‍රියාත්මක වෙයි. පුද්ගල ඉරණම නැමැති පරිගණක මෘදුකාංගය



මෙම ක්‍රියාවලියට නතු වන පරිගණකය සහ එහි ක්‍රියාත්මක මෘදුකාංග නිර්මාණය වී ඇති ආකාරය ඉහතින් මනාව අවබෝධ කරගන්නට ඇතැයි අප සිතමු.

මෘදුකාංගයක් කේතනය කිරීමේ නැතහොත් යම් විධානයක් සැපයිය යුතු ආකාරය කෙසේ විය යුතු ද යන්න පරිගණකයට හඳුන්වා දීමේ ක්‍රියාවලිය කෙසේ සිදුවන්නේ ද කියා විමසා බලමු.

පළමුවෙන්ම යම් සිදුවීමක් අවශ්‍ය වේ. එම සිදුවීමට අදාළ කරුණ කුමක් ද යන්න පැහැදිලි කර ගැනීම ප්‍රථමයෙන්ම සිදු කළ යුතු වෙයි. මිනිසා යන සත්වයා අදාළ කරුණ ලෙසින් ඉදිරිපත් කළ හැකිය. විවිධ දාර්ශනික හා ආගමික මතවාදයන්ට අනුරූපව මිනිසා යනු අති සංකීර්ණ ප්‍රපංචයක් වශයෙන් පෙන්වාදිය හැකිය. මෙම අති සංකීර්ණ ප්‍රපංචය ක්‍රියාත්මක වන ආකාරය සැළකිල්ලට ගැනීමේ දී එය ස්වාභාවික මානසික ක්‍රියාවලීන් සමුදායක් තුළින් මෙහෙයවන භෞතික ශරීරයකින් සමන්විත වන බව දැක ගත හැකිය.

භෞතික වශයෙන් මිනිසා ඉන්ද්‍රිය පද්ධතියක එකතුවක් වශයෙන් ගත හැකිය. එය විශ්ලේෂණය කිරීමේ දී පමණක් වෙන් වෙන් වශයෙන් පවතියි. එසේ නොමැති අවස්ථාවන්හි දී ඔහු හෝ ඇය පුද්ගලයෙක් වශයෙන් හඳුනාගත හැකි භෞතික ශරීරයකින් පෙනී සිටියි.

භෞතික ශරීරයේ ක්‍රියාකාරීත්වය මානසික ක්‍රියාකාරීත්වය මත සිදුවෙයි. මානසික ක්‍රියාකාරීත්වයෙන් භෞතික ශරීරය අත් මිදුන විටෙක දී නැතහොත් භෞතිකයෙන් මානසිකත්වය විසන්ධි වීමක් සිදුවන විටක දී භෞතික ශරීරය ක්‍රියා විරහිත වෙයි.

මේ පිළිබඳව සිදු කරන ලද ගැඹුරු විශ්ලේශනයන් තුළින් පුද්ගලයාගේ භෞතිකය හා මානසිකත්වය යන ඒවා එක්ව පවතින අවස්ථාවන්හි දී එම දෙකෙහිම අන්‍යොන්‍ය සබැඳියාවකින් තොරව පුද්ගල භෞතිකයට මෙන්ම මානසිකත්වයට ද බලපාන ආකාරයේ ශක්තීන් ක්‍රියාත්මක වන බව ඒ පිළිබඳව කරන ලද පර්යේෂණ තුළින් පැහැදිළි කර ගෙන ඇත.

මෙම තත්වය ආගමික පැහැදිලි කිරීමක දී දෙවියන් වහන්සේ නම් වූ පුද්ගලයෙකුගේ බාහිර මැදිහත්වීමක් වශයෙන් අර්ථනිරූපණය කර ඇති බව දැකගත හැකිය. බෞද්ධ විග්‍රහයට අනුව පුද්ගලයෙකු හෝ සත්වයෙකු වශයෙන් ගත හැකි දෙයක් නැති බව කියැවේ. නමුත් සම්මතය තුළ මිනිසා, පුද්ගලයා සහ සත්වයා යන ව්‍යවහාරය ක්‍රියාත්මක බව බව බුද්ධ දේශනාව තුළින් කරුණු පැහැදිළි කර ගත හැකිය.

බෞද්ධ විග්‍රහයට අනුව මිනිසා, පුද්ගලයා සහ සත්වයාට සිදුවන මෙම බාහිර මැදිහත්කරණය වශයෙන් අවස්ථා 5 ක්

උපයෝජනය වන බව පෙන්වා දී ඇත. එය නියාම ධර්ම වශයෙන් ක්‍රියාත්මක වන බව පැහැදිලි කර ඇත.

බීජ - වෘක්ෂලතාදියෙහි පැවැත්ම

ඍතු - කාලගුණික තත්වයන්ගේ බලපෑම

චිත්ත - මිනිස් මනස

කම්ම - මිනිස් මනසේ ක්‍රියාකාරීත්වය

ධම්ම - ඇතිවීම, පැවතීම, නැතිවීම, ලෝක පාලන ධර්මතාවන්, ලෝකයේ සහ එහි පවතින චක්‍රීය ස්වභාවය තුළ නිර්ණායක

මෙම ලෝක ධර්මතාවන් අවස්ථා 8ක ක්‍රියාත්මක වෙයි. ලාභ, අලාභ, යස, අයස, නින්දා, ප්‍රසංසා, සැප, දුක් වශයෙන් ක්‍රියාත්මක වෙයි. මෙහිලා ඍතු හා බීජ අවස්ථා දෙකට අමතරව තවද අවස්ථා තුනක් ක්‍රියාත්මක වෙයි. එනම්, චිත්ත, කම්ම සහ ධම්ම යන අවස්ථා තුනයි.

මෙයින් ද චිත්ත සහ කම්ම යන අවස්ථා දෙක වඩාත් ගැඹුරින් පැහැදිලි කිරීමකට ලක් කර ඇත. මේ තත්වය ඛුද්දක නිකායේ කාණ්ඩ 15න් එකක් වන ධම්ම පදයේ චිත්ත වග්ගය තුළින් දැකගත හැකිය. මීට ඉහත අප විසින් ලියන ලද ''ජ්‍යොතිෂය හා කර්මයේ දෛවය පිළිබඳ මතවාද, චර්යා සහ ආවේග යන්ගේ ගති සංකලනය (දෛව සින්ඩ්‍රොමය) තුළ සිරවීම" (http://kendaralk. blogspot.com/ 2009/06/ blog-post_6742.html) යන ලිපිය නැවත කියවා බලන ලෙස සිහිපත් කරමි.

පුද්ගල ජීවිතය නැමැති සිනමා පටයේ පුද්ගලයාගේ සහ මානසික ක්‍රියාවලියේ ප්‍රතිඵලයක් වශයෙන් කර්මය සහ කර්ම ඵලය යන අවස්ථා දෙකෙහි වංචක ධර්මතාවයෙන් යුතුව

මතුවන කර්ම ඵලය නැමැති ප්‍රධාන චරිතයේ ආධිපත්‍යයට, ග්‍රහණයට පුද්ගලයා ගොදුරුවන ආකාරය මැනවින් පෙන්වා දී ඇත්තෙමු.

මෙම ලිපියේ දී අප පුද්ගල ජීවිතය නැමැති සිනමා පටයේ ප්‍රධාන චරිතය වන දෛවය නැතහොත් ඉරණම යන්න පරිගණක මෘදුකාංගයක් වශයෙන් ක්‍රියාත්මක වන ආකාරය පෙන්වා දීමට අදහස් කර ඇති බව මෙම ලිපියේ මාතෘකාවෙන් පැහැදිළි කර ඇත.

එසේම එම මෘදුකාංගය නිර්මාණය කරන නැතහොත් එය රචනා කරන පරිගණක භාෂාව තේරුම් කර දීමට උත්සාහ ගනිමු.

පුද්ගලයා සත්වයා යන ප්‍රපංචය කෙරෙහි බලපාන දෛවය නැතහොත් ඉරණම යන්න වෙනත් කිසිවක් නොව, පුද්ගලයා විසින් ම කරන ලද චේතනාත්මක ක්‍රියාවන්ගේ ප්‍රතිඵලය වශයෙන් පෙන්න්වා දිය හැකිය.

පුද්ගල ඇගයුම්, චින්තන රටා, සිතුම් පැතුම්, ඇවතුම් පැවතුම්, භවගාමී චර්යා සහ පුද්ගල ජීවිතය හා බද්ධ සෑම කරුණක් ම එහිලා ජ්‍යෝතිෂය මගින් පැහැදිළි කර ගත හැකි සේම අවබෝධ කර ගත හැකිය.

මෙහි දී පරිගණක මෘදුකාංගයක් ලෙසින් පුද්ගලයාට බලපාන ඉරණම ක්‍රියාත්මක වන අවස්ථාවක දී එම මෘදුකාංගයේ ස්වභාවය කවර ආකාරයේ එකක් ද යන්න විමසා බැලිය යුතුය. පුද්ගලයාගෙන් පුද්ගලයාට එය වෙස් වෙයි. එහි පුද්ගල අනන්‍යතාවයක් දැකගත හැකිය. එසේ නම් මෙම ඉරණම යන්න විවෘත මෘදුකාගයක් ලෙසින් පෙන්වා දිය හැකිය.

ඉරණම නමැති මෙම විවෘත මෘදුකාංගය (Open Source Software) පුද්ගලයාගෙන් පුද්ගලයාට වෙනස් වන අතර එසේ ඇති වන වෙනස්වීම කවර සාධක මත සිදුවන්නේ ද යන්න විමසිය යුතු ඊළඟ කරුණයි. පුද්ගල ඇගයුම්, චින්තන රටා, සිතුම් පැතුම්, ඇවතුම් පැවතුම් පුද්ගලයාගෙන් පුද්ගලයාට වෙනස් වෙයි.

එය භවගාමී චර්යාවක් ලෙසින් පුද්ගලයාට ක්‍රියාත්මක වීමේ දී භව අන්තර කාලය නැතහොත් භවාන්තරය නැමැති තිමිරයෙන් අඳුරෙන් වැසී පැවතීම හේතුවෙන්, වර්තමාන පුද්ගලයාට සිය පූර්ව කර්ම පථයේ විපාක ධාරාවේ ගලා ඒම දැක ගත නොහැකිය.

මෙය ඇත්තෙන්ම පරිගණක භාෂාවකින් ලියන ලද පරිගණක මෘදුකාංගයක්ය. යම් මෘදුකාංගයක් පරිගණක භාෂාවක් ඇසුරු කර ලිවීමේ දී අනුගමනය කරන පියවර කිහිපයක් වෙයි. එම පියවර අතර පවතින එක් පියවරක් නම් විධාන සැකසුම සංකේතනය කොට දැක්වීම (Compilation)යි. එවිට එම සංකේතන ක්‍රියාවලිය මගින් විධාන සැකසුම තනිව ක්‍රියාත්මක විය හැකි එකක් (Self-excecutable) බවට පරිවර්ථනය කරයි.

එසේම එම මෘදුකාංගය ගොණුවක් වශයෙන් පවතින අවස්ථාවේ දී පැහැදිළිවම එය ඊඑක්ස්ඊ ගොණුවක් බවට හරවාලයි. එම ගොණුව ඍජු විවෘත කර බැලීමක දී විධාන සැකසුම දත්ත යන්ත්‍ර භාෂවට ඉතා සමීප භාෂාවකින් ලියා ඇති කේතාංක රැසක් පමණක් දැකගත හැකිය. එය තේරුම් ගත නොහැකි ග්‍රහයින්ට ඇති අපගේ සම්බන්ධය මෙන් පෙන්වාදිය හැකිය.

භවගාමී චර්යාවක් ලෙසින් පුද්ගලයාට ක්‍රියාත්මක මෙම

පුද්ගල ඇගයුම්, චින්තන රටා, සිතුම් පැතුම්, ඇවතුම් පැවතුම් ආදියෙහි පූර්ව කර්ම පථයේ විපාක ධාරාව විකේතන ක්‍රියාවකට ලක් කොට පූර්ව කර්ම පථයේ ස්වභාවය දැක ගත හැකිය. ඒ සඳහා නව මෘදුකාංගයක් වශයෙන් පෙන්වා දිය හැකි ජ්‍යොතිෂය ඉදිරිපත් කර ලිය හැකිය.

එසේම මෙම නව මෘදුකාංගය පරිගණක භාෂාවක් වශයෙන් ද හඳුන්වා දිය හැකිය. ඒ කෙසේ ද යත්, මෘදුකාංග ප්‍රධාන කොටස් දෙකකි. සංගෘහිත කට්ටල වශයෙන් සහ භාෂාවන් වශයෙන් ඒවා දැකගත හැකිය.

මේ අකාරයට සංකේතනය වී ඇති විධාන සැකසුම දෙස බැලීමේ දී භවාන්තරය නැමැති තිමිරයෙන් අඳුරෙන් වැසී පවතින පුද්ගල පූර්ව කර්ම පථයේ විපාක ධාරාවේ ගලා ඒම දැක ගැනීමට නම් සංකේතනය වී ඇති විධාන සැකසුම විකේතන ක්‍රියාවලියකට ලක් කළ යුතුය. ඒ සඳහා ශක්‍යතාවය ඇති භාෂාව ජ්‍යොතිෂයයි.

පුද්ගල පූර්ව කර්ම පථයේ විපාක ධාරාවේ ගලා ඒම විකේතන ක්‍රියාවලියක් මගින් පරීක්ෂාවට ලක් කළ යුත්තේ ඇයි ද? යන ප්‍රශ්නය වැදගත් එකකි. පටිච්ච සමුප්පන්න ආර්ය සත්‍යය තුළ දැකගත හැකි ද්වා දස හේතු ප්‍රත්‍යයන් අවිද්‍යාව නැමති මෙම චක්‍රයේ ස්වභාවය නොදැක හිඳිම වටා චක්‍රයක ආකාරයෙන් ක්‍රියාත්මක වෙයි.

"අවිජ්ජා පච්චයා සංඛාරා, සංඛාර පච්චයා විඤ්ඤාණං, ...තන්හා පච්චයා උපාදානං, උපාදන පච්චයා භවෝ, භව පච්චයා ජාති, ජාති පච්චයා ජරා මරණ සෝක පරිදේව දුක්ඛ දෝමනස්සුපායාසා සංභවන්ති... " (මජ්ඣිම නිකාය, උපරි පණ්ණාසකය, ධම්මචක්කපවත්තන සූත්‍රය)

මෙම තත්වය තේරුම් ගත යුත්තේ ඇයි ද? යන ප්‍රශ්නය නැතහොත් විකේතන ක්‍රියාවලියක් මගින් පුද්ගල පූර්ව කර්ම පථයේ විපාක ධාරාවේ ගලා ඒම පරීක්ෂා කළ යුත්තේ ඇයිද යන ප්‍රශ්නයට නිවැරදිම පිළිතුර වශයෙන් මෙම තත්වය පෙන්වාදිය හැකිය.

හුදු ජීවන පලාඵල කථනයකට පමණක් ජ්‍යොතිෂය සීමා කර තැබීම අප අනුමත නොකරමු. මෙයට හේතුව නම්, පුද්ගල කර්ම පථයේ විපාක ධාරාවේ ගලා ඒම පරීක්ෂා කළ යුත්තේ ඉරණම ලියැවී ඇති ආකාරය බලාගැනීම සඳහා නොවේ.

එසේනම් ඉරණම නැමැති පරිගණක මෘදුකාංගයෙන් අප සිදුකිරීමට අපේක්ෂිත ප්‍රධාන ඉලක්ක ගත ප්‍රතිඵලය කුමක් විය යුතු ද?

බටහිර විද්‍යාඥයින් කාල යන්ත්‍රයක් සෑදීමට උත්හාස ගත්තේ එමගින් අතීතයට ගොස් අතීතයේ අපට කරගත නොහැකි වූ දේ සහ අපට වැරදුන තැන් සකසා ගැනීමේ ප්‍රධාන අපේක්ෂාවෙනි. නමුත් අපට කාල යන්ත්‍ර අවැසි නැත. අප සතුව මෙම පුද්ගල ඉරණම නැමැති පරිගණක මෘදුකාංගය ලියන ලද පරිගණක භාෂාව තිබේ.

එමගින් ජ්‍යෝතිෂය නැමැති පරිගණක භාෂාව ඇසුරු කොට පුද්ගල කර්ම පථයේ විපාක ධාරාවේ ගලා ඒම පරීක්ෂාවට ලක්කර මෙම විවෘත මෘදුකාංගයේ පවතින දොෂහරණය කළ හැකිය.

ඉරණම නැමැති පරිගණක මෘදුකාංගයේ
දෝෂහරණ ක්‍රමවේදය

පරිගණක ආශ්‍රිතව ක්‍රියාත්මක කරනු ලබන මෘදුකාංගයන්ගේ පවතින දෝෂහරණ ක්‍රියාවලියක් ඇත. සාමාන්‍යයෙන් මෘදුකාංගයක පැවතිය හැකි දෝෂ වර්ගයන් කවරේදැයි ප්‍රථමයෙන් හඳුනාගත යුතුය.

විධාන කේතන දොෂ - Syntax Errors
වැරදි දත්ත ඇතුල් කිරීම - Invalid Data Input
ක්‍රියාත්මක වීමේ දී ඇතිවන දෝෂ - Executable Errors

මෘදුකාංග ආශ්‍රිතව පවතින දෝශ නිශ්චයේ දී සාමාන්‍යයෙන් සිදු කරන ක්‍රියාවලිය නම් එහි අවසන් ප්‍රතිඵලය මත නැතිනම් ධමඑවමඑ එකෙහි දිස්වන රෝග සංකූලතාවයන් අනුව එය නිශ්චය කරනු ලැබීමයි.

එහි දී ඇතිවන රෝග ලක්‍ෂණ මූලිකව තුන් ආකාරයක් ගනී. එම තුන් ආකාර රෝග ලක්‍ෂණ අනුව නිශ්චය කළ හැකි දෝෂයන් ද තුන් ආකාරයක් ගනියි.

ඉහත පෙන්වා දුන් විධාන කේතන දොෂ - Syntax Error යනු මෘදුකාගංය නිර්මාණය කිරීමේ දී ඇති වන අනවබෝධය මත සහ පද්ධති විධාන - System Commands පිළිබඳ අවබෝධයකින් තොරව මෘදුකාගය නිර්මාණය කිරීමෙන් ඇතිවන දෝෂ වශයෙන් පෙන්වාදිය හැකිය.

පුද්ගලයෙකු සිය දෛවය නැතිනම් ඉරණම පිළිබඳව සැලකීමේ දී වත්මන් දිවියෙහි අනාගතය සඳහා බලපාන ඔහු හෝ ඇය විසින් පෙර භවයන්හි සිදු කරන ලද ක්‍රියාවන් හි ප්‍රතිඵලය, ක්‍රියාවන්ට අනුරූපව විකාශය වෙයි. ඒ අනුව අනුන්ට මෙන්ම තමන්ට ද යහපත් ප්‍රතිඵල ඇති කරන කර්ම සහ අනුන්ට

මෙන්ම තමන්ට ද අයහපත් ප්‍රතිඵල ඇති කරන කර්ම යනුවෙන් ක්‍රියාවන් දෙආකාරයකට වර්ග කළ හැකිය.

මෙම දෙආකාරයේ ක්‍රියාවන් අනුව ඒවායේ ප්‍රතිඵලය ද දෙආකාර වෙයි. මෙම දෙආකාර ප්‍රතිඵල ඇති කිරීම සඳහා පුද්ගලයා විසින් චේතනාත්මකව සිදු කරන ක්‍රියාවන් අනුව පුද්ගල ජීවිතය නැමති පද්ධතියේ සංකූලතාවන් හටගනී. මෙම සංකූලතාවන් හා සඨනාත්මක සංසිද්ධීන් පුද්ගල චේතනාව අනුව ක්‍රියාත්මක වෙයි.

නමුත් මෙම චේතනාත්මක ක්‍රියාවන් දෙස බැලීමේ දී ඒවායේ විධානමය චේතනාත්මක භාවය අත්තබ්‍යාබාධාය (තමුන්ට අහිත පිණිස පවතින) හා පරබ්‍යාබාධාය (අනුන්ට අහිත පිණිස පවතින) යන තත්වයන් මත සිදුකරන ක්‍රියාවලීන් මතින් ඇතිවන ඒවා ලෙස හඳුනාගත හැකිය.

කළ යුත්ත හා නොකළ යුත්ත යන දෑ මතින් ඇතිවන සංකූලතාවන් වැරදි දත්ත ඇතුල් කිරීමේ - Invalid Data Input දෝෂ වශයෙන් හඳුනා ගත හැකිය. මෙම තත්වයන් මත ඇතිවන සංකූලතාවන් බොහො විට අපට වැලැක්වීමට ඇති ඉඩ අහුරාලයි. මේවා බෞද්ධ විග්‍රයට අනුව පෙන්වා දී ඇත්තේ ආනන්තරිය කර්ම වශයෙනි. මෙම ආනන්තරිය කර්ම යහපත් හා අයහපත් යන දෙආකාරයෙන්ම පවතින අතර ඒ ඒ ක්‍රියාවන්ගේ පවතින තත්වයන් අනුව ඒවාට අදාළ සංකූලතාවන් පුද්ගල ජීවිතයෙහි පෙන්නුම් කරයි.

ක්‍රියාත්මක වීමේ දී ඇතිවන දෝෂ - Executable Errors බොහෝ විට ඇතිවන්නේ පාරිසරික සාධක මතය. මෙය පාරිසරික පදනම් දෝශ - Platform Errors වශයෙන් ද අපට හඳුනාගත හැකිය. මෙම පාරිසරික පදනම් දෝශ - Platform

Errors බොහෝ විට පුද්ගලයා ජීවත්වන පාරිසරික වටාපිටාව මත තීරණය වන ඒවාය.

පොදුවේ ගත් කල මෙකී දෝෂයන් හරණය කිරීමේ ක්‍රියාවලිය තුළ ප්‍රමුඛතාව ගන්නේ මේ සඳහා නැතිනම් මෙම දෝෂයන් තහවුරු කර ගැනීමට භාවිත කරන ක්‍රමවේදය කුමක් ද යන්න මතය.

මෙහිදී පුද්ගල දෛවය නැමති මෘදුකාංගය සංකේතනය වී ඇති එකක් වන බැවින් විකේතන ක්‍රියාවක් සඳහා භාවිත කළ යුතු සංකේතන ක්‍රියාවලියට අදාළ නැතිනම් එය නිර්මාණය කරන ලද විධානයන්ගේ විචල්‍යයන් - Variables නිර්ණය කළ යුතු වෙයි.

මෙම විචල්‍යයන් Variables නිර්ණය කිරීමේ දී එය විචල්‍යයක් බව දැක්වීම, විචල්‍යයට අදාළ යෙදුම කුමක් ද යන්න පැහැදිළි කිරීම සහ විචල්‍යය නිර්ණය කර නැතිනම් නිර්වචනය කර දැක්වීම යන ප්‍රධාන පියවර තුන අනුව සිදු කළ යුතු වෙයි.

ඇත්තෙන්ම පුද්ගල දෛවය යන මෘදුකාංගය විකේතන - Encryption ක්‍රියාවලියකට යොමු කිරීමේ දී එහි පවතින සංකේතන - Composed ස්වභාවය තේරුම් ගත යුතු කරුණකි. මෙම සංකේතන ක්‍රියාවලියේ දී සංකේතනයේ ස්වභාවය කවර සාධක අනුව සිදු වී ඇත්තේ ද යන්න ප්‍රථමයෙන් විමර්ශනය කළ යුතු වෙයි.

භවාන්තරය නමැති සංකේතනය පුද්ගල දෛවය යන මෘදුකාංගයේ පවතින ස්වභාවයකි. එබැවින් එහි පවතින්නේ අඳුරකි. ස්වභාවයෙන්ම පරිගණක භාෂාවක් ස්වභාවය මෙසේය. පරිගණකයට ආදාන දත්ත ප්‍රවේශ කරවීමේ දී යන්ත්‍ර

භාෂාව වන 0 සහ 1 නැතිනම් විද්‍යුත් ධාරා සංඥාව බිඳවැටීම සහ පැවතීම යන කේතයන් දෙක බවට පරිවර්තනය කිරීමේ ක්‍රියාවලිය (Encode -කේතනය) මෙන්ම යන්ත්‍ර භාෂාමය යෙදුමක අර්ථය සාමාන්‍ය ව්‍යාවහාරික භාෂානුයුක්තව අරුත් ගැන්වීම (Decode -විකේතනය) සඳහා හැකියාව ඇති මූලෝපායික සංජානන, ඉගෙනුම් හා තර්කන සිද්ධාන්ත පද්ධතියක් වශයෙන් එය පෙන්වාදිය හැකි බව අප කළින් දැක්වීමු.

විද්‍යුත් ධාරා සංඥාව බිඳවැටීමට ප්‍රතිවිරුද්ධ දිශාවේ ක්‍රියාත්මක වන්නේ විද්‍යුත් ධාරා සංඥාව පැවතීමයි. භවාන්තරය නමැති සංකේතනයේ පවතින අඳුරට ප්‍රතිවිරුද්ධ දිශාවේ පවතින්නේ ආලෝකයයි. අඳුරේ ස්වභාවය විශ්ලේෂනය කළ හැක්කේ ආලෝකය මත පදනම්වය. ඒ අඳුර පවතින්නේ ආලෝකය මත පදනම්ව නැතිනම් ඊට සාපේක්ෂව බැවිනි.

එසේ නම් මෙම භවාන්තරය නමැති සංකේතනයෙන් යුතු පුද්ගල දෛවය යන මෘදුකාංගයේ විකේතන ශක්‍යතාව ආලෝකය පදනම් කර ගත් එකක් විය යුතුය. ඇත්තෙන්ම ජ්‍යොතිර්විද්‍යාව නැතිනම් ජ්‍යොතිෂය යන්න ආලෝකය පදනම් කරගත් විෂය ධාරාවකි.

ආලෝක ප්‍රභවයන් සහ ප්‍රතිබිම්භ වස්තූන්ගෙන් සමන්විත ජ්‍යොතිෂය ප්‍රධානත්වය දී ඇත්තේ ස්වාභාවික ආලෝක ප්‍රභවයක් වන සූර්යයාටය. එසේම ප්‍රතිබිම්භ වස්තුවක් සේ සැලකන චන්ද්‍රයා දෙවැනි තැන තබා ඇත. පුද්ගලයාට බලපාන දෛවය නැතිනම් ඉරණම විමසා බැලෙන ක්‍රියාවලියේ කේන්ද්‍රස්ථානය පුද්ගලයා වන බැවින් ඔහු වටා නැතිනම් ඔහු ඉපදුන දිනය, වේලාව හා ස්ථානය යන සාධක තුන කේන්ද්‍රකර විශ්ව ආලෝක වස්තූන්ගේ පිහිටීම සිතියම්

ගත කරනු ලබයි. එය ඔබ කවුරුත් දන්නා හඳුනන පුද්ගල කේන්ද්‍ර සටහනයි.

මෙම පුද්ගල කේන්ද්‍ර සටහන මගින් එම පුද්ගලයා උපදින දිනය, වේලාව හා ස්ථානය වර්තමානය සේ සලකා ඔහු හෝ ඇය විසින් සිදුකරන ලද චේතනාත්මක ක්‍රියාවලියේ භවගාමී චර්යාවන් ලෙසින් පුද්ගලයාට ක්‍රියාත්මක පුද්ගල ඇගයුම්, චින්තන රටා, සිතුම් පැතුම්, ඇවතුම් පැවතුම් ආදියෙහි පූර්ව කර්ම පථයේ ප්‍රවාහක විපාක ධාරාව පිළිබඳ විචල්‍යයන් ගොඩනගනු ලබයි. මෙම විචල්‍යයන්ගේ නිර්ණායක තීරණය කර ඇති ස්වභාවයන් ජරසඑැරසදබ සම්මත කර ඇත්තේ යථෝක්ත විකේතන ක්‍රියාවලිය සඳහා අවශ්‍ය කරන පදනම මත පිහිටාගෙනය.

මෙම විචල්‍යයන්ගේ නිර්ණායක තීරණය කර ඇති සම්මත විෂය ධාරාවන්හි අන්තර්ගත විෂයීක ඥානය හා සම්බන්ධ වී ඇති අනෙකුත් සමාජයීය විෂයයන් කවරේද යන්න හඳුනාග ැනීම කළ යුතු වෙයි. එම විෂයයන් ඉහත පළමු ලිපියෙන් පැහැදිලි කරනු ලැබුවෙමු.

පුද්ගල දෛවය නැතිනම් ඉරණම නමැති මෘදුකාංගයේ විචල්‍යයන්ගේ නිර්ණායක තීරණය කර ඇති සම්මත විෂය ධාරාවන්හි අන්තර්ගත විෂයීක ඥානය හා සම්බන්ධ වී ඇති අනෙකුත් සමාජයීය විෂයයන් චක්‍රාකාර හෝ ඉලිප්සාකාර ගමන්පථයක යෙදෙන විශ්ව වස්තූන්ගේ ස්වභාවයන්, ස්වරූපයන්, චලිතයන් හා චර්යාවන් අනුව සහසම්බන්ධිතව ගොණුකරනු ලබන තර්කණ උපන්‍යාස ගතකර එකී උපන්‍යාස ඔප්පු කර දැක්වීම සඳහා ගොඩනගන ලද විශ්ලේෂණ ක්‍රමවේද ඇසුරු කර ගනිමින් පුද්ගල දෛවය නැතිනම් ඉරණම නමැති මෘදුකාංගයේ ප්‍රතිධානය කවර ආකාරයක් ගන්නේ ද යන්න

තීරණය කළ හැකිය.

එසේම පුද්ගල දෛවය නැතිනම් ඉරණම නමැති මෘදුකාංග යේ ප්‍රතිධානයේ ස්වභාවය හඳුනාගැනීම තුළින් එහි පවතින දෝෂ ඉවත් කර ගැනීම සඳහා අනුගමනය කළ හැකි උපයෝජ්‍යතාත්මක චර්යාවන් කවරේද යන්න නිශ්චය කර ගත හැකිය.

දෝෂ ඉවත් කර ගැනීම සඳහා අනුගමනය කළ හැකි උපයෝජ්‍යතාත්මක චර්යාවන් බොහෝ විට පුද්ගල ජීවිතය හා බද්ධව සිදු කළ යුතු ඒවා වෙයි. එනම් පුද්ගලයාගේ සිතිවිලි පාදක කර සිදු කරන චේතනාත්මක ක්‍රියාවන් මනස, අර්ථාන්විත ශබ්ධ ක්‍රියාව නැතිනම් වචනය සහ බාහිර ශාරීරික ක්‍රියාවන්ගේ එකම්තිකභාවයෙන් යුතු චර්යා රටාවන්, සිතුම් පැතුම්, ආවේග යන් හා සංජානන පුද්ගල ඇගයුම්හි ධනාත්මක, ප්‍රමාණාත්මක හා ගුණාත්මක වෙනස් කම් සිදු කිරීම තුළින් පුද්ගල දෛවය නැතිනම් ඉරණම නමැති මෘදුකාංගයේ ප්‍රතිධානයන්හි පවතින දෝෂ ඉවත් කරගත හැකිය.

ඇතැම් විටෙක මෙම ලිපියෙන් පැහැදිලි කර ඇති සංකල්ප හා ඇතැම් වචනවල පවතින අර්ථයෙහි ඇති ගැඹුරු බව යමෙකුට ලිපියෙන් පැවසෙන්නේ කුමක් ද යන්න තේරුම් ගැනීමට බාධාවක් විය හැකි බව ලිපිය සකසා අවසානයේ එය නැවත කියවා බැලීමෙන් පසුව අපට අවබෝධ විය. නමුත් මාතෘකාවට අදාළව පැවසිය යුතු කරුණුවල යථාර්ථය පැහැදිලි කිරීමට භාවිත සංකල්ප හා තාක්ෂණික වචනවලින් තොරව පැවසීමෙන් එහි අර්ථය නියමාකාරයෙන් නොකියවෙන බැවින් එය තවත් සරළ කිරීමට අදහස් නොකළෙමු. නමුත් යමෙකුට තේරුම් ගැනීමට හැකි උපරිම සරල වහරක් භාවිත කිරීමට උපරිම උත්සාහයක් ගන්නා ලද බව ද පැවසිය යුතුය.

ලිපිය කියවන ඔබට යම් ගැටළු සහගත සංකල්ප හා වචන හමුවුවහොත් ඊට අදාළව ප්‍රතිචාරයක් අප වෙත යොමු කිරීමෙන් ඒවා පැහැදිළි කර දිය හැකි බව ද ප්‍රකාශ කර සිටිමි.



# ග්‍රහ අපල හා බලි ශාන්තිකර්ම



විශ්වවිද්‍යාල මට්ටමින් උගන්වන ඇතැම් විෂය ධාරාවන් දෙස බැලීමේ දී පෙනී යන කරුණු කිහිපයක් ඇත. ඉන් පළමු කරුණ නම්, පදනම් විෂය බැහැරක තබා අනු විෂයයක් ප්‍රධාන ධාරාවක් වශයෙන් ගෙන කරනු ලබන ඉගැන්වීමයි. නමුත් ඊට ද සාධාරණ හේතු දැක්විය හැකිය. ඒ නම්, අනු විෂය ධාරාව තවත් ප්‍රධාන විය ධාරාවක අනු විෂයයක් වශයෙන් පැවතීමයි. සෞන්දර්යය කලා විශ්ව විද්‍යාලයේ ක්‍රියාත්මක බලි ශාන්තිකර්මය නැමති විෂය උදාහරණයක් වශයෙන් ගත හොත් එය උඩරට, පහතරට හා සබරගමු යන නර්තන විෂය ධාරාවේ ශාන්තිකර්ම කොටසට අයත් විෂයයක් වශයෙන් ක්‍රියාත්මක වීම නිසා එය වෙනමම විෂය ධාරාවක් වශයෙන් එහි ක්‍රියාත්මක වෙයි.

නමුත් මෙහි පවතින මූල සත්තාව දෙස බැලීමේ දී පෙනී යන කරුණක් ඇත. ස්වභාව විද්‍යාව නැතහොත් ස්වභාව ධර්මයෙහි පවතින පුද්ගල කර්ම ශක්තිය මත ඊට අනුරූප

වන විපාකයන් පුද්ගලයාට බලපාන කාල වකවානු විශ්වයේ පවතින ග්‍රහ වස්තූන්ගේ නාමයන් අනුව හඳුනාගැනීමට ජ්‍යොතිෂ විෂයයෙන් පිටිවහලක් ලැබෙයි. ඒවා නව ග්‍රහයින් යනුවෙන් පෙන්වා ඇති අතර එම නව ග්‍රහයින් මෙසේය.

1. රවි
2. චන්ද්‍ර
3. කුජ
4. බුධ
5. ගුරු
6. ශුක්‍ර
7. ශනි
8. රාහු
9. කේතු යනුවෙන් දක්වා ඇත.

නමුත් පුද්ගල කර්ම ශක්තිය මත ඊට අනුරූප වන විපාකයන් පුද්ගලයාට බලපාන කාල වකවානු මැණ ගැනීමේ දී පුද්ගලයාට මෙම නව ග්‍රහයින් බලපානු ලබන ආකාරය විවිධය. එහි දී විංශෝත්තරී මහ දශා අනුරූප වන ආකාරයට කරන ලබන වර්ගීකරයක් දැකගත හැකිය. මෙම විංශෝත්තරී මහ දශා වර්ගීකරණයේ දී නව ග්‍රහයින්ගේ අනුපිළිවෙල මදක් වෙනස් අයුරින් දක්වා ඇත.

1. රවි වර්ෂ 06
2. චන්ද්‍ර වර්ෂ 10
3. කුජ වර්ෂ 07

| | | | |
|---|---|---|---|
| 4. | රාහු | වර්ෂ | 18 |
| 5. | ගුරු | වර්ෂ | 16 |
| 6. | ශනි | වර්ෂ | 19 |
| 7. | බුධ | වර්ෂ | 17 |
| 8. | කේතු | වර්ෂ | 07 |
| 9. | ශුක්‍ර | වර්ෂ | 20 |
| | එකතුව | වර්ෂ | 120 |

පුද්ගලයාගේ පරම ආයුෂ වර්ෂ 120ක් වන අයුරින් සකස් කොට ඇති මෙම වර්ගීකරණයෙහි දී ඒ ඒ ග්‍රහයින්ගේ දශා කාලයන්හි මුල මැද අග යන කාලවල දී ඒ ඒ ග්‍රහයින්ගේ උප්පත්ති කේන්ද්‍රයේ තැන්පත් වූ රාවයාදී නව ග්‍රහයින්ගේ බල දුබලතා අනුව මෙම ත්‍රිකාලයන්හි අපල ඇති වෙත්. මෙසේ ඇතිවන අපල දුරු කර ගැනීම සඳහා පැරණි සෘෂි ක්‍රමවේදයන්ට අනුව සකස් කරන ලද බලි ශාන්තිකර්ම රැසක් ගෙනහැර දක්වා ඇත.

පුද්ගල කර්ම ශක්තිය මත ඊට අනුරූප වන විපාකයන් පුද්ගලයාට බලපාන කාල වකවානු මැණ ගැනීමේ දී පුද්ගලයාට මෙම නව ග්‍රහයින් බලපානු ලබන ආකාරය අනුව මෙම බලි ශාන්තිකර්ම මොනවාදැයි තොරාගැනීම මනා ප්‍රාගුණ්‍යයෙන් යුතු බලි ඇදුරා සමත් වෙයි.

පුරාතනයෙහි බලි ඇදුරන් ජ්‍යොතිෂය, වෙදකම, මන්ත්‍ර ශාන්ත්‍රය, කාව්‍යකරණය, ශාන්තිකර්ම හා ශාන්තිකර්මයන් සිදු කිරීමේ දී අනුගමනය කරන නර්තනය ආදී හසල ශිල්ප රැසක් දැන සිටි වියත් පිරිසක් වශයෙන් කටයුතු කරන ලදී. අද අවාසනාවකට මෙන් අධ්‍යාපන අමාත්‍යාංශය විසින් කරගෙන යනු ලබන විෂය විශේෂීකරණ පිළිවෙත් හේතුවෙන්

මෙම විෂයයන් එකිනෙකට වෙනස් හා එකිනෙකට කිසිදු සබඳතාවන්ගෙන් තොර හුදකලා විෂය ධාරාවන් බවට පත් වී ඇත. නමුත් උසස් අධ්‍යාපන ආයතනයක් වශයෙන් ශාස්ත්‍රීය විෂය පර්යේෂණාගාරයක් වන විශ්වවිද්‍යාලය තුළ මෙම තත්වය සකසාගැනීමට වෙර දරන බවක් පෙනීම ශාස්ත්‍ර උන්නතිකාමී ශාස්ත්‍රඥයින්ගේ පැසසුමට ලක්වන කරුණක් හැටියට පෙන්වාදිය හැකිය.

ඉහත පෙන්වාදුන් ආකාරයෙන් පුද්ගල කර්ම ශක්තියේ අනුරූප විපාක හා ඒවා බලපාන කාලවකවානු අනුව සැකසී ඇති ග්‍රහ බල දුබලතා මත ඇතිවන අපල දුරු කර ගැනීම සඳහා පැරණි ඍෂි ක්‍රමවේදයන්ට අනුව සකස් කරන ලද බලි ශාන්තිකර්ම මෙසේ පෙන්වාදිය හැකිය. නමුත් "ශාන්ති ප්‍රදීප" නම් වූ කෘතියෙහි මීට මදක් වෙනස් ආකාරයට බලි නියමය දක්වා තිබේ.

1. රවි වර්ෂ 06

අපල ඇති කරන අමනුෂ්‍යයින් ත්‍රිභුවන යක්ෂයා, ඕං කාලි යක්ෂණී

- මුල් කොටසේ ඇතිවන අපල සඳහා සිරිකොත් බලිය
- මැද කොටසේ ඇතිවන අපල සඳහා වර්ෂාධිපති බලිය
- අග කොටසේ ඇතිවන අපල සඳහා අභය කළ්‍යාණ බලිය

2. චන්ද්‍ර වර්ෂ 10

අපල ඇති කරන අමනුෂ්‍යයින් වජ්‍ර යක්ෂයා, භෛරව

කාලි යක්ෂයා

- මුල් කොටසේ ඇතිවන අපල සඳහා කාලමෘත්‍යු බලිය
- මැද කොටසේ ඇතිවන අපල සඳහා ශාන්ති මංගල බලිය
- අග කොටසේ ඇතිවන අපල සඳහා ශුභ මංගල බලිය

3. කුජ වර්ෂ 07

අපල ඇති කරන අමනුෂ්‍යයින් භූත යක්ෂයා, සෝනදන්ත යක්ෂණී

- මුල් කොටසේ ඇතිවන අපල සඳහා භූම නාග බලිය
- මැද කොටසේ ඇතිවන අපල සඳහා මහසොප් මංගල බලිය
- අග කොටසේ ඇතිවන අපල සඳහා මේෂ රකුසු බලිය

4. රාහු වර්ෂ 18

අපල ඇති කරන අමනුෂ්‍යයින් අසුර යක්ෂයා, අසුර කාලි යක්ෂණී

- මුල් කොටසේ ඇතිවන අපල සඳහා අසුරගිරි රාක්ෂ බලිය
- මැද කොටසේ ඇතිවන අපල සඳහා නාග රාක්ෂ බලිය
- අග කොටසේ ඇතිවන අපල සඳහා සුට රකුසු

බලිය

5. ගුරු වර්ෂ 16

අපල ඇති කරන අමනුෂ්‍යයින් අභිමාන යක්‍ෂයා, නීලකණ්ඨී යක්‍ෂණී

- මුල් කොටසේ ඇතිවන අපල සඳහා වර්ෂාධිපති බලිය
- මැද කොටසේ ඇතිවන අපල සඳහා අභය කළ්‍යාණ බලිය
- අග කොටසේ ඇතිවන අපල සඳහා විෂ්ණු රූප බලිය

6. ශනි වර්ෂ 19

අපල ඇති කරන අමනුෂ්‍යයින් අවර යක්‍ෂයා, අවරග ිරි යක්‍ෂණී

- මුල් කොටසේ ඇතිවන අපල සඳහා දශ ක්‍රෝධ බලිය බලිය
- මැද කොටසේ ඇතිවන අපල සඳහා නිළඟ රාක්‍ෂ බලිය
- අග කොටසේ ඇතිවන අපල සඳහා ගෞඩි රාක්‍ෂ බලිය

7. බුධ වර්ෂ 17

අපල ඇති කරන අමනුෂ්‍යයින් බඹ යක්‍ෂයා, ගිණිකණ්ඨී යක්‍ෂණී

- මුල් කොටසේ ඇතිවන අපල සඳහා වර්ෂාධිපති බලිය

- මැද කොටසේ ඇතිවන අපල සඳහා පඤ්චයන්ත්‍ර බලිය
- අග කොටසේ ඇතිවන අපල සඳහා දේව කළ්‍යාණ බලිය

8. කේතු වර්ෂ 07

අපල ඇති කරන අමනුෂ්‍යයින් භද්‍රා යක්ෂයා, භද්‍රකාලි යක්ෂණී

- මුල් කොටසේ ඇතිවන අපල සඳහා බ්‍රහ්මරූප බලිය
- මැද කොටසේ ඇතිවන අපල සඳහා පක්‍ෂුවන් රාක්‍ෂ බලිය
- අග කොටසේ ඇතිවන අපල සඳහා නිළඟ රාක්‍ෂ බලිය

9. ශුක්‍ර වර්ෂ 20

අපල ඇති කරන අමනුෂ්‍යයින් මල්ලෝදර යක්ෂයා, මහේශ්වර යක්ෂණී

- මුල් කොටසේ ඇතිවන අපල සඳහා දේව මංගල බලිය
- මැද කොටසේ ඇතිවන අපල සඳහා ශුභ මංගල බලිය
- අග කොටසේ ඇතිවන අපල සඳහා අත්ත කළ්‍යාණ බලිය

මෙම බලි ශාන්තිකර්ම පැවැත්වීමේ දී අනුගමනය කළ යුතු තවත් දෑ රැසක් වෙයි. එනම්, ඒ ඒ බලි ශාන්තිකර්මවල දී පිහිට

පැතිය යුතු දෙවිවරු කවරහු ද යන්න, ග්‍රහ දාන, ස්නානයට ඖෂධ, පූජා කළ යුතු මල්, පැළඳිය යුතු පාෂාණ, පැළඳිය යුතු ලෝහ, පැළඳිය යුතු යන්ත්‍ර හා පූජාකටයුතු වෘක්ෂයන් ආදියයි.



# උසාවියේ උසාවියේ අසන නඩු සේ ලියැවෙන, කියැවෙන සෙත්කවි ...



උසාවියකට වැස්සකට වත් ගොඩ වෙන්න එපා යයි අපේ පැරණි කියමනක් ඇති බව ඔබ අසා ඇතිවාට සැකයක් නැත. එසේම ඉඩම් නඩුවත් දික්කසාද නඩුවත් නිමක් දැකිය නොහැකි නඩු ගණයෙහිලා සලකන නඩු වශයෙන් නීති ක්ෂේත්‍රයෙහි සිටින අය පමණක් නොව සාමාන්‍ය ජනයා පවා වඩාත් හොඳින් දන්නා කරුණක් වශයෙන් පෙන්වාදිය හැකිය.

මෙම ලිපිය උසාවි නඩු පටිපාටිය පිළිබඳ කරුණු ගෙනහැර පාන ලිපියක් ද? යන පැණය මෙම ලිපිය කියවන ඔබට ඇතිවිය හැකිය. එය සාධාරණය. නමුත් එය එසේ නොවේ. ඊට හේතුව, මිනිසාට ඇතිවන ග්‍රහ අපල දුරු කර ගැනීම සඳහා කියවන සෙත්කවිය පිළිබඳ සමාජ නීති විද්‍යාත්මක විග්‍රහයක් ඉදිරිපත් කිරීම මෙම ලිපියෙහි පරමාර්ථය වන බැවිනි.

සාමාන්‍යයෙන් උසාවි නඩු පටිපාටියේ දී අනුගමනය කරන යම් ක්‍රමවේදයක් වෙයි. එනම්, යම් සිද්ධියක් විය යුතුය. එසේ වන සිදුවීම අරබයා අසාධාරණයට ලක් වන්නෙකු එක් පාර්ශවයක වෙයි. එසේම සිද්ධියට අදාළ අනෙක් පාර්ශවයන්

කවුරුන්දැයි හඳුනාගැනීම ප්‍රථමයෙන්ම කළ යුතු වෙයි. එම පාර්ශවයන් මෙසේ පෙන්වාදිය හැකිය

- අසාධාරණයට ලක්වන්නා කෙරෙහි ඇති වූ අසාධාරණය සිදු කරන ලදැයි චූදිත විත්තියේ පාර්ශවය
- නීතිය හා සාමය රැකීමේ පාර්ශවය
- නීතිය හා සාමය රැකීමේ පාර්ශවයට අනුගතව සිටින තොරතුරු රැස්කිරීමේ හා ඔත්තු විමසීමේ පාර්ශවය
- සිද්ධියට අදාළ කරුණු ගොණු කිරීම සිදු කරන නීතිවේදී පාර්ශවය
- ගොණුකරන ලද කරුණු ඉදිරිපත් කළ යුතු උසාවි පාර්ශවය
- උසාවි පාර්ශවයේ දී ගොණුකරන ලද කරුණු විනිශ්චය සඳහා ඉදිරිපත් කරන තෝල්ක පාර්ශවය
- සිද්ධිය සම්බන්ධයෙන් කරනු ලබන විභාගය පවත්වන ජූරි සභාව ඇතුළු විනිශ්චය පාර්ශවය
- අදාළ සිද්ධිය සම්බන්ධයෙන් ඇසින් දුටු හෝ වෙනත් ලිඛිත හා අලිඛිත සාක්ෂි සපයන පාර්ශවයන්
- විත්ති පාර්ශවය අදාළ සිදුවීමට චූදිත වරදේ ස්වභාවය අනුව දණ්ඩණයට ලක් කළ යුතු නම් දඬුවම් ලබාදීමේ හෝ බන්ධනාගාර ගත කිරීමේ හෝ සේවයේ නියුතු පාර්ශවය

මෙම පාර්ශවයන් සියල්ල උසාවිය වටා ගොණු වී ඒ තුළ රැ දෙමින් අදාළ සිදුවීම පිළිබඳ නඩුව විමසීමට ලක් කෙරෙයි. මෙහි දී ප්‍රථමයෙන් තෝල්ක පාර්ශවය වෙත නීතිවේදී පාර්ශවය මගින් ගොණු කර ඉදිරිපත් කරන ලද සිදුවීම විනිශ්චය පාර්ශවය වෙත යොමු කරයි. එසේම විනිශ්චය පාර්ශවය

එතැන් සිට අදාළ සිදුවීමට සම්බන්ධ සියළු සාක්ෂි විමසීමට ලක් කරනු ලබයි. සාක්ෂි විමසීමේ දී සිද්ධියට අදාළ සියළු සාක්ෂි පාර්ශවයන් උසාවියට ගෙන්වා සාක්ෂි විමර්ශනයට ලක් කිරීම සාමාන්‍ය උසාවි පටිපාටියයි. මෙසේ සියළු සාක්ෂි විමසීමෙන් අනුතුරුව සාක්ෂි මතින් වරද ඔප්පු වූයේ නම්, අසාධාරණයට ලක් වූ පාර්ශවය වෙත වන්දි ලබා දීමට ද විත්තියේ පාර්ශවය වරද පිළිගැනිම හෝ නොගැනීම අනුව සහ වරදේ ස්වභාවය අනුව ලබාදිය යුතු දඬුවම විනිශ්චය පාර්ශවය විසින් තීරණය කරනු ලැබේ. ඒ අනුව  දඬුවම් ලබාදීමේ හෝ බන්ධනාගාර ගත කිරීමේ හෝ සේවයේ නියුතු පාර්ශවය මගින් අදාළ වූදිත වැරදිකාර පාර්ශවය වෙත දඬුවම් පමුණුවනු ලැබේ.

මෙම උසාවි නඩු පටිපාටිය දෙස විමසිලිමත්ව බැලීමේ දී පුද්ගලයාට ඇතිවන ග්‍රහ අපල දුරු කර ගැනීම සඳහා ලියවනු ලබන හා කියවනු ලබන සෙත්කවි ද එම සෙත්කවි කියවිය යුතු ආකාරය ද සෙත්කවි කීමේ දී ආරාධනා කළ යුතු දේවතා පාර්ශවයන් කවරේ ද යන කරුණු පිළිබඳව ද වඩාත් ගැඹුරු අවබෝධයක් ලබාගත හැකි වන අතරම අවබෝධයෙන් යුතුව එය අනුගමනය කිරීමෙන් අදාළ ග්‍රහ අපල දුරුකර සෙත ශාන්තිය ළඟාකර ගත හැකි වන බව පැවසිය යුතුය.

මේ අනුව පුද්ගලයාට ඇතිවන ග්‍රහ අපලය යන්න කුමක් ද කියා ප්‍රථමයෙන් විමසා බැලිය යුතුය. පුද්ගලයාට පුද්ගලයා විසින්ම සිදුකරනු ලබන කර්මයේ ස්වභාවය අනුව ලැබෙන විපාකය ක්‍රියාත්මක කිරීම සඳහා උපකාරී විශ්ව පාරිසරික සාධක වශයෙන් ග්‍රහ අපලය පෙන්වා දිය හැකිය. පුද්ගලයා විසින්ම සිදුකරනු ලබන කර්මයේ ස්වභාවය අනුව ලැබෙන විපාකය ක්‍රියාත්මක කිරීම සඳහා උපකාරී වන විශ්ව පාරිසරික සාධක ග්‍රහදේවතාවුන් ලෙසින් දේවත්වයට පමුණුවා ඇති බව මෙහි දී ප්‍රථමයෙන්ම පෙන්වාදිය යුතුය. මේ අනුව ග්‍රහ දේවතාවුන් නියෝජනය කරන පුද්ගල කර්මයේ විපාක ශක්තිය වෙත අමන්ත්‍රණය කිරීමේ සූත්‍රයක් නැතිනම් ක්‍රමවේදයක් ඡන්දස් ශාස්ත්‍රයෙහි දක්වා ඇත. ඒ නිවැරදි ගණ පිහිටුවා ගොඩනගන

සෙත්කවියයි. නැතිනම් ලිපියේ ප්‍රධාන තේමාවේ දක්වන ලද නීතිමය කරුණු සැළකිල්ලට ගනිමින් ගොඩනගන ලද නඩු ගොණුවයි.

මෙම නඩු ගොණුව නැතිනම් සෙත්කවිය තෝල්ක තැන විසින් විනිශ්චය පාර්ශවය වෙත යොමු කළ යුතු වෙයි. සෙත්කවියට අදාළව විනිශ්චය පාර්ශවය හා තෝල්ක පාර්ශවය කවුරුන්දැයි විමසා බැලිය යුතුය. තොල්ක පාර්ශවය වශයෙන් සෙත්කවියේ දී ඉදිරිපත් වන්නේ සෙත්කවිය කියවන තැනැත්තාය. නීතිය පිළිබඳ අවබෝධය ඇති හා නීතිය උගෙන ඇති යම් පුද්ගලයෙකුට තනිවම තමන්ගේ නඩුවක් උසාවියේ විනිශ්චය සඳහා ඉදිරිපත් කොට ඒ සඳහා කථාකිරීමට නීතියෙන් අවසර ඇතිවාක් මෙන්ම සෙත්කවිය ද නිවැරදි අක්‍ෂර උච්ඡාරණය කිරීමේ හා වචන බෙදී යන තැන්හි නිවැරදි පද බෙදීමක් සහිතව ගායනා කළ හැකි අයෙකුට තමාගේ අපලයට ලියැවුන සෙත්කවිය තමාටම ගායනා කරගත හැකිය. නමුත් අනෙක් පාර්ශවයේ සිටින්නේ නීතිය හොඳින් දත් නීතිය ඉගෙනගත් නීතිවේදීන් බැවින් තනිවම සෙත්කවි ගායනය හෝ තනිවම උසාවියේ නඩුවක් ඉදිරිපත් කර යුක්තිය ලබාගැනීමට කථා කිරීම දැලිපිහියෙන් කිරි කනවා වැනි තත්වයක් බව සිහි තබා ගත යුතුය. එසේ නොමැති වූ අවස්ථාවන්හි දී අපලයට ලියැවුන සෙත්කවිය ගායනයේ දී ඇති වූ දොස් හේතුවෙන් එයින් වස්කවියක ප්‍රතිඵල අත්විඳීමට සිදු වී ඇති අවස්ථාවන් බොහොමයක් අප අත්දැක ඇති බව පෙන්වා දිය හැකිය. නමුත් මේ අතර තනිවම උසාවියේ තමුන්ගේ නඩුව ඉදිරිපත් කර යුක්තිය ලබාගත් අය වැනි සෙත්කවි තනිවම ගායනා කිරීමෙන් යහපත් ප්‍රතිඵල ලබාගත්තවුන් අතළොස්සක් ද අපගේ අත්දැකීම් නැමති ඉදිහාස පොතේ ලියැවී ඇති බව ද සඳහන් කළ යුතු ය.

මෙසේ ලියැවෙන සෙත්කවිය තනිවම නිවැරදි අක්‍ෂර උච්ඡාරණය කිරීමේ හා වචන බෙදී යන තැන්හි නිවැරදි පද බෙදීමක් සහිතව ගායනා කළ හැකි අයෙකුට තමාගේ අපලයට

ලියැවුන සෙත්කවිය තමාටම ගායනා කරගත හැකි වන්නේ නමුදු ගම් සභා උසාවියකට හෝ මහෙස්ත්‍රාත් උසාවියකට හෝ මහාධිකරණයකට හෝ නොපිවිස නඩුවක් පාරේ හෝ බොක්කුවක් උඩ වාඩි වී හෝ මංසන්ධියක නැවතී හෝ කථා කළ නොහැකිවාක් මෙන් ඊට අදාළ ස්ථානයක් වෙත යොමු විය යුතු වීම අනිවාර්යය කටයුත්තක් වන බව සිහි තබා ගත යුතුය.

තමුනට ස්වෛරීව තනිවම සෙත්කවිය කියවීම සඳහා හැකියාව තිබූව ද ගම් සභා උසාවියක් හෝ මහෙස්ත්‍රාත් උසාවියක් හෝ මහාධිකරණයක් රැස් කිරීමට තමුනට බලතල ඇත්තේ තමුන් ඒ සඳහා අදාළ පටිපාටිය අනුගමනය කරමින් නඩුගෙ ාණුව සකසා නීතිය හා සාමය රකින පාර්ශවයන් මගින් අදාළ උසාවිය වෙත නඩු ගොණුව යොමුකරවීමෙන් පමණි.

නැතිනම් නීතිය හා සාමය රකින පාර්ශවය වෙත තමනට වූ අසාධාරණය ඉදිරිපත් කර ඊට අදාළ පැමිණිල්ල ඔවුනට ප්‍රථමයෙන් යොමු කළ යුතු වෙයි. එවිට ඔවුන් එම කාරණයට අදාළ ව නඩුවක් ගොණුකර උසාවියට ඉදිරිපත් කරයි. නැතිනම් තමුන් උසාවියට නඩු ගොණුවක් යොමු කිරීමට බලතල ඇති නීතීඥවරයෙක් මාර්ගයෙන් තම අසාධාරණයට අදාළ සිද්ධිය නඩු ගොණුවක් වශයෙන් ඉදිරිපත් කළ යුතුය. එවිට උසාවිය සියළු පාර්ශවයන් කැඳවා සිද්ධියට අදාළ අසාධාරණයට ලක් වූ අයට නිසි සාධාරණ විශ්වයක් තර්කාණුකූල සාක්ෂි මතින් ලබාදෙයි.

මෙම සිදුවීම පුද්ගලයාට බලපාන ග්‍රහ අපල සඳහා ලියැවෙන කියැවෙන සෙත්කවියට අදාළ වන්නේ කවර නම් ආකාරයකට ද යන්න විමසා බැලිය යුතුය.

උසාවිය රැස්කිරීමේ බලතල යනු සියළු දේවතා කොට්ඨාශ හා අමනුෂ්‍ය කොට්ඨාශ රැස් කිරීමට අවශ්‍ය ස්තෝත්‍ර, යාදිනි, කන්නලව් ආදිය දැනසිටීම වශයෙන් පෙන්වාදිය හැකිය. එසේම නීතිය හොඳින් උගත් නීතීඥවරයෙකු වෙත යොමු

වී තමන්ට සිදු වූ අසාධාරණය පැහැදිළි කළ යුතුවාක් මෙන් තමන්ගේ ග්‍රහ අපලයට අදාළ සෙත්කවිය රචනා කිරීමට ප්‍රථමයෙන් තමුනට බලපාන ලද ග්‍රහ අපලය කුමක් ද යන්න නිශ්චය කර ගැනීමට දක්ෂ දෛවඥවරයෙකුගේ පිහිට ලබාගත යුතු වෙයි.

එවිට හෙතෙම අදාළ පුද්ගලයාට බලපාන ලද ග්‍රහ අපලය කුමක් ද යන්නත්, ඔහුට හෝ ඇයට හිමි වූ කේන්ද්‍ර සටහන නැතිනම් විශ්ව ග්‍රහ සිතියම පරීක්ෂා කොට ඊට අදාළව ගණ පිහිටුවා සෙත්කවිය රචනා කළ යුත්තේ කවර නම් දෙවි කෙනෙකුන්ගේ පිහිට අයැදිමින් දැයි සොයාගනිමින් එම දේවතාවුන් කෙරෙහි භක්තිවන්තව සෙත්කවිය රචනා කරයි.

එසේම නඩු ගොණුව උසාවියට භාර දීම සඳහා උසාවියට යා යුතු බැවින් දේවාලයකට හෝ බොධියක් වෙත යොමු වී ග්‍රහ දේවතාවුන්ට, සම්මුති දේවතාවුන්ට සහ වෙනත් අමනුෂ්‍ය කොට්ඨාශයකට අඬගැසිය යුතු නම් ඒ අයට ද එතැනට රැස්වන ලෙස ආරාධනා කළ යුතුය. මේ සඳහා එකී කොට්ඨාශයන් වෙත ආමන්ත්‍රණය කිරීමට ස්තෝත්‍ර, යාදිනි, කන්නලව් ආදිය භාවිත කිරීමට සිදු වෙයි. ඒ සඳහා එකී ස්තෝත්‍ර යාදිනි, කන්නලව් කළ හැකි දේවගැතිවරයෙකු සොයා ගැනීම අත්‍යාවශ්‍ය කරුණක් වෙයි.

උසාවියේ දී නීතීඥවරයාගේ ගාස්තුව ගෙවන්නාක් මෙන්ම අදාළ සෑම පාර්ශවයන් වෙතම පුද පිදවිලි ලබා දිය යුතු වෙයි. මේ සඳහා කැවිළි, පළතුරු, මල්, බුලත්, දෙසඳුන්, සුවඳදුම් සහ පහන් ආලෝකය ලබාදීම අනිවාර්යය වෙයි. අමනුෂ්‍ය කොට්ඨාශයන් වෙත් නම් පුළුටු, දියගොඩ මස් ආදිය ද ඇතැම් විට තැබිය යුතුවෙයි. ඒවායේ අඩුපාඩුවක් වූයේ නම් තමුන් බලාපොරොත්තු වන්නා වූ යුක්තිය ඉටුකරවාගැනීමට යම් යම් ප්‍රමාදයන් ඇති වන්නේ නඩුවක් ඊළඟ නඩු වාරයට කල්තැබීමෙන් දික්ගැසෙන්නාක් මෙනිය.

නඩුවක් විනිශ්චය කරන අවස්ථාවේ දී විනිසුරුවරයාට

ආමන්ත්‍රණය කිරීමට නීතීඥවරුන්ට වඩා තෝල්ක තැනට බලතල ඇතිවාක් මෙන් එකී ස්තෝත්‍ර යාදිනි, කන්නලව් කළ හැකි දේවගැතිවරයෙකු, කපු මහතෙකු හෝ විහාරස්ථානයක නම් දක්ෂ චන්දස් ශාස්ත්‍රයෙහි කෙළ පැමිණි යතිවරයාණන් කෙනෙකු ඒ සඳහා වඩාත්ම සුදුසු වෙයි.

ඔවුන් ළවා තමුන්ගේ අපළයට ලියැවෙන සෙත්කවිය කියවාග ැනීම මෙහි දැක්වෙන පිළිවෙල අනුගමනය කරමින් කරන්නේ නම් ඉතා ඉක්මන් සාර්ථක අත්දුටු ප්‍රත්‍යක්ෂ ප්‍රතිඵල ලබා ගත හැකි වන්නේය. වසර ගණනාවක් තිස්සේ රාජගිරිය, මාදින්නාගොඩ ග්‍රාමයේ සුවහසක් දනන් වෙනුවෙන් අප විසින් රචනා කොට ගායනා කරන ලද අපමණ සෙත්කවිවලින් සාර්ථක ප්‍රතිඵල අත්දුටු බව සුරම්‍යාරාම පුරාණ විහාරස්ථානයේ විහාරාධිපති පූජ්‍යපාද දොඩම්ගොල්ලේ පඤ්ඤානන්ද ස්වාමීන් වහන්සේ සාක්ෂි දරණ බව අප්‍රමාණ බැතියෙන් සොම්නස් හදින් සිහිපත් කරමි.

# විසි පොරොන්දම්වල විද්‍යාත්මක පැතිකඩ

විවාහය වූ කලී මනුෂ්‍ය ජීවිතයේ සන්ධිස්ථානමය අතින් ඉතා වැදගත් තැනක් හිමිකරගන්නා සන්ධිස්ථානයකැයි කිවහොත් ඒ නිවැරදිය. මිනිස් ජීවිතයේ ළදරු අවස්ථාවේ සිට මරණ මඤ්චකය දක්වා වූ ගමනේ දී විවාහය නැමති ස්ථානය මිනිසෙකුගේ ජීවිතයේ දී ඔහුට හමුවන සුවිශේෂී ස්ථානක් වන්නේ කෙසේ ද යන්න විමසා බැලීම වැදගත්ය.

විවාහයේ දී ස්ත්‍රියක හා පුරුෂයෙකු කායික වශයෙන් එක් වීම සඳහා සමාජයීය ඇගයුමකට අනුව ගොඩ නැගුනු සම්මත රාමුවක් තුළ රඳවනු ලබයි. එම රාමුව තුළ වර්ගයා ප්‍රති නිෂ්ප-ාදනය කිරීමේ කාර්‍යය ප්‍රධාන වෙයි. එහි දී ස්ත්‍රිය ඊට සුදුසුකම් සපුරා තිබීම අවශ්‍ය වෙයි. ප්‍රථම ආර්තවය පසුකොට තිබීම ඊට සුදුසුකම ලෙස සලකනු ලබයි.

පෙරදිග සංසකෘතිය තුළ විවාහයට හිමිකර දී ඇත්තේ වැදගත් ස්ථානයකි. අපරදිග වුව ද මෙහි එතරම් වෙනසක් දැකිය නෙ-ාහැකිය. මන්ද ඒ තුළ බිහිවන පවුල නැමති ඒකකයට අපරදිග සංස්කෘතියේ ද ඉතා වටිනා ස්ථානයක් හිමිකර දී ඇත.

විශේෂයෙන් පෙරදිග සංස්කෘතියේ කේන්දරය නමින් හඳුන්වන යමෙකු උපදින වේලාවේ අදාළ ස්ථානයට දැකගත හැකි විශ්ව ග්‍රහ සිතියමට ද වඩාත් මුල්තැනක් දී ඇත. ළමයෙකු උපදනා වේලේ පටන් ඔහුගේ මරණ මඤ්චකය දක්වා මෙම කේන්දර

සටහන සුරැකිව තබාගනිමින් විවිධ වූ අවස්ථාවන්හි දී එය ප්‍රයෝජනයට ගැනීම පෙරදිග සංස්කෘතියේ දැකගත හැකි ලක්ෂණයකි.

මෙම ලිපියෙන් ඔබේ අවධානය යොමු කිරීමට උත්සාහ ගන්නේ ස්ත්‍රී පුරුෂ දෙදෙනෙකුගේ කේන්දර සටහන් උපයෝග කර ගනිමින් විවාහයේ දී පරීක්ෂාවට ලක් කරන පොරොන්දම් ගැලපීම විද්‍යාත්මක ඇසකින් බැලීම උදෙසාය. එහි දී ද විසි පොරොන්දම්වලට හිමි කර දී ඇත්තේ ප්‍රධාන තැනකි. එබැවින් විසි පොරොන්දම්වලින් පරීක්ෂාවට ලක් කරන දෑයෙහි විද්‍යාත්මක පැතිකඩ කුමක් ද යන්න මෙම ලිපියෙන් විමර්ශනය කෙරේ.

- නැකැත් පොරොන්දම
- වෘක්ෂ පොරොන්දම
- ගණ පොරොන්දම
- ආයුෂ පොරොන්දම
- මහේන්ද්‍ර පොරොන්දම
- පක්ෂි පොරොන්දම
- ස්ත්‍රී දීර්ඝ පොරොන්දම
- භූත පොරොන්දම
- යෝනි පොරොන්දම
- ගෝත්‍ර පොරොන්දම
- රාශි පොරොන්දම
- වර්ණ පොරොන්දම
- රාශ්‍යාධිපති පොරොන්දම
- ලිංග පොරොන්දම
- වශ්‍ය පොරොන්දම
- නාඩි පොරොන්දම
- රජ්ජු පොරොන්දම
- දින පොරොන්දම
- වේධ පොරොන්දම

■ ග්‍රහ පොරොන්දම

මෙලෙස පරීක්ෂාවට භාජනය කෙරෙන පොරොන්දම්ය.

ස්ත්‍රී පුරුෂ දෙදෙනා අතර අන්‍යෝන්‍ය සුහදතාවය හා විවාහය නිසා පරමායුෂ වින්දනයෙන් තොරව එක් අයෙකුගේ වියෝව වන්නේදැයි විමසීම මෙම පොරොන්දම් පරීක්ෂාවේ දී විමසීමට ලක්කෙරේ. පොරොන්දම් ගැලපීමේ දී 80%ක් විශ්ව ග්‍රහසිතියමේ දක්වෙන චන්ද්‍රයාගේ පිහිටීම, දෘෂ්ඨිය, බලාබල, අවස්ථා විමර්ශනය තුළින් සිදු කෙරෙයි. ඉතිරි 20% අනෙකුත් ජ්‍යෝතිෂ විද්‍යාත්මක කරුණු සැලකිල්ලට ගනිමින් පරීක්ෂා කරනු ලබයි. මෙහි ලා චන්ද්‍රයාගේ පිහිටීම සැලකිල්ලට ගෙන පරීක්ෂාවට ලක් කිරීමේ විද්‍යාත්මක පැතිකඩ ප්‍රථමයෙන් විවර කර ගත යුතුය.

සාමාන්‍යයෙන් චන්ද්‍රයා දින 28කින් පෘථිවිය වටා එක් ගමනක් සම්පූර්ණ කරයි. ස්ත්‍රිය ද මේ අතර දින 28කට වරක් සිට ආර්තව හරණය සිදු කරයි. චන්ද්‍රයා සිය ගමනේ දී පෘථිවියට ලැබෙන දර්ශනය අනුව දින 30ක් හෙවත් තිථි 30ක් යනුවෙන් වර්ග කොට ඇත. එය පුර හා අව යනුවෙන් දෙආකාරයක් ගනී. පූර්ණ චන්ද්‍ර දර්ශනයේ සිට සම්පූර්ණයෙන් චන්ද්‍ර දර්ශනය නොලැබෙන අමාවක දිනය මුල් කොට එම වර්ගීකරණය සිදු කොට ඇත. පුර අටවක සිට අව අටවක තෙක් කාලය ඇතමෙකු පුර පක්ෂය ලෙසින් සලකන අතර අව අටවක සිට පුර අටවක දක්වා තිථීන් අව පක්ෂය ලෙස සකනු ලබයි. ස්ත්‍රියගේ ද සරු කාලයක් මෙන්ම දරුඵල හට නොගන්නා කාල සීමාවක් දැකගත හැකිය.

විවාහයේ වැදගත්ම කාර්‍යය දරුවන් බිහිකිරීම ලෙසින් පැව-සීමේ දී ඇතමෙකු ඊට එකඟ නොවීමට ඉඩ ඇත. අනෙකුත් සියළු කාර්‍යයන්හි පැවැත්ම රඳා පවතින්නේ මෙම දරු ඵල අනුව යයි කිවහොත් ඊට එකඟ වනු ඇත. එබැවින් දරු ඵල

සම්බන්ධයෙන් සමාජය ගොඩනැගූ සුජාත දරු උපතක සහ අවජාතක දරු උපතක කතිකාව මෙම විවාහය නැමති සිදුවීම වටා ගොඩ නැගී ඇත.

චන්ද්‍රයා ග්‍රහ මණ්ඩලයේ ස්ත්‍රී කාරක ග්‍රහයා ලෙස සලකනු ලබයි. චන්ද්‍රයාගේ පිහිටීම සූර්යයාට දුරස්ථ වීම සහ සමීප වීම අනුව තිථීන් ගණනය කරනු ලබයි. චන්ද්‍රයා සම්මත රාශි දොළසේ සිටින අංශක කලා විකලා ගණන අනුව නැකැත් ගණනය කරනු ලබයි. සම්මත රාශි දොළසට හිමි වූ විශේෂිත ගති ලක්‍ෂණ වෙයි. ඒවා රාශි ගුණාගුණ පිළිබඳ විශ්ලේෂණය කිරීමෙන් දත හැකිය. එක් රාශියක් අංශක 30ක ප්‍රමාණයක පැතිරී ඇත. රාශි දොළස සහ දොළොස් ග්‍රහයන් පහත දක්වා ඇත.

❖ මේෂ ❖ වෘෂභ ❖ මිථුන ❖ කටක
❖ සිංහ ❖ කන්‍යා ❖ තුලා ❖ වෘශ්චික
❖ ධනු ❖ මකර ❖ කුම්භ ❖ මීන

රාශියක් අංශක 03 කලා 20 බැගින් වන කොටස් 09කට බෙදා ඇත. ඒවා නවාංශක ලෙස හඳුන්වයි. මෙම නවාංශකවලට ප්‍රධාන ග්‍රහයින් නව දෙනාගේ අධිපතීත්වය වෙන් කොට ඇත. නවාංශක කොටස් හතරක එකතුවක් එක් නැකතක් ලෙස ව්‍යවහාරයට ගෙන ඇත. එක් එක් නැකතක අධිපති ග්‍රහයෙක් වෙයි. එනම් එක් රාශියක අංශක 13 කලා 20ක අයිතිය එක් ග්‍රහයෙකුට හිමිකර දී ඇත. ප්‍රධාන ග්‍රහයින් 09 දෙනා අතරේ මෙම අධිපතීත්වය බෙදී ගොස් ඇත. විශ්ව කවයේ අංශක 360 තුළ අංශක 13 කලා 20 බැගින් නැකැත් 27ක් දක්වා ඇත. නැකැත් සත්විස්ස විවාහ සීහුම් සඳහා පරීක්‍ෂා කෙරෙන ජන්මාදී තත්වයන් සහ එහි අධිපති ග්‍රහයින් මෙසේය.

පොරොන්දම් පරීක්ෂාවේ දී ප්‍රථමයෙන්ම සලකා බැලෙනුයේ මෙ ආදී වූ නැකැත් පොරොන්දමයි. නැකැත් පොරොන්දම මගින් මූලිකව ජන්ම, සම්පත්, විපත්, ක්ෂේම, ප්‍රත්‍යාරි, සාධක, වධ, මෛත්‍රී, පර මෛත්‍රී යන ආකාරයට කවර නම් ස්වභා-වයක නැකතක් සහකරුට හෝ සහකාරියට හිමිවන්නේ දැයි විමසීමයි. මේ ජ්‍යෝතිෂානුකූල පිරික්සීමයි. නැකැත් හිමි ග්‍රහයාගේ ගති ලක්ෂණ අනුව නැකතේ ස්වභාවය තීරණය කෙරෙයි. යම් පුරුෂයෙකුට හිමිවන නැකතට යෝජිත ස්ත්‍රියගේ නැකත සහ එම ස්ත්‍රියගේ නැකතේ සිට යෝජිත පුරුෂයාගේ නැකත දක්වා ගණනය කිරීමේ දී හිමිවන තත්වය කුමක්ද කියා විමසීම කරනු ලබයි. කල්පද්‍රෑම සංස්කෘත මහා විශ්වකෝෂයේ 4 වන කාණ්ඩයේ 632 වන පිටුවෙහි ද ජගන් මෝහනයෙහි ද දැක්වෙන පරිදි නැකැත් පාද පිළිබඳව ද මෙ පරිද්දෙන්ම විමසා බැලිය යුතු බව දක්වා ඇත.

ජන්ම, සම්පත්, විපත්, ක්ෂේම, ප්‍රත්‍යාරි, සාධක, වධ, මෛත්‍රී, පර මෛත්‍රී යනුවෙන් නම් කර ඇති තත්වයන්ගේ නියෝජන ලක්ෂණ විග්‍රහ කරගත යුතුවෙයි. 'ජන්ම' යනු යමක හට ගැනීමයි. මෙම 'හට ගැනීම' යන්න මතුපිට අර්ථය ලෙස දැක්වීම මෙහි දී උචිතය.

ඇත්තෙන්ම මෙලෙස වර්ගීකරණය කොට ඇත්තේ සංකේත නාමකරණයකි. මෙම සංකේත නාමකරණය තුළ සම ගති ලක්ෂණ හටගැනීම කෙරෙහි 'ජන්ම' නැකැත් බලපානු ලබයි. DNA පරීක්ෂාවකින් මෙම තත්වය තහවුරු කරගත හැකි වෙයි. සමාන ගති පෙන්වන DNA අනු ඇති විට දී පරිචිත ලක්ෂණ සම්පේෂණයක් ඇති වීම සාමාන්‍ය තත්වයක් බව විද්‍යානුකූල මතයයි. පරිචිත ලක්ෂණ සම්පේෂණය යනු පරම්පරාගත යම් ආබාධ තත්වයක් හෝ පරම්පරාගත ව්‍යාධිමය තත්වයක් පසු පරම්පරාවන්ට උරුමයෙන් ලැබීමයි. මෙම තත්වයන් යටතේ

අංගවිකල දරරුවන් උපදීමට හෝ වෙනත් පරම්පරානුයාත ඇතැම් රෝගකාරක තත්වයන් ඇති දරුවන් ඉපදීමට ඉකකඩ ඇති බව මෙහිදී පෙන්වාදිය හැකිය.

විවාහයක දී ස්ත්‍රියගේත් පුරුෂයාගේත් සමාන DNA අනු පිහිටන විට දී පරම්පරානුගත යම් යම් ආබාධ ඇති දරුවන් ඇති වීම කෙරෙහි එය බලපානු ලබයි. ලේ ඥාතීන් අතර විවාහය බටහිර වෛද්‍ය විද්‍යාවේ ද අනුමත කොට නැත්තේ මෙහෙයිනි. DNA පරීක්ෂාවක් පිළිබඳ හොඳම නිදර්ශනය පසුගිය වසරේ සිදු වූ සුනාමි ව්‍යසනය සමග අප අත්විඳිනු ලැබුවෙමු. Baby 81 නැමති දරුවාගේ මව්පියන් තොරාගැනීමේ දී සිදු කරන ලද ඉහ් පරීක්ෂාව ජර්මන් ජාතික බර්ටෝල් බ්‍රෙෂ්ට්ගේ හුණුවටය නාටකයේ වූ හුණුවටයේ පරීක්ෂාව නවීකරණය කිරීමක් ලෙස පෙන්වාදිය හැකිය. නමුත් විද්‍යාත්මකව මව්පියන් තෝරාගැනීම සඳහා DNA පරීක්ෂාව කෙතරම් උපකාරී වූයේ ද යන්න ඉන් පැහැදිළි වූ දෙයකි.

මව්පියන් හට දරුවෙකු සම්පතකි. විවාහයක ප්‍රතිඵලයක් ලෙස දරුවෙකු හට ගත්තේ වුව ද නොගත්තේ වුව ද මෙම නැකැත් පොරොන්දම තුළින් සිදු කරනු ලබන DNA පරීක්ෂාව පෙන්නුම් කරන්නේ දරුවෙකු හට ගන්නේ නම් එම දරුවා දෙමව්පියන්හට සම්පත් උදාකරන හැකියාවන්වලින් සමන්විත වන්නා වූ දරුවෙකු වන හා නොවන බවය. ලේ පරීක්ෂාවකින් තොරව මෙම තත්වය විමසිය හැකි වඩා පහසු ක්‍රමයක් මෙම නැකැත් පොරොන්දම තුළ අන්තර්ගතය. ඇත්තෙන්ම නැකැත් පොරොන්දම යනු DNA පරීක්ෂාවක් යයි කීම වඩාත් නිවැරදිය. එසේම විපත්, ක්ෂේම, ප්‍රත්‍යාරි, සාධක, වධ, මෛත්‍රී, පර මෛත්‍රී යන අංගයන් ද මෙපරිද්දෙන්ම විග්‍රහ කරගත හැකි නමුත් ලිපිය දීර්ඝවීම වලකනු වස් මෙතෙකින් ඒ නවතා ගණ පොරොන්දම වෙත අපගේ අවධානය යොමු කරන්නෙමු.

ගණ පොරොන්දමේ දී සලකා බැලෙන කරුණු කවරේ ද යන්න ප්‍රථමයෙන් අවධානය යොමු කළ යුතු වෙයි. චන්ද්‍රයා සිටි රාශි අංශක ප්‍රමාණය අනුව තීරණය වන නැකතෙහි විශෙෂ ලක්‍ෂණයක් මෙහිදී පරීක්‍ෂාවට භාජනය වෙයි. චන්ද්‍රයා සිතට අධිපති වෙයි. විශ්ව කවයේ නැකතකට හිමි අංශක 13 කලා 20 තුළ විශේෂිත වන්නා වූ ලක්‍ෂණයක් මෙහි දී සලකා බැලේ. එනම්, චන්ද්‍රයා එකී නැකැත්වලට පැමිණීමේ දී ජන්මියාගේ සිත ප්‍රධානව ක්‍රියාත්මක වන මශ්තිෂ්කයෙහි නැතිනම් මොලයෙහි ඇතිවන රසායනික හෝමෝනයක අඩු වැඩිවීමක් පරීක්‍ෂාවට භාජනය කෙරේ.

එකී ගණ මනුෂ්‍ය, දේව සහ රාක්‍ෂ යනුවෙන් තුන් ආකාරයකි. රාජ මාර්තණ්ඩ නම් මූල ග්‍රන්ථය දැක්වෙන ආකාරයට මෙම පොරොන්දම අත්‍යාවශ්‍ය පොරොන්දම් අතර එකක් සේ විස්තර කොට ඇත. මෙහිලා අත්‍යවශ්‍ය පොරොන්දම් පළමු ගණයට ඇතුළත් කිරීමට තරම් වැදගත් වූ කරුණ විමසීමට ලක් කළ යුතුවෙයි. ලංකා ජ්‍යෝතිෂ සංග්‍රහය'හි කාණ්ඩයේ දෙවන කලාපයෙහි (2005 මැයි) ''ජ්‍යෝතිෂ්‍ය හා පුද්ගල පෞරුෂ වර්ධනය'' නැමති අප විසින් ඉදිරිපත් කරන ලද ලිපියෙහි මානව අවශ්‍යතා සපුරාගැනීමේ දී පුද්ගල සිතෙහි ඇතිවන ප්‍රේරණයන් කෙරෙහි බලපාන පුද්ගල ආශයන්ගේ ප්‍රභේදකරණයෙහි සිග්මන් ෆොයිඩ් ඉදිරිපත් කළ දර්ශනය පුද්ගල ජීවිතය තුළ ක්‍රියාත්මකවීමේ දී සමාජ ජීවිතයට බලපාන තවත් එක් පැතිකඩක් විවර කරගත හැකි අවස්ථාවක් ලෙස මෙම ගණ පොරොන්දම පෙන්වා දිය හැකිය.

ඇඩ්‍රිනලීන් (Adrenalin) සහ ඊස්ටර්ජන් (Estrogen) යනු පුද්ගලයෙකුගේ ස්ත්‍රී පුරුෂ ජෛව විවිධත්වය ඇති කිරීමෙහි සහ වර්ධනය කිරීමෙහි භෞතිකව බලපාන හෝමෝන දෙකකි. මෙම හෝමෝන නිෂ්පාදනය කිරීමෙහි දී මිනිස් මොලයේ ඊට සාපේක්‍ෂව හටගන්නා වෙනත් හෝමෝන රාශියක් වෙයි.

එහි ප්‍රමාණත්වයෙහි වෙනස්කම් අනුව පුද්ගලයාගේ මරණ-ාශය පදනම් කොටගත් ආක්‍රමණශීලීත්වය හෝ මරණයෙහිලා ඇතිවන රුචිකත්වයත්, ජීවිතාශය පදනම් කොටගත් ආදරය හෝ කාමාෂාවෙහිලා ඇතිවන රුචිකත්වයත් තීරණය කෙ-රෙයි. මෙම රුචිකත්වයේ ප්‍රමාණය අනුව පුද්ගල මනසේ ඇතිවන භාවයන් තුනක් ක්‍රියාත්මක වනු බව ඉහත ලිපිෙ-යහි දක්වීමු. ඒවා (ඉඩ් Id) ස්වාභාවික නිසර්ග ආශාවන්, (ඊගෝ Ego) ස්වාභාවික නිසර්ග ආශාවන් යටපත් කරන යථාර්ථවාදී භාවිතාව සහ (සුපර් ඊගෝ Super Ego) සමාජය තුළින් ලබන පොදු ආචාර ධර්ම පද්ධතීන් ලෙස පෙන්වා දී ඇත.

මෙම භාවයන් ජ්‍යෝතිෂය තුළ විශ්ලේෂණය කොට දක්වන ලද්දේ පුද්ගලයා උපදිනා අවස්ථාවෙහි විශ්ව කවයේ පෙරදිග ක්ෂිතිජ රේඛාව අංශක 0 (බින්දුව) ලෙස ගණනය කිරීමේ දී එහි හමුවන නැකැත ඇසුරුකොට විස්තර කෙරෙන 'ගණ' නම් ප්‍රභේදය තුළිනි.

රාක්ෂ - ස්වාභාවික නිසර්ග ආශාවන් (ඉඩ් Id) මනුෂ්‍ය - ස්වාභාවික නිසර්ග ආශාවන් යටපත් කරන යථාර්ථවාදී භාවිතාව (ඊගෝ Ego) දේව - සමාජය තුළින් ලබන පොදු ආචාර ධර්ම පද්ධතීන් (සුපර් ඊගෝ Super Ego)

මෙහි සාමාන්‍යතාව අපට ගණ පොරොන්දම විශ්ලේෂණය කිරී-මෙන් දැකගත හැකිවෙයි.

1. දෙදෙනාම එකම ගණයේ නම් ශුභයි. සිතෙහි සතුට ඇතිකරවයි. ඇති වේ.
2. ස්ත්‍රිය මනුෂ්‍ය - පුරුෂ දේව නම් ශුභයි. උතුම්ය.
3. ස්ත්‍රිය දේව - පුරුෂ මනුෂ්‍ය ගණ නම් මධ්‍යමයි.
4. දේව - රාක්ෂ ගණ දෙකේ නම් නොසීහේ අශුභයි.
5. මනුෂ්‍ය - රාක්ෂ ගණ දෙකේ නම් මාරක තරම් අගුණයි.

6. ස්ත්‍රිය රාක්‍ෂ සහ පුරුෂයා මනුෂ්‍ය ගණයේ නම් ඉතා ඉක්මණින් මරණය හෝ ධන හානිය ඇති වේ.
7. ස්ත්‍රිය මනුෂ්‍ය සහ පුරුෂයා රක්‍ෂ ගණයේ නම් ඉතාම අශුභයි. නමුත් රාජ මාර්තණ්ඩය පෙන්වා දෙන්නේ මේ තත්වය සැප ලැබෙන බවය.

ස්වාභාවික නිසර්ග ආශාවන් (ඉඩ් Id) සම තත්වයේ පසුවන දෙදෙනෙකුගේ එක් වීම සිතෙහි සතුට ඇතිකරවීමට හේතුවන තත්වයක් බව අපට පෙන්වාදිය හැකිය. එසේම ස්වාභාවික නිසර්ග ආශාවන් යටපත් කරන යථාර්ථවාදී භාවිතාව (ඊගෙ ා් Ego) අගයන හා ක්‍රියාත්මක කරන ස්ත්‍රියක සමාජය තුළින් ලබන පොදු ආචාර ධර්ම පද්ධතීන් (සුපර් ඊගෝ Super Ego) අගයන හා ක්‍රියාත්මක කරන පුරුෂයෙකු සමග එක්වීම උතුම් කරුණකි. සමාජ සංවර්ධනයෙහිලා එය උපකාර වෙයි.

සමාජය තුළින් ලබන පොදු ආචාර ධර්ම පද්ධතීන් (සුපර් ඊගෝ Super Ego) අගයන හා ක්‍රියාත්මක කරන ස්ත්‍රියක ස්වාභාවික නිසර්ග ආශාවන් යටපත් කරන යථාර්ථවාදී භාවිතාව (ඊගෝ Ego) අගයන හා ක්‍රියාත්මක කරන පුරුෂයෙකු සමග එක්වීම මධ්‍යම වීමට කරුණු කවරේද කියා බැලිය යුතුය. මෙවිට ස්ත්‍රිය තම නිසර්ග ආශාවන් පිළිබඳ දෙවන අවස්ථාව පසු-කොට තෙවන අවස්ථාවෙහි පසුවන බැවින් ස්ත්‍රී පුරුෂ සේවන කාර්‍යයේ දී උදාසීන ගති පෙන්වීමට පුළුවන් බැවින් එසේ දක්වා ඇති බව පෙන්වා දිය හැකිය. ඊට හේතු විද්‍යාත්මකව විමසීමේ දී පැහැදිලි වන්නේ හෝමෝන ක්‍රියාකාරීත්වයේ දුර්වලතාවක් මීට බලපාන බවයි.

නිසර්ග ආශාවන් (ඉඩ් Id) අගයන හා ක්‍රියාත්මක කරන පුරුෂ-යෙකු හෝ ස්ත්‍රියක වේ නම් ඔහු හෝ ඇය අධි කාමාෂා ඇති අයෙකු ලෙස හඳුනාගත හැකිය. ඔහු හෝ ඇය වෙතින් වරදට

බැඳීමට හෝ පෙළඹීමට ඇති ඉඩ ප්‍රස්ථා බහුල බව අප කළ පර්යේෂණ තුළින් පැහැදිලි වී ඇත. බොහෝ අපචාර කටයුතු අතවර කිරීම් ආදියට සම්බන්ධ වූ පුද්ගලයන් රාක්ෂ ගණය හිමිව උපත ලබා තිබූ පුද්ගලයන්ය. එපමණක් ද නොව තම විවාහක බිරිඳ පවා දූෂණය කිරීමේ අදහසින් ඇතැම් විටෙක මොවුන් ක්‍රියාකොට තිබුණි.

මහේන්ද්‍ර පොරොන්දමෙ'හි දී සලකා බැලෙන කරුණු මොනවාද?
''චතුර්ථං තත් චතුර්ථං වා පෞනඃ පුනෛ්‍යන වා පුනඃ
ස්ත්‍රීතාරකාද්‍යාඃ පුංසඃ මහේන්ද්‍රඃ ශුභමෙධතෙ'' හෝරාභරණ 167 ශ්ලෝක

''ස්ත්‍රියගේ නැකතේ පටන් ගැන්නාම පුරුෂයාගේ නැකත 4, 7, 10, 13, 16, 19, 22, 25 වෙනි නැකැත්වලින් එකක් වී නම් මාහේන්ද්‍ර පොරොන්දම වේ'' ස්ත්‍රියගේ නැකතේ පටන් පුරුෂයාගේ නැකත දක්වා ගැණීමේ දී හතරෙන් හතරට අයත් වන්නේ මහේන්ද්‍ර පොරොන්දම බව පූර් වාචාරීන්ගේ මතයයි.

දැ න් අපි නැකැත් පොරොන්දමෙහි දී පරීක්ෂා කරන ලද ජන්මාදී කරුණු නවය වෙත නැවත අවධානය යොමු කරමු. අංක 01 වගුවේ දැක්වෙන ලා පැහැයෙන් අඳුරු කර ඇති නැකැත්වලට අනුව ත්‍රිජන්ම, ත්‍රික්ෂේම, ත්‍රිවධ ගණයෙහි ලා මෙම මහේන්ද්‍ර පොරොන්දම අයත් වන බව පෙනේ.

එසේම මහේන්ද්‍ර පොරොන්දමෙහි ඵල දක්වන බොහෝ ලිත් පෙන්වා දෙන්නේ 'උතුම් පුත්‍ර සම්පත්' හෝ 'දරු සැප හා දීර් සායුෂ විඳීමට හේතුයි' යනුවෙනි. මෙහි දී 4, 13, 22 යන නැකැත් ත්‍රික්ෂේම නැකැත් වන බැවින් ඒ උතුම් බව පැහැදිළි කරුණකි. ත්‍රිජන්ම හා ත්‍රිවධ නැකැත්වලට අයත්වන 7, 10,

16, 19, 25 යන නැකැත් කවර නම් හේතුවක් නිසා මහේන්ද්‍ර පොරොන්දමෙහි දී අනුදූ න වදාරා ඇත්දූ යි යම් සැකයක් ඇතමෙකුට ඇතිවිය හැකිය.

10 හා 19 යන නැකැත් ත්‍රිජන්ම නැකැත්වලට අයත් වේ. මෙම ලිපියේ පළමු කොටසින් දූ ක් වූ 'සම ගති ලක්‍ෂණ හටගැනීම කෙරෙහි එනම් 'පරිචිත ලක්‍ෂණ සම්ප්‍රේෂණය' කෙරෙහි 'ජන්ම' නැකැත් බලපානු ලබන' තත්වයක් දූකගත හැකිය.

'අප්ප කළ දේ පුතා නොකොළොත් නොට්ටිගෙ පුතා' යන සාමාන්‍ය ව්‍යවහාරයේ පවතින කටවචන යෙදුමෙහි සම්භවය දකුණු ගිරුවාපත්තුවේ ඉංග්‍රීසි ඒජන්තවරයෙකුගේ ප්‍රකාශයකට සම්බන්ධ බව දකුණු ගිරුවා පත්තුවෙහි ඇතැම් වෙරළබඩ පෙ-දෙස්වල ජනප්‍රවාදයක් ව අද ද ඇතැම් වැඩිහිටියන් පවසනු මා අසා ඇත. එනම් සුදු එජන්තවරයා පවසා ඇත්තේ පියා කළ දෙය පුතා නොකළහොත් ඔහු 'නොට් උගේ පුතා' යන්නය. 'නොට් උගේ පුතා' යන්න 'නොට්ටිගෙ පුතා ලෙස පසුව ව්‍යවහාරයට පැමිණ ඇති බව ඔවුන් පවසයි.

ඉහත ජනවහරට ඔබ සිත යොමුකරනු ලැබුවේ මහේන්ද්‍ර පොරොන්දමෙහි 10 හා 19 යන ත්‍රිජන්ම නැකැත්වලට අනුව පරිචිත ලක්‍ෂණ සම්ප්‍රේෂණයකින් පියා හා සමාන ගති ඇති පුත්‍ර දාරකාදීන් පිළිසිඳගැනීමෙහි ලා යට කී නැකැත් හේතු භූත වන බව පෙනී යයි. මේ අනුව උතුම් පුත්‍ර සම්පත් ලැබීම කෙරෙහි පවත්නා සාඵල්‍යතාව මැණීම සඳහා මහේන්ද්‍ර පොරොන්දම ඉතා වැදගත් වෙයි.

මහේන්ද්‍ර පොරොන්දමේ ඉතිරි ත්‍රි වධ, හා ත්‍රි ක්‍ෂේම නැකැත් සිහීම අනුව දරු සැප හා දීර්සායුෂ විඳීම කෙරෙහි ඒ බලපානු ලබන බව පැවසිය හැකිය. 'දරු සැප' යන වදන ආකාර

කිහිපයකට අර් ථ දූ ක්විය හැකිය. දරුවන් ලැබීම නිසා මව්පියන් බවට පත්වීමෙන් වන සම්පත්තිය එකකි. අනෙක නම් දරුවන්ගෙන් දෙමව්පියන් ලබන සැපයි. මේ දෙකම සම්පූර් ණ වීම කෙරෙහි වඩාත් බලපානු ලබන්නේ යථෝක්ත පුරුෂයාගේ හා ස්ත්‍රියගේ නැකැත හිමි ග්‍රහයින්ගේ නිසර් ග ගති ලක්‍ෂණ හා අන්‍යෝන්‍ය මිත්‍රාමිත්‍රතාවන් අනුවය.

මෙම පොරොන්දම් ගැලපීම සිදු කිරීමේ දී සිදු කළ යුතු තවද විශේෂිත කරුණක් වන්නේ වෙන් වෙන් වශයෙන් ස්ත්‍රියගේ ද පුරුෂයාගේ ද කේන්ද්‍ර සටහන් පරීක්‍ෂා කොට බැලීමයි. එබැවින් මෙම ලිපිය කියවන පාඨක ඔබෙන් ඉල්ලා සිටින්නේ විසි පොරොන්දම් විද්‍යාත්මකව ඉදිරිපත් කිරීමෙන් ඊට වහල් වී අනෙකුත් සාධක කෙරෙහි අවධානය යොමු නොකොට තීන්දු තීරණ ගැනීමෙන් වැලකී කටයුතු කරන ලෙසයි.

පොරොන්දම් විස්ස පමණක් බලා විවාහ සීහුමක් සිදු කරන විට දී පුද්ගලබද්ධ සාධක තුළින් සිදුවිය හැකි යම් බලපෑමක් නොපෙනී යා හැකිය. එසේ විට දී එම පොරොන්දම් පරීක්‍ෂා කරන ලද ජ්‍යෝතිෂඥයාට හෝ මුළු මහත් ජ්‍යෝතිෂ්‍යටම නින්දා කිරීමට හෝ දෝෂාරෝපණ එල්ල කිරීමට ඇති ඉඩකඩ වැඩිය.

බටහිර කාය චිකිත්සක මනෝ විද්‍යාවට අනුව දරු ප්‍රසූතියේ දී වැඩි වේදනාවක් උසුලනු ලබන මව ස්වාභාවික දරු උපතකින් මෙලොව එළිය දකින දරුවක බිහි කරන මවට වඩා මානසික වශයෙන් දරුවා කෙරෙහි ආදරය සෙනෙහස දූ ක්වීමට උත්සුක වන බව පෙන්වා දී ඇත. එසේම එම දරුවන් ද දෙමව්පියන් කෙරෙහි දූ ඩි ආදරයක් දක්වයි. එබඳු දරුවන් මව්ට හා පියාට වධයක් ලෙස සාමාන්‍ය පැවැත්ම තුළ සමජය විසින් දකියි. නමුත් දරුවාගේ පෞරුෂ වර් ධනය කෙරෙහි හා අභියෝග ජයගැනීම කෙරෙහි දරුවාගේ පවතින කුසලතා වර් ධනයට

හෙවත් අභිප්‍රේරණමය තත්වයන් ඇතිවීම කෙරෙහි උත්ක මහේන්ද්‍ර පොරොන්දමෙහි පරීක්‍ෂා කෙරෙන මෙම තත්වය උදව්වන බව අපගේ පරීක්‍ෂණ තුළින් හෙළි වී ඇති බව අපට පෙන්වා දිය හැකිය.

විවාහයේදී වැදගත් වන්නා වූ කරුණු අතර ඉතාමත්ම වැදගත් කරුණක් සම්බන්ධයෙන් ස්ත්‍රී දීර් ස පොරොන්දම කරුණු සාකච්ඡා කරනු ලබයි. කොළඹ වෙල්ලවීදියේ ග්‍රන්ථප්‍රකාශ යන්ත්‍රාලයේ ජේ. ඩී. ප්‍රනාන්දු මහතා විසින් ප්‍රකාශයට පත්කරන ලද ශකවර්ෂ 1839 හෙවත් ක්‍රිස්තු වර්ෂ 1917 පඤ්චාඞ්ග ලිතෙහි දැක්වෙන අන්දමට, 'ස්ත්‍රියගේ නැකත පටන් ගැන්නාම පුරුෂයාගේ නැකත 13කින් එහා වී නම් ස්ත්‍රී දීර්ස සීහුම වේ. එය ශුභයි. 13කින් අඩු වී නම් අශුභයි' . . . යනුවෙන් ස්ත්‍රී දීර් ස පොරොන්දම විස්තර කර ඇත. එසේම රොහාන් සිසිර කුමාරයන් සිය ලංකා පඤ්චාඞ්ග ග්‍රහස්ඵුට ලිතෙහි මෙම පොරොන්දම පැහැදිලි කර ඇත්තේ ස්ත්‍රියගේ නැකතේ පටන් ගැණගෙන යන විට 1 සිට 9 දක්වා වූ නැකතකට පුරුෂයාගේ නැකත අසුවේ නම් අශුභ බව දක්වා ඇත. 10 සිට 13 දක්වා මධ්‍යස්ථ බව දක්වා ඇත. තවද 14 සිට 27 දක්ව නැකැත් වඩාත් ශුභ බව දක්වා ඇත.

ස්ත්‍රී දීර් ස පොරොන්දමෙහි දී පරීක්‍ෂාවට ලක්කෙරන්නේ කුමක්ද කියා විමසීම වඩාත් වැදගත්ය.

බටහිර ජෝතිෂඥයින් අංක 13 වඩාත්ම අශුභ අංකයක් සේ සලකනුයේ මන්ද යි විමසා බැලීම මෙහිදී වැදගත් වෙයි. මේ 13 නැමති සංඛ්‍යාව කුමක් ද?

අඩුම තරමේ කාමර සිය දහස් ගණනකින් සමන්විත වන්නා වූ හෝටල්වල වුව ද 13 අංකය සහිත කාමරයක් නැත. බොහෝ

විට හෝටල් කාමර වඩාත් භාවිත කෙරෙනුයේ විවාහ කටයුතු

සම්බන්ධයෙන් මධුසමය ගත කිරීමටය. වෙනත් කටයුතු සම්බන්ධයෙන් ද මෙම 13 අංකය අශුභ අංකයක් සේ ඔවුහු සලකා කටයටුතු කරති. පෘථිවි ගෝලය වටා අංශක 3600ක් ඇති බව ඔබට අප කළින් පවසා ඇති බව මතක ඇතැයි සිතමු. මෙම පෙරදිග ජ්‍යෝතිශඥයින් ද 13 අංකයෙහි අශුභ තත්වය දැ ක තිබූ බව පැහැදිලි කර පෙන්වා දිය හැකිය.

මෙතෙක් පල වූ ලිපි මගින් නැකැත්, ගණ, මහේන්ද්‍ර, ස්ත්‍රී දීර්ඝ යන පොරොන්දම් පිළිබඳ විද්‍යාත්මක තොරතුරු ඔබට ප්‍රකාශ කළෙමු. රාශි සහ රාශ්‍යාධිපති පොරොන්දම් පිළිබඳ විස්තර මතු ලිපියකින් ගෙන ඒමට අදහස් කරමින් මෙම ලිපියෙන් බලාපොරොත්තු වන්නේ යෝනි සහ ලිංග යන පොරොන්දම් පිළිබඳ විද්‍යාත්මක තොරතුරු ඔබ වෙත ගෙන එමටයි.

'යෝනි' සහ 'ලිංග' යන ව්‍යවහාරය ඔබේ මතකයට නැගෙන සැනෙන් එකවරම ස්ත්‍රියකගේ සහ පුරුෂයෙකුගේ ලිංගික පද්ධතිය හා සබැඳි ලිංගික අවයව කෙරේ ඔබේ සිත ඇදී යාම නිරායාසයෙන්ම සිදුවන්නකි.

එසේම ඔබේ සිතට මෙබඳු ප්‍රශ්නයක් ද ඇති වේ. එකම පුද්ගලයෙකුට මෙම ස්ත්‍රී නිමිත්ත හා පුරුෂ නිමිත්ත පිහිටිය හැකිද? යන්න එම ප්‍රශ්නයයි. නමුත් මනුෂ්‍යයාගේ සිරුරේ ඇන්ඩ්‍රිනලීන් (Adrenaline) සහ ඊස්ටර්ජන් (Estergen) යන හෝමෝන ක්‍රියාත්මක වන බව අප පැවසුවා ඔබට මතක ඇතැයි සිතමු. එම හෝමෝන දෙක පුරුෂ ශරීර ලක්ෂණ හා ස්ත්‍රී ශරීර ලක්ෂණ වර්ධනය කිරීම කෙරෙහි සහ ලිංගික තෘප්තිය ඇති කරවීම කෙරෙහි බලපානව. එසේම මෙම හෝමෝන දෙකම සෑම පුද්ගලයෙකුගේම සිරුර තුළ ක්‍රියාත්මක වෙනව.

යෝනි පොරොන්දම සහ ලිංග පොරොන්දම හෝමෝන ක්‍රියාකාරීත්වය කෙරෙහි කවර ආකාරයකින් බලපාන්නේද යන්න විමසා බලමු. ලිංගික අවයව වර්ධනය සමග පුද්ගලයාගේ සිරුරේ මෙන්ම මනසේ ද ලිංගික තෘප්තිය විඳීම සම්බන්ධයෙන් ප්‍රේරණයක් නැතිනම් ආශාවක් ඇතිවෙනව. සිග්මන් ෆ්‍රොයිඩ් වැනි මනෝ විද්‍යාඥයින් පෙන්වාදෙන අන්දමට ළදරු අවධියේ පටන්ම මානවයා තුළ ලිංගික තෘප්තිය විඳීම සම්බන්ධයෙන් මෙම ආශාවන් ඇතිවනව. කුඩා ළදරුවෙකු මවගේ තනයෙන් කිරි උරාබොන අවස්ථාවේ පටන්ම ඔහු හෝ ඇය තුළ එම ආශාව හෙවත් අවශ්‍යතාවය වර්ධනය වන බව ඔවුන් පවසනව.

මානව අවශ්‍යතා පූරණය සම්බන්ධයෙන් ශ්‍රේෂ්ඨ පැහැදිළි කිරීමක් සිදුකළ ඒබ්‍රහම් මාස්ලෝ පවසන පරිදි මානුෂික අවශ්‍යතා පූරණයේ ධූරාවලියක් දැකගත හැකිය. එම ධූරාවලිය පහත දැක්වෙන අයුරින් හෙතෙම විස්තර කළේය.




මෙම ධූරාවලියේ පළමු අංකය හිමි වී ඇත්තේ පුද්ගල කායික අවශ්‍යතා Biological Needs පූරණයටයි. මෙම පුද්ගල කායික අවශ්‍යතා යනු පුද්ගලයෙකුගේ ශරීරයේ පැවැත්ම වෙනුවෙන් අවශ්‍ය කරන ආහාර, නින්ද වැනි දෑය.

එක් අතකින් මෙහි මූලික ස්ථර දෙක මිනිසාගේ ප්‍රාග් ඓතිහාසික යුග නියෝජනය කිරීමක් ලෙස පෙන්වාදිය හැකිය.

ප්‍රාග් ඓතිහාසික යුගයේ සමාජ තුළ කායික අවශ්‍යතා පිළිබඳ සංකල්පයත්, ආරක්ෂාව පිළිබඳ සංකල්පයත් යන අවශ්‍යතා දෙක කෙරෙහි පමණක් සීමා වූ තත්වයක් දැකගත හැකිව තිබූ බව පෙන්වාදිය හැකිය.

❖ පිරිසිදු වාතය, ❖ ජලය, ❖ ආහාර, ❖ වස්ත්‍ර, ❖ ඖෂධ, ❖ නිවාස, යන මූලික යන මූලික අවශ්‍යතා සම්පූර්ණ කිරීමෙහිලා ප්‍රාග් ඓතිහාසික සමාජගත මිනිසා යොමු විය.

❖ ඉඩකඩ (ජීවත් වීමට සහ ආහාර සපයාගැනීමට),
❖ ලිංගික තෘප්තිය,
❖ නීරෝගීභාවය,
❖ ශරීර ක්‍රියාකාරීත්වයේ නිසි පැවැත්ම තහවුරුකරණයට අවශ්‍ය ව්‍යායාම් ආදිය,
❖ විවේකය යන අවශ්‍යතා කෙරෙහි දෙවනුව යොමුවන මිනිසා එකී අවශ්‍යතා සම්පූර්ණත්වයට පත්කරගැනීම සඳහා ශිෂ්ට සම්මත ක්‍රියාමාර්ගවලට එළැඹීමත් සමග මිනිසා ශිෂ්ටාචාරගත වූවා යයි සමාජය විසින් පෙන්වාදෙනු ලබයි.

අංක 01 රූප සටහනේ දක් වූ පළමු ස්ථරයේ පුද්ගල කායික අවශ්‍යතා ගණයට ඉහත සඳහන් කරන ලද සියළුම අංග ඇතුළත් වන බව මාස්ලෝ පෙන්වා දී ඇත. ඔහුට අනුව පුද්ගලයාගේ මනසේ ඇතිවන අවශ්‍යතා අතර ලිංගික තෘප්තිය මුල්තැනක් ගනී.

මෙම ලිංගික තෘප්තිය විඳීම සඳහා අන්‍යෝන්‍ය එක්වීමක් අවශ්‍ය කරන අතර එහිලා විරුද්ධ ලිංගිකයන් දෙදෙනෙකු මුල්විය යුතුය. ලිංගික තෘප්තිය ලබාගැනීම සඳහා ඇතැම් පුද්ගලයින් සමලිංගිකයන්ගෙන් හා එය තනිවම විඳ ගැනීමට පෙළඹී ඇති

තත්වයන් ද අද සමාජය තුළ දැකගත හැකි කරුණකි. නමුත් විවාහය හා පවුල නැමති සමාජ සංස්ථා විරුද්ධ ලිංගිකයින් දෙදෙනෙකුගේ එකතුවකින් සැදුම්ලත් ඒකකයක් ලෙස සමාජ සම්මත වී ඇත. ඇතැම් බටහිර රටවල සමලිංගික විවාහ කටයුතු සහ පවුල් සංස්ථා දැකගත හැකි අතර ඒවායේ තත්වය පිළිබඳ විමර්ශනයක් නොකරන අතර සමාජ සම්මත ආචාර ධර්ම ඇතුළත් අංග කෙරේ පමණක් මෙහිදී අවධානය යොමු කරනු ලැබේ.

මෙම සමාජ සම්මත ඒකකය තුළ අනුගත වීමට සූදානම් වන්නා වූ ස්ත්‍රී පුරුෂ දෙදෙනාට ලිංගික තෘප්තිය විඳගැනීම සඳහා ආශාවන් ඇතිවීම ස්වාභාවික තත්වයකි. ආශාවන් තෘප්තිමත් කරගැනීම ඔවුනොවුන්ගේ මානසික මට්ටම් අනුව විවිධය.

එසේ සිදුවන්නා වූ මානසික ක්‍රියාවලියේ සහ ශාරීරික ප්‍රේරණයේ හෙවත් ඒ සඳහා පුද්ගලයා යොමු කිරීමේ ප්‍රවණතාව මැනීම සඳහා ජීව විද්‍යාත්මකව හෝමෝන පරීක්ෂාවක් සිදු කළ හැකිය. නමුත් එබඳු හෝමෝන පරීක්ෂාවක් සිදු නොකොට අපට යෝනි පොරොන්දම තුළින් දෙදෙනාගේ ලිංගික තෘප්තිය මැණගත හැකිය.

යෝනි පොරොන්දම පිළිබඳව මහේන්ද්‍රපාදයන් පෙන්වා දෙන්නේ මෙසේය.
'භායර්‍යා පුරුෂයෝගෙෂු විවාහං නච කාරයෙත්
යෝනි වෛරෙ'පි මාතථා චා'න්‍යතා ශුභමාදිශෙත්...' හෝරා-
භරණ 172 ශ්ලෝක

එසේම කොළඹ වෙල්ලවීදියේ ග්‍රන්ථප්‍රකාශ යන්ත්‍රාලයේ ජේ. ඩී. ප්‍රනාන්දු මහතා විසින් ප්‍රකාශයට පත්කරන ලද ශකවර්ෂ 1839 හෙවත් ක්‍රිස්තු වර්ෂ 1917 පඤ්චාඞ්ග ලිතෙහි දැක්වෙන

අන්දමට යෝනි පොරොන්දම මෙසේය.

''යෝනි පොරොන්දම - ඇත් යෝනියට සිංහ (හෝ මිනිස් හෝ කිඳුරු) යෝනිය ද, අශ්ව යෝනියට ගොන්, මීගොන් යෝනිය ද - ගොන්, මී ගොන්, එළු, මුව, බලු යන යොනිවලට ව්‍යාඝ්‍ර යෝනිය ද - වඳුරු යෝනියට එළු, බලු යෝනි දෙක ද - මූෂික යෝනියට බළල් සර්ප යෝනි දෙක ද - සර්ප යෝනියට මුගටි එළු යෝනි දෙක ද - බළල් යෝනියට බලු, ව්‍යාඝ්‍ර යෝනි දෙක ද සතුරු වෙත්, නොසීහෙයි. මුව යෝනියට ගව යෝනිය ද - එළු යෝනියට අශ්ව යෝනිය ද - බලු යෝනියට මිනිස් යෝනිය ද මිත්‍ර වේ. ශුභ වේ. මේ හැර අන් විදියකට යෝනි සිටියේ නම් සම වෙත් - මධ්‍යමයි - සියළු යෝනිවලටම වඳුරු යෝනිය මිත්‍රවන්නේ යැයි සමහරු කියති.''

මෙම පැහැදිළි කිරීම් අනුව වෙන් වෙන් වශයෙන් දක්වා ඇති ස්ත්‍රී යෝනි පුරුෂ යෝනිවලදී ස්ත්‍රී යෝනි ස්ත්‍රියටත් පුරුෂ යෝනි පුරුෂයාටත් හිමි වූ තත්වයක දී වඩාත් ගැළපීම් සහිත බව හඳුනාගත හැකිය. එසේම අන්‍යෝන්‍ය වෛරී සත්වයන් ලෙස නම් කොට ඇති යෝනි සහිත තත්වයක දී ගැළපීම් රහිත අසුභ තත්වයක් උදාවන බව පැහැදිළි කළ හැකිය. වඳුරු යෝනිය සියළු යෝනිවලටම ගැළපෙන බව දක්වා ඇති තත්වය පිළිබඳ විමසීමේ දී පැහැදිළිවන කරුණක් ඇත. එනම්, මානවයාගේ සම්භවය හා පරිණාමය වඳුරාගෙන් පැවතීම යන කරුණ කෙරෙහි මෙහි සම්බන්ධයක් ඇතැයි යන්න අපට සිතිය හැකි කරුණකි. ජීව විද්‍යාත්මක පර්යේෂණ තුළින් මේ තත්වය තහවුරු කරගෙන ඇති බව බටහිර කායච්ඡේද වෛද්‍ය විද්‍යා පර්යේෂණ වාර්තා දෙස බැලීමේ දී පෙනී යන කරුණකි.

ලිංග පොරොන්දම පිළිබඳව විමසීමේ දී පැහැදිළිවන කරුණු රැසකි. කායික වශයෙන් පුරුෂ ශරීර ලක්ෂණ හා ස්ත්‍රී ශරීර ලක්ෂණ

ඇති කිරීමෙහිලා බලපානු ලබන හෝමෝන ක්‍රියාකාරීත්වය අප මීට ඉහත සාකච්ඡා කළෙමු. නමුත් ලිංග පොරොන්දම සෘජුවම ස්ත්‍රී ලිංග, පුරුෂ ලිංග සහ නපුංසක ලිංග යනුවෙන් ලිංගත්‍රයක් පිළිබඳව කරුණු සාකච්ඡා කරයි.

උපන් නැකත අනුව නිර්ණය කෙරෙන මෙම ලිංග භේදය පිළිබඳ නොදැනුවත් භාවය මත ඔවුන් නපුංසක ගණයට ඇතුළත් යයි තමන්ගේ කේන්ද්‍ර සටහනෙහි දැක්වෙන බව ඇතම් කාන්තාවන් මා සමග නොයෙක් අවස්ථාවල පවසා ඇත. ඇතැම් පිරිමින් ද මෙලෙස බොහෝ අවස්ථාවල පවසා ඇත. ඇතැම් විටෙක කාන්තාවන් පුරුෂ ලිංග ගණයට ද පිරිමින් ස්ත්‍රී ලිංග ගණයට ද ඇතුළත් වන බව ඔබ දැක ඇසා ඇතිවාට සැක නැත.

මෙලෙස දක්වෙන ලිංග පොරොන්දම යම් පුද්ගලයෙකුගේ ස්ත්‍රී පුරුෂ භාවය තීරණය කිරීමක් නොකරන බව ස්ථිරව පැ-වසිය යුතු වෙයි. උපන් නැකත අනුව පොරොන්දම් පරීක්ෂාව සඳහා අවශ්‍ය කෙරෙන ලිංගය තීරණය කරන බව පැවසිය යුතු වෙයි. මහේන්ද්‍රපාදයන්ගේ හෝරාභරණයෙහි 168 ශ්ලෝකයෙහි යමෙකු උපන් නැකත අනුව පොරොන්දම් පරීක්ෂාව සඳහා අවශ්‍ය කෙරෙන ස්ත්‍රී, පුරුෂ සහ නපුංසක ලිංග නිර්ණය පැහැදිළිව දක්වා ඇත. එසේ නම් මෙම ලිංග පොරොන්දමෙන් පරීක්ෂා කෙරෙන්නේ කුමන තත්වයක් ද යන්න විමසා බැලිය යුතුය.

කායික වශයෙන් යමෙකුගේ ලිංගය කුමක් ද යන්න තහවුරු කර ගැනීම වැදගත් කරුණකි. නමුත් බොහෝ අවස්ථාවල ස්ත්‍රී ගති ලක්ෂණ ඇති පිරිමි අපට දැකගත හැකි අතරම පුරුෂ ගති ලක්ෂණ ඇති ස්ත්‍රීන් ද අපට දැකගත හැකිවෙයි.

බෞද්ධ විනය පිටකයෙහි පැවිදි කිරීමට නොසුදුසු පුද්ගලයන්

62 දෙදෙනා අතුරෙහි 'උභතෝ භ්‍යංජනික' නමින් හඳුන්වන පුද්ගලයෙකු ද වෙයි. එසේ 'උභතෝ භ්‍යංජනික' නමින් හඳුන්වා ඇත්තේ පිරිමියෙකුත් නොවන ස්ත්‍රියකත් නොවන පුද්ගලයන්ය. මොවුන් පැවිදි නොකළ යුතු පුද්ගලයන් ලෙස පෙන්වා දී ඇත්තේ මෙවැනි පුද්ගලයන් නිවණට නොයා යුතු නිසා නො-වන බව එහි පැහැදිලි කර ඇත. සසුනේ චිර පැවැත්ම සලකා එසේ නීතියක් පණවන ලද බව විනය පිටකයෙහි වැඩිදුරටත් විස්තර කර ඇත.

එක්තරා පුවත් පතක පිරිමියෙකු කරනා සියළුම වැඩකටයුතු කරන ගැහැණියක පිළිබඳව පුවතක් මෙහිදී මතකයට නැගෙ යි. එසේම කාන්තා කටහඬ පිළිබඳව කරුණු විමසීමේ දී කාන්තාවන්ට පිරිමින්ගේ මෙන් රළු කටහඬ ඇති අවස්ථා පිළිබඳව ඇතැම් විටෙක අසන්නට දකින්නට ලැබෙයි.

අප රටෙහි නායකත්වයට පත් ස්ත්‍රීන් දෙදෙනෙකුටම මෙවැනි තත්වයන් තිබූ බව ඔබ සැවොම දන්නා කරුණකි. එසේම ඇතැම් පිරිමින් ද කාන්තාවන්ගේ මෙන් මෘදු සිහින් ස්වරයක් ඇති අවස්ථා බොහෝ විට දැකගත හැකිය.

බෞද්ධ පිටක සාහිත්‍යයෙහි විනය පිටකයෙහි දැක්වෙන එක්තරා පුවතක් ඔබට පවසමි. එක් රහතන් වහන්සේ නමක් ඉතාම රූප සම්පන්න වූ අතර උන් වහන්සේගේ සිරුර කාන්තාවකගේ මෙන් සියුමැලි මට සිළුටු සමකින් හා අඟපසඟකින් සමන්විත විය. උන් වහන්සේ පිඩුසිඟා වඩින අවස්ථාවක එක් මාලිගයක සිටි වෙළඳ නායකයෙකු උන් වහන්සේ දැක උන් වහන්සේගේ සිරුර කෙරේ පිළිබඳ සිතක් ඇති කර මුන් වහන්සේ මාගේ භාර්‍යාව වන්නේ නම් කෙරෙම් අගනේ දැයි සිතීය. එසැනින් එකී රහතන් වහන්සේගේ රහත්භාවය හෝ පුණ්‍ය මහිමය නොදැන ඇති කළ සිතිවිල්ල හේතුවෙන් එම වෙළඳ නායකයාගේ ලිංග

විකෘතියක් ඇති වී ඔහුට ස්ත්‍රී නිමිත්ත පහළ වූ බව දක්වෙයි.

සිදු වූ තත්වය පිළිබඳව කළ හැකි දෙයක් නොවූයෙන් වෙළඳ නායකයා කාන්තාවක මෙන් වෙස්වලාගෙන මාලිගයෙන් බැහැර වී එක් පසල් දනව්වක දුප්පත් දරුවන් නැති මව්පියන් දෙදෙනෙකු යටතේ දරුවෙකු ලෙස හැදෙන්නට විය.

එසේ පසුවන අවස්ථාවේ දී එම මව්පියන් ඇයට විවාහයක් කර දීමට සිතා කාර බැඳ දුනි. එම විවාහයෙන් ඇයට දරුවන් දෙ-දෙනෙකු ලැබුන අතර එක් දරුවෙකු බුදුරජාණන් වහන්සේගේ සසුනෙහි පැවිදි වී විදසුන් වඩා රහත් ඵලයට පත් විය.

එසේ රහත් භාවයට පත් හිමි නම තමන්ගේ මෑණියන්ගේ තත්වය තම නුවණින් දැක පසු දිනෙක නිවසට වැඩම කොට මවට ධර්මය දේශනා කළෙන් එම බණ අසා මෑණියන් සොවාන් ඵලයට පත්විය. එසේම මෑණියන් සෝවාන් ඵලයට පත්වනවාත් සමගම නැවතත් මෑණියන් හට පුරුෂ නිමිත්ත පහළ වූයෙන් පසුව බුදුරදුන් දැක පැවිදි දිවියට පත් විය.

බුදුරදුන්ගෙන් බණ අසා කමටහන් ගෙන විදසුන් වඩා හෙතෙම රහත් ඵලයට පත් වූ පසු දිනෙක තමන්ගේ පසුගිය අතීත සිදුවීම් පිළිබඳ අවර්ජා කොට සංඝයා හමුවේ පවසා ඇත.

මෙම තත්වය පිළිබඳ ඇතමෙකුට ප්‍රලාපයක් විය හැකි යයි අදහසක් ඇතිවිය හැකිය. නමුත් අද ද ඇතැම් අවස්ථාවන්හි දී මෙවැනි ලිංග මාරුවීම් හෝ ලිංග විකෘතිවීම් සිදුවන බව මෑතක පුවත් පතක පළ වූ පුවතකින් හෙළිවිය. විදේශ රටක පිරිමියෙකු හෝර්මෝන වර්ධනය කිරීමෙන් කාන්තා ශරීර ලක්ෂණ ඇති කර පසුව සැත්කමකින් කාන්තා අවයව බද්ධ කරවාගෙන විවාහ දිවියට ඇතුළත්ව දරුවන් වැදූ බව එම පුවතින් හෙළිවිය.

මෙරට නායකයෙකු ව්‍යවස්ථා සංශෝධනයකින් පසුව එම ව්‍යවස්ථාවෙන් කළ නොහැකි එකම දෙය කාන්තාවක පිරිමියෙකු කිරීමත් හා පිරිමියෙකු කාන්තාවක කිරීමත් බව පවසා තිබුණි. ඉහත පුවතින් වෛද්‍ය විද්‍යාවේ දියුණුවෙන් සිදු කළ අරුම පුදුම සිදුවීම ඊට ඉඳුරා වෙනස් ප්‍රතිඵල ගෙන දුන් බව එම පුවත පුවත්පත්වල පළ වූ දිනවල ඇතමුන් පවසනු අසන්නට ලැබිණි.

ලිංග පොරොන්දම පිළිබඳව මහේන්ද්‍රපාදයන් පෙන්වා දෙන්නේ මෙසේය.
'සත්‍රිණාමපුමහනනෘණං සත්‍රීහම් භවෙත් කලහශෝකදං
උභයොඃ පුරුෂනක්‍ෂත්‍රං නිත්‍යං කලහ මා'වහෙත්...' හෝරාභරණ 169 ශ්ලෝක

එහි අර්ථය පෙන්වාදෙන මහේන්ද්‍රපාදයන් ස්ත්‍රිය පුරුෂ නැකතක ද පුරුෂයා ස්ත්‍රී නැකතක ද වූ කල්හි අඬදබර ශෝක ඇති කිරීම් වන අතර දෙදෙනාම පුරුෂ නක්‍ෂත්‍රයක වන කල්හි නිතර අඬදබර ශෝක ඇති කිරීම් ගෙන දෙන බවයි.

'සත්‍රිණාම් සත්‍රීකලීවනක්‍ෂත්‍රම් පුංසා පුමහම් නපුංසකං
විවාහෙ ශුභදං ශ්‍රෙයම්'ති විඥාය යොජයෙත්...' හෝරාභරණ 170 ශ්ලෝක

ස්ත්‍රියට ස්ත්‍රී නැකතක් ද පුරුෂයාට පුරුෂ නැකතක් හෝ නපුංසක නැකතක් හෝ හිමිවන කල්හි
විවාහය ශුභ එකක්ම වන බව වැඩිදුරටත් හෙතෙම පෙන්වාදෙයි.

මෙහි විද්‍යාත්මක පැහැදිළි කිරීම පිළිබඳව විමසීමේ දී අනාවරණය වන තත්වය දෙස දැන් බලමු. ලිංගිකව දෙදෙනෙකු එක් වීමේ රටාව පිළිබඳව විමසීමේ දී පුරුෂයෙකු මෙන් ලිංගිකව

එක්වීමත්, ස්ත්‍රියක මෙන් ලිංගිකව එක්වීමත් හා නපුංසකයෙකු මෙන් ලිංගිකව එක්වීමත් මින් පරීක්ෂාවට භාජනය කරන බව පෙන්වා දිය හැකිය.

අප විසින් සිදු කරන ලද පර්යේෂණ තුළින් හෙළි වූ කරුණු කිහිපයක් වෙයි. පරීක්ෂාවට භාජනය කරන ලද දහසකට අධික පොරොන්දම්වලින් සියයට 30%ක මෙම ලිංග පොරොන්දමෙහි දී ස්ත්‍රී පුරුෂ දෙදෙනාගේ නැකතට හිමි වූ ලිංග හා ජීව විද්‍යාත්මක ලිංගිකත්වයෙහි ප්‍රතිවිරුද්ධ ලිංග හිමි ව තිබුණි. ඔවුන්ගේ ලිංගික චර්යාවන් පිළිබඳව වසර කිහිපයකට පසුව ඉතාමත් පෞද්ගලිකව සිදු කරන ලද සම්මුඛ පරීක්ෂණ තුළින් හෙළි වූයේ පරීක්ෂිත පූර්ව නිශ්චිත පූර්වාචාරී මතයන් සනාථ වී ඇති බවය. එසේම 45%ක් වූ පොරොන්දම් අතුරෙන් 30%ක් මනා ගැලපීම් සහිත වූ අතර උක්ත 45% ඉතිරි 15% සපයන ලද උපන් වේලාව සම්බන්ධ දත්තයන්ගේ පැවති සාවද්‍යතා හේතුවෙන් බැහැර කිරීමට සිදුවිය. ඉතිරි 25% ඉතාමත් අසුභ තත්වයේ පසුවූ අතර ඔවුන්ගේ විවාහ සම්බන්ධතා විශේෂයෙන් ලිංගික ජීවිත දෙදරා ගොස් තිබුණි.

මෙම සියළු කරුණු තුළින් පැහැදිළිවන දෙයක් ඇත. එනම්, ලිංග පොරොන්දම තුළින් පරීක්ෂාවට භාජනය කෙරෙනුයේ යමෙකු ලිංගිකව එක්වීමේ රටාව නැතහොත් ලිංගික චර්යාවේ ස්වරූපයයි.

රාශි පොරොන්දම පිළිබඳ සාකච්ඡා කිරීමේ දී ප්‍රථමයෙන් රාශිය යනු කුමක් දැයි හඳුනාගත යුතුය. පහත සටහන් බලන්න. එහි අප වෙසෙන පෘථිවිය ඇතුළු සෞරග්‍රහ මණ්ඩලයේ අනෙකුත් ග්‍රහයින් පෙන්නුම් කර ඇත.

- රවි (සූර්‍යයා)
- බුධ
- සිකුරු
- පෘථිවිය
- සඳු (චන්ද්‍රයා)
- කුජ
- ග්‍රාහක පළමු වටය [illegible]
- ගුරු
- ධූමකේතු හෙවත් වල්ගා තරු
- ශනි
- යුරේනස්
- නෙප්චූන්
- ප්ලූටෝ
- ග්‍රාහක දෙවන වටය [Kuiper Belt]

බ්‍රිටැනිකා විශ්වකෝෂයෙන් (Britannica Encyclopedia Deluxe Edition 2005 CD ROM) උපුටාගන්නා ලද පහත ග්‍රහ රූප සටහනට අමතරව අප සෞරග්‍රහ මණ්ඩලයේ ග්‍රහයින්ට පරිබාහිරව නැකැත් තරු මණ්ඩල හා රාශි තරු මණ්ඩල පිහිටා ඇති බව ඔබට කළින් අපගේ ලිපි ඇසුරෙන් පෙන්වා දුන්නා මතක ඇතැයි සිතමු. ඔබගේ දැණුම අළුත් කරලීම සඳහා නැවත ආවර්ජනයක් කර බලමු.

අප වෙසෙන සෞරග්‍රහ මණ්ඩලයේ කුජ ගුරු ග්‍රහයින්ට මැදිව ඇති ග්‍රාහක (METEOROIDS ASTEROIDS) යනුවෙන් හඳුන්වන වස්තූන් සමූහය දෙස බලන්න. [illegible] මෙය පුද්ගල ජීවිතයේදී කරනු ලබන හොඳ, නරක

සහ මධ්‍යස්ථ වශයෙන් සිදුකරනු ලබන ක්‍රියාවන්ගේ ප්‍රතිඵල නිර්ණයේ කාල වකවානු මෙන්ම ස්වභාව ලක්‍ෂණ සහ ගුණ අගුණ දැක්වීම සඳහා පූර්වාචාරීන් විසින් රාශි මණ්ඩල XXXX යන් XXXXXXXXXXXXXXXXXXXXXXXX පෙන්වා දී ඇත.

ළදරුවෙකු උපන් දා උපන් වෙලේ උපන් ස්ථානයේ දී පෘථිවිය වටා අංශක 3600 සමාන කොටස් දොළසකට බෙදූ කල දොළොස් භාවයන් අපි නිර්ණය කරන්නෙමු. එකක් අංශක 300 බැගින් ගෙන ගණිතා කේන්ද්‍රයේ භාව දොළොස තුළ රාශීන් නියෝජනය වන ආකාරය අනුව ජ්‍යෝතිෂය ඔබේ ලග්නය තීරණය කරයි. ඔබ ලග්නය ලෙස හඳුනාගන්නේ ඔබ උපන් දිනයේ, උපන් වේලේ, උපන් ස්ථානයට නැගෙනහිර ක්ෂිතිජ රේඛාවේ පෙනෙන පහත දැක්වෙන රාශීන්ගෙන් එකකි.

❖ මේෂ ❖ වෘෂභ ❖ මිථුන ❖ කටක
❖ සිංහ ❖ කන්‍යා ❖ තුලා ❖ වෘශ්චික
❖ ධනු ❖ මකර ❖ කුම්භ ❖ මීන

පොරොන්දම් පරීක්‍ෂාවේදී රාශි පොරොන්දම වශයෙන් විමර්ශනයට ලක් කෙරෙනුයේ මෙම රාශීන්ගේ ස්වභාවයන්, ඒවායේ නිසර්ග ගති ලකුණු හා පිහිටීම්වල ගැලපීම්ය. මෙහිදී රාශීන්ගේ ස්වභාවයන් ඇතුළු අනෙකුත් ගැලපීම් පිළිබඳ විමසීමෙහිදී අවධානය ලක් කළ යුතු කරුණු රැසක් වෙයි. ඒවා එකිනෙක පෙළගැසීම පළමුවෙන් කළ යුතු වෙයි.

රාශි නාම

- ❖ මේෂ
- ❖ වෘෂභ
- ❖ මිථුන

- කටක
- සිංහ
- කන්‍යා
- තුලා
- වෘශ්චික
- ධනු
- මකර
- කුම්භ
- මීන

රාශි ප්‍රභේද

- ලග්න රාශි (පෞරුෂය)
- චන්ද්‍ර රාශි (හදවත)
- සූර්ය රාශි (ආත්ම විශ්වාසය)
- සිකුරු රාශි (ආදරය)
- භෞම (කුජ) රාශි (කාමය)

රාශි ස්වභාව/රාශි ප්‍රමාණ

රාශි උදාවන්

- ශීර්ෂෝදය
- පෘෂ්ඨෝදය (පිටුපසින් උදාවන)
- උභයෝදය (හිසින් සහ පුටපසින් යන දෙකින් උදාවන මීන පමණි)

රාශි උදාවන් අනුව රාශි බල

- මේෂ ශීර්ෂෝදය නිශා බල
- වෘෂභ ශීර්ෂෝදය නිශා බල
- මිථුන ශීර්ෂෝදය නිශා බල
- කටක ශීර්ෂෝදය නිශා බල
- සිංහ පෘෂ්ඨෝදය දිවා බල
- කන්‍යා පෘෂ්ඨෝදය දිවා බල

- ❖ තුලා පෘෂ්ඨෝදය දිවා බල
- ❖ වෘශ්චික පෘෂ්ඨෝදය දිවා බල
- ❖ ධනු ශීර්ෂෝදය නිශා බල
- ❖ මකර ශීර්ෂෝදය නිශා බල
- ❖ කුම්භ පෘෂ්ඨෝදය දිවා බල
- ❖ මීන උභයෝදය නිශා/දිවා උභය බල

රාශි බැස යාම් (ඒ ඒ රාශි ගතවීමට අදාළ කාලය)
හට්ටෝත්පල ටීකාවට අනුව (සිංහල 60 පැයේ ක්‍රමයට)

- ❖ මේෂ 20 6 = පෑ 03 වි 20
- ❖ වෘෂභ 24 6 = පෑ 04 වි 00
- ❖ මිථුන 28 6 = පෑ 04 වි 40
- ❖ කටක 32 6 = පෑ 05 වි 20
- ❖ සිංහ 26 6 = පෑ 06 වි 00
- ❖ කන්‍යා 40 6 = පෑ 06 වි 40
- ❖ තුලා 20 6 = පෑ 03 වි 20
- ❖ වෘශ්චික 24 6 = පෑ 04 වි 00
- ❖ ධනු 28 6 = පෑ 04 වි 40
- ❖ මකර 32 6 = පෑ 05 වි 20
- ❖ කුම්භ 26 6 = පෑ 06 වි 00
- ❖ මීන 40 6 = පෑ 06 වි 40

රාශි සලකුණු

- ❖ එළු
- ❖ ගොන්
- ❖ ස්ත්‍රී පුරුෂ මිනිස් රූ
- ❖ කකුළු

- ❖ සිංහ
- ❖ ස්ත්‍රී කන්‍යාව
- ❖ තරාදිය අතින් ගත් ගැහැණිය
- ❖ ගෝණුසු
- ❖ අර්ධ අශ්ව මිනිස් රූ
- ❖ මනඃකල්පිත මකර රුව
- ❖ කලයක් අතින් ගත් ගැහැණිය
- ❖ ස්ත්‍රී පුරුෂ මත්ස්‍ය රූ

රාශි සලකුණු අනුව

- ❖ ද්විපද (නර) රාශි
- ❖ චතුෂ්පද රාශි
- ❖ ජල රාශි
- ❖ කීට රාශි

රාශි වර්ණ (වරාහ මිහිරය, රාශි භේද පළමු පරිච්ඡේදය, 20 ශ්ලෝකය, රාශි වර්ණ)

- ❖ මේෂ ලේ පාට (තද රතු)
- ❖ වෘෂභ සුදු පාට (සියළු වර්ණ එක් වූ පාට)
- ❖ මිථුන ගිරා පාට (කොළ පාට)
- ❖ කටක පළොල් පාට (මදක් කළු රතු)
- ❖ සිංහ මදක් සුදු
- ❖ කන්‍යා විසිතුරු පාට (සෑම පාටක්ම විවිධ මට්ටමින් ඇත)
- ❖ තුලා කළු (කිසිදු වර්ණයක් නැතිකල එම වර්ණ වේ)
- ❖ වෘශ්චික රන්වන් පාට
- ❖ ධනු කහ පාට (වී දහයියා පාට)
- ❖ මකර කඹුරු පාට (සුදු පැහැයට හුරු රතු පාට)
- ❖ කුම්භ බඹරුවන පාට (මුගටියාගේ ගුරු පැහැය)
- ❖ මීන මත්ස්‍ය පාට (මාළුන්ගේ ඇති රිදී සහ නිල් මිශ්‍ර

වූ පාට)

රාශි නිසර්ග ගති ලකුණු
නිසර්ග ගති ලකුණු (සාරාවලියට සහ අග්නි පුරාණයට අනුව)

ස්ත්‍රී රාශි (මෘදු ස්වභාව ඇතිවුන්)
❖ වෘෂභ ❖ කටක ❖ කන්‍යා
❖ වෘශ්චික ❖ මකර ❖ මීන

පුරුෂ රාශි (තේජස් සහිතවුන්)
❖ මේෂ ❖ මිථුන ❖ සිංහ
❖ තුලා ❖ ධනු ❖ කුම්භ

ක්‍රෑර රාශි (ක්‍රෑර ගති ඇතිවුන්)
❖ මේෂ ❖ මිථුන ❖ සිංහ
❖ තුලා ❖ ධනු ❖ කුම්භ

සෞම්‍ය රාශි (සෞම්‍ය ගති ඇතිවුන්)
❖ වෘෂභ ❖ කටක ❖ කන්‍යා
❖ වෘශ්චික ❖ මකර ❖ මීන

චර රාශි (චංචල ස්වභාව ඇත්තන්)
❖ මේෂ ❖ කටක ❖ තුලා ❖ මකර

තිර රාශි (ස්ථිර ස්වභාව ඇත්තන්)
❖ වෘෂභ ❖ සිංහ ❖ වෘශ්චික ❖ කුම්භ

උභය රාශි (උභය ස්වභාව ඇත්තන්)
❖ මිථුන ❖ කන්‍යා ❖ ධනු ❖ මීන

ඉහත අයුරින් රාශි ස්වභාවයන් විවිධ ප්‍රභේද යටතේ දක්වා ඇත. මෙම විවිධ වූ ප්‍රභේද සම්බන්ධයෙන් අප විසින් වසර ගණනාවක් මුළුල්ලේ සිදුකරන ලද පර්යේෂණ අනුව පෙනී ගිය කරුණක් වූයේ මෙම ප්‍රභේදකරණය උපන් දිනය, උපන් වේලාව හා ස්ථානය නිවැරදිව සටහන් කරගත් කේන්ද්‍ර යුගල 1,000කින් 98.75%ක්ම නිවැරදි මිනිස් චර්යා ගති ලක්ෂණ පෙන්නුම් කර තිබූ බවයි. එසේම පහත දැක්වෙන වගුව අප විසින් සිදුකරන ලද රාශි ප්‍රභේද පිළිබඳ පර්යේෂණයේ ප්‍රතිඵලයි.

පර්යේෂණයට භාජනය කරන ලද කේන්ද්‍ර යුගල සංඛ්‍යාව 1,000
පර්යේෂණයට භාජනය කරන ලද කේන්ද්‍ර අතුරෙන්
රාශි පොරොන්දම පිළිබඳ සංඛ්‍යාලේඛන

| රාශිය | සුභ | මධ්‍යස්ථ | අසුභ | අනු එකතුව |
|---|---|---|---|---|
| ❖ ලග්න රාශි (පෞරුෂය) | 45% | 25% | 30% | 100% |
| ❖ චන්ද්‍ර රාශි (හදවත) | 30% | 40% | 30% | 100% |
| ❖ සූර්ය රාශි (ආත්ම විශ්වාසය) | 25% | 35% | 40% | 100% |
| ❖ සිකුරු රාශි (ආදරය) | 35% | 20% | 45% | 100% |
| ❖ භෞම (කුජ) රාශි (කාමය) | 55% | 20% | 25% | 100% |
| ❖ එකතුව | 190/500 | 140/500 | 170/500 | 500% |
| ❖ රාශි පොරොන්දමේ සමස්ථ ගැලපීම | 38% | 28% | 34% | 100% |

පොරොන්දම් පරීක්ෂාවේදී අප විමසා බලන පඤ්චාඞ්ග ලිතක දැක්වෙන උපදෙස්වලට අමතරව ඉහත දැක් වූ රාශි ස්වභාව ගැලපීම් දෙදෙනාගේ කවර මට්ටමක පවතීදැයි විමසීම ඉතාමත් අවශ්‍ය කරුණක් බව පෙන්වා දිය යුතුය. මෙම ලිපියේ දී සාමාන්‍ය පඤ්චාඞ්ග ලිතක දැක්වෙන උපදෙස් නැවත ඉදිරිපත් නොකිරීමට අදහස් කරන ලද්දේ ලිපිය දීර්ඝවීම වැලැක්වීම සඳහාය. පුද්ගල පෞරුෂය (ලග්න රාශිය), පුද්ගල හදවත (චන්ද්‍ර රාශිය), පුද්ගල ආත්ම විශ්වාසය (සූර්ය රාශිය), පුද්ගල ආදරය (සිකුරු රාශි) සහ පුද්ගල කාමය (භෞම (කුජ) රාශි) යන අංගයන්ගේ දෙදෙනා අතර ගැලපීම අත්‍යාවශ්‍යයෙන්ම

මානසික මට්ටම් ගැලපීමක් බව අප දැනුවත් විය යුතු බැවිනි.

රාශ්‍යාධිපති පොරොන්දමේ විද්‍යාත්මක පැතිකඩ මෙම ලිපියෙන් කරුණු ඉදිරිපත් කෙරේ. රාශ්‍යාධිපති පොරොන්දම පිළිබඳ කරුණු පැහැදිලි කර ගැනීම සඳහා පහත අංක 01 රූප සටහන දෙස පළමුව අවධානය යොමු කරන්න.



දැන් ඔබ රාජ සභාවක් සිතේ මවාගන්න. එහි රජු දේවිය සමග සිංහාසනාරූඪව හිඳියි. රජුගේ සිංහාසනයට දෙපැත්තේ යුවරජ දෙපල වෙයි. රාජ කුමාරිකාවන් දෙපල අනතුරුව වෙයි. යුධ සේනාපති යුවල අනතුරුව හිඳියි. පුරෝහිත බ්‍රාහ්මණයන් දෙපලක් සේනාපති යුවලට පසුව හිඳියි. අවසානයේ යාචක දෙපලක් වෙයි.

විවාහ පෝරු චාරිත්‍රවල දී මනමාල මහතාත්, මනමාල මහත්මියත් පෝරුවේ කුමන දිශාවෙන් හිඳින්නේදැයි මතකයට නගා ගන්න. දැන් රජු සිංහාසනාරූඪ කොට (රවි සිංහ රාශියේ තබා) රජ දේවිය පෝරුවට නංවන්න (චන්ද්‍රයා සිංහ රැසට වම්පස රැසට කටකයට කැඳවන්න). ඉහත රාජ සභාවේ අනු පිළිවෙළට සිංහ කටක දෙරැසට දෙපසින් ආසන දෙක (මිථුන කන්‍යා) යුව රජ බුධට පණවන්න. සභාවේ රාජ කුමාරිය වන සිකුරුට ආසන දෙකක් ඊට දෙපසින් (වෘෂභ තුලා)

පණවන්න. සෙන්පති කුජට ඊළඟ ආසන දෙක (මේෂ වෘශ්චික) පිරිණමන්න. පුරෝහිත බ්‍රාහ්මණයා සඳහා (දේවානං ච ඍෂිනාං ච ගුරුං කාඤ්චන සන්නිභං = දෙවියන්ට හා ඍෂීන්ට ගුරුවරයා වන්නා වූ ගුරු) ආසන දෙකක් අනතුරුව (ධනු මීන) පණවන්න. අවසාන ආසන දෙක (මකර කුම්භ) යාචකයාට (ශනෛශ්චර = ශනි ග්‍රහයාට) පිරිණමන්න.

ඉහත රූප සටහන හා අනතුරු දක් වූ කතාන්තරය මතකයේ තබාගැනීමෙන් ඔබට රාශීන්ගේ අධිපති ග්‍රහයින් කවුරුන්දැයි සොයාගත හැකිය. මෙම රාජ සභාවෙන් පිටමං කෙරුන ග්‍රහයින් දෙදෙනෙක් වෙයි. ඒ රාහු සහ කේතු යන ග්‍රහයින්ය. ඡයා ග්‍රහයින් වශයෙන් පමණක් හඳුනාගත හැකි බැවින් ඔවුනට නිත්‍ය හිමිකාරත්වයක් ඇති ගෘහයක් (රාශියක්) පිරිනැමිය නොහැකිය. ඊට හේතුව එයයි. තවද මීට පෙර අප ඉදිරිපත් කළ රූප සටහන අනුව අප හඳුනාගනු ලැබූ ග්‍රහයින් අතුරෙන් රාශි හිමිකාරත්වයක් නොමැති ග්‍රහයින් කිහිපදෙනෙකු වෙයි.

- ධූමකේතු හෙවත් වල්ගා තරු
- යුරේනස්
- නෙප්චූන්
- ප්ලූටෝ

පියසේන රතුවිතාන ශූරීන් ලංකා ජ්‍යොතිෂ සංග්‍රහයේ 2 වන කාණ්ඩයේ 05 වන කලාපයේ (2006 ඔක්තෝබර්) -ප්ලූටෝ නම් වූ ග්‍රහයා” නමින් පළ කරන ලද ලිපියේ දී දැක් වූ බෘහත් හෝරාවේ සිව්වන පරිච්ඡේදයේ වන ධූම, පරිවේශ හා ඉන්ද්‍රචාප (කුජ කර්මුඛ) යන ග්‍රහයින් තිදෙනෙකු පිළිබඳ සඳහන් කරන අතර ඔවුන් සඳහා ද නිශ්චිත රාශි හිමිකාරත්වයක් ඇති බවක් අප විසින් මෙතෙක් කියැවූ කිසිදු ජ්‍යොතිෂ ග්‍රන්ථයක දැක නැති අතර රතුවිනාත ශූරීන් ද ඒ බවක් සඳහන් කොට නැත.

තවද ලංකා ජ්‍යෝතිෂ සංග්‍රහයේ 2 වන කාණ්ඩයේ 05 වන කලාපයේ (2006 ඔක්තෝබර්) හෙක්ටර් පද්මසිරි මහතා පෙන්වා දී ඇති -2010 දී අයනාංශ සුන්වේද?" යන ලිපියේ දැක්වෙන අයනාංශ මුල්කර සිදුකරන ලද පර්යේශණ රැසක් හුදකලා මට්ටමින් පවතින බව පෙන්වා දිය යුතු වෙයි. නමුත් ඉංග්‍රීසි මාධ්‍යයෙන් පළවන වාර සඟරා, කෘතීන් හා අන්තර්ජාලය තුළ හැරුන විට අයනාංශ පිළිබඳ සිංහල මාධ්‍යයෙන් සිදුකරනු ලබන පර්යේෂණ හෝ විස්තර සහිත ලිපි ඉතා දුර්ලභ තත්වයක පවතී. Astrovision India නම් ආයතනයක් විසින් Astrovision නමින් ප්‍රකාශ කරන ලද ජ්‍යෝතිෂ මෘදුකාංග යක 'මාන්දි' නමින් නවග්‍රහයින්ට අමතරව දසවන ග්‍රහයෙකු සඳහන් කර ඇත. අද වෙළඳපොලේ ඇති බොහෝ ජ්‍යෝතිෂ මෘදුකාංග අතුරෙන් වඩාත් නිවැරදි සිංහල පලාඵල කථනයක් සිදුකරනු ලබන මෙම මෘදුකාංගය ආයනාංශ භේදය අනුව බී. වී. රාමන් B. V. Raman, ක්‍රිෂ්ණමූර්ති Krishnamurthi, ලහිරි Lahiri, චිත්‍රපක්‍ෂ Chithrapaksha සහ බටහිර Western (අයනාංශ සමග ගණිනා සායන කේන්ද්‍ර) යන ආකාර සතර අනුව නිර්මාණය කර ඇති අතර එහි දැක්වෙන මෙම මාන්දි නම් ග්‍රහයා පිළිබඳ සඳහන සාරාවලිය ඇසුරෙන් ඉදිරිපත් කෙරෙන්නක් බව පෙන්වා දී ඇත. නමුත් එම ග්‍රහයාට ද කිසිදු රාශි හිමිකාරත්වයක් පවරා නැත.

අප විසින් කරන ලද වෙළඳපොල මෘදුකාංග පිළිබඳ පර්යේෂණ අනුව මෘදුකාංගයකින් කේන්ද්‍රයක් සෑදීමට විනා කේන්ද්‍රයක පලාඵල පැවසීමට ඊට ඇති හැකියාව ඉතාමත් අවම ප්‍රතිශතයක් ගන්නා බවයි. ඊට ප්‍රධාන හේතුව ලෙස දැක්විය හැක්කේ පරිගණකයට තවමත් සිතීමේ ශක්තිය නොමැතිකමයි. නමුත් යම් දෙයක් පිළිබඳ සිතනවාට වඩා ඉක්මණින් මකයේ තැන්පත් කර ඇති දෙයක් මතකයට නගා ගැනීමට පරිගණකය අද

වන විට සමත්ව ඇති නමුත් අළුතෙන් සිතීමට ඊට තවමත් හැකියාව නැත.

රාශ්‍යාධිපති පොරොන්දම පිළිබඳ සැලකීමේ දී ඉහත මෘදුකාංග පිළිබඳ තොරතුරු දැක්වීම නිෂ්ඵල දෙක් ලෙස ඇතමෙකුට පෙනී යා හැක. මෙහි ඒ පිළිබඳ විස්තර දක්වන්නට යෙදුනේ නවග්‍රහ මණ්ඩලයට අමතර ග්‍රහයින් පිළිබඳ  තොරතුරු දැක්වීමේ අරමුණෙනි.

අපගේ රාශි පොරොන්දම පිළිබඳ වූ ලිපියේ දක් වූ රාශි ප්‍රභේද අනුව කවර නම් රාශියක් ලග්න, චන්ද්‍ර, සූර්‍ය, සිකුරු හා කුජ රාශි වන්නේ දැයි ප්‍රථමයෙන්ම සොයාගත යුතු වෙයි. උදාහරණයක් වශයෙන් පහත දැක්වෙන පුරුෂ කේන්ද්‍ර සටහන බලන්න. මෙම කේන්ද්‍ර හිමියා මිථුන ලග්නයෙන් උපත ලබා ඇත. ඒ අනුව ඔහුගේ ලග්න රාශිය මිථුන වන අතර එහි අධිපතියා බුධයි. මීළඟට බැලිය යුත්තේ චන්ද්‍ර රාශිය කුමක් ද කියාය. චන්ද්‍රයා ලග්නයේ තැන්පත් ව ඇති බැවින් ඔහුගේ චන්ද්‍ර රාශිය  මිථුන සහ අධිපතියා බුධයි. රවි කන්‍යා රාශියේ බැවින් සූර්‍ය රාශිය වන්නේ කන්‍යාවයි. එහි අධිපති බුධයි. සිකුරු සිංහ රාශි ගතව සිටිනා හෙයින් සිකුරු රාශි හෙවත් ශුක්‍ර රාශිය වන්නේ සිංහයයි. එහි අධිපති රවි ය. කුජ මිථුන රාශියේ බැවින් භෞම රාශිය හෙවත් කුජ රාශිය වන්නේ ද මිථුනයයි. අධිපති බුධම වෙයි.

| | | | |
|---|---|---|---|
| ශ | ච කු | කේ | |
| ශු | මිථුන ලග්නය | | ගු |
| ර | | | |
| බු | රා | | |

දැන් නැවත රාශි පොරොන්දම පිළිබඳ වූ ලිපිය මතකයට නගා ගනිමු. ඒ සමගම මෙම කේන්ද්‍ර සටහනට අනුව එම රාශි හා රාශි අධිපතියන් කවුරුන්දැයි සටහන් කර බලමු.

 රාශි ප්‍රභේද

| | | |
|---|---|---|
| ❑ ලග්න රාශි (පෞරුෂය) | මිථුන රාශිය | බුධ අධිපති |
| ❑ චන්ද්‍ර රාශි (හදවත) | මිථුන රාශිය | බුධ අධිපති |
| ❑ සූර්‍ය රාශි (ආත්ම විශ්වාසය) | කන්‍යා රාශිය | බුධ අධිපති |
| ❑ සිකුරු රාශි (ආදරය) | සිංහ රාශිය | රවි අධිපති |
| ❑ භෞම (කුජ) රාශි (කාමය) | මිථුන රාශිය | බුධ අධිපති |

මෙම කේන්ද්‍රහිමියාගේ පෞරුෂය, හදවත, ආත්ම විශ්වාසය හා කාමය නියෝජනය කරන්නේ බුධ ග්‍රහයාය. ආදරය පමණක් සිකුරු නියෝජනය කරයි. මෙම උදාහරණ පුරුෂ කේන්ද්‍ර සටහන මෙන්ම රාශ්‍යාධිපති පොරොන්දම පරීක්ෂාවේ දී ස්ත්‍රියගේ කේන්ද්‍රයෙහි ද මෙකී පස් ආකාර රාශ්‍යාධිපතියන් කවුරුන්දැයි නිශ්චය කර ගත යුතුවෙයි.

රාශ්‍යාධිපති පොරොන්දමෙහි දී ස්ත්‍රී පුරුෂ දෙදෙනාගේ කේන්ද්‍රයන්ගේ ගැලපීම කවර ආකාරදැයි පිරික්සීමට ප්‍රථම සැලකිය යුතු කරුණු රැසක් වෙයි. ඒවා මෙසේ දැක්විය හැකිය.

 රාශ්‍යාධිපති ග්‍රහ නාම

❑ රවි ❑ චන්ද්‍ර ❑ බුධ
❑ සිකුරු ❑ කුජ ❑ ගුරු
❑ ශනි

❖ රාශ්‍යාධිපති ග්‍රහ ස්වභාව

❖ රාශ්‍යාධිපති ග්‍රහයින්ගෙ භූත අධිපති

- රවි - තේජෝ (ගිණ්දර)
- චන්ද්‍ර - ආපෝ (ජලයට)
- බුධ - පඨවි (පොලවට තද දෙයට)
- සිකුරු - ආපෝ (ජලයට)
- කුජ - තේජෝ (ගිණ්දර)
- ගුරු - ආකාශ (ශූන්‍යත්වය)
- ශනි - වායෝ (පැතිරීම)

❖ රාශ්‍යාධිපති ග්‍රහයින්ගෙ ධාතු අධිපති

- රවි - ඇට
- චන්ද්‍ර - ලේ
- බුධ - සෙම
- සිකුරු - ශුක්‍ර
- කුජ - මිදුළු
- ගුරු - මේධ
- ශනි - ස්නායු

❖ රාශ්‍යාධිපති ග්‍රහයින්ගෙ තුන්දෙස් අධිපති

- වාත - සඳු සිකුරු බුධ ශනි
- පිත - රවි කුජ බුධ
- සෙම - සඳු සිකුරු බුධ ගුරු

❖ රාශ්‍යාධිපති ග්‍රහයින්ගෙ මූල ද්‍රව්‍ය අධිපතිතා

- රවි - තඹ
- චන්ද්‍ර - මැණික්
- බුධ - පිත්තල
- සිකුරු - මුතු

- ❑ කුජ - රත්‍රං
- ❑ ගුරු - රිදී
- ❑ ශනි - යකඩ

❖ රාශ්‍යාධිපති ග්‍රහ නිසර්ග ගති
- ❑ සුභ ග්‍රහයින්
- ❑ පාප ග්‍රහයින්

❖ රාශ්‍යාධිපති ග්‍රහ ලිංග භේදය
- ❑ ස්ත්‍රී ග්‍රහයින්
- ❑ පුරුෂ ග්‍රහයින්
- ❑ නපුංසක ග්‍රහයින්

❖ රාශ්‍යාධිපති ග්‍රහයා අනෙක් ග්‍රහයන් හා දක්වන මිත්‍රාමිත්‍රතා

♦ මිත්‍ර
- ❑ රවි - කුජ චන්ද්‍ර ගුරු
- ❑ චන්ද්‍ර - රවි බුධ
- ❑ බුධ - රවි සිකුරු
- ❑ සිකුරු - බුධ ශනි
- ❑ කුජ - රවි චන්ද්‍ර ගුරු
- ❑ ගුරු - රවි චන්ද්‍ර කුජ
- ❑ ශනි - බුධ සිකුරු

♦සතුරු
- ❑ රවි - සිකුරු ශනි සමග සතුරුයි
- ❑ චන්ද්‍ර - කිසිදු ග්‍රහයෙක් සමග සතුරු නැත
- ❑ බුධ - චන්ද්‍ර සමග සතුරුයි

- සිකුරු - රවි චන්ද්‍ර සමග සතුරුයි
- කුජ - බුධ සමග සතුරුයි
- ගුරු - බුධ සිකුරු සමග සතුරුයි
- ශනි - රවි චන්ද්‍ර කුජ සමග සතුරුයි

 සම

- රවි - බුධ රාහු සමග සමයි
- චන්ද්‍ර - සිකුරු කුජ ගුරු ශනි සමග සමයි
- බුධ - කුජ ගුරු ශනි සමග සමයි
- සිකුරු - කුජ ගුරු සමග සමයි
- කුජ - සිකුරු ශනි සමග සමයි
- ගුරු - ශනි සමග සමයි
- ශනි - ගුරු සමග සමයි

රාශ්‍යාධිපති ග්‍රහයින් ඒ ඒ රාශීන්හි දී දක්වන බල දුබලතා බොහෝ දුරට ජ්‍යෝතිෂඥයින් විසින් ඉතා සරලව ලග්න හා චන්ද්‍ර රාශි පමණක් රාශ්‍යාධිපති පොරොන්දමෙහි දී සලකා බලන නමුදු මෙම පස් ආකාර රාශි හා රාශ්‍යාධිපතියන් පිළිබඳ විමර්ශනය කළ යුතු වෙයි. මෙහි පවතින විද්‍යාත්මක පැතිකඩ අප විසින් සිදුකරන ලද පර්යේෂණ තුළින් අනාවරණය කර ඇත.

පර්යේෂණයට භාජනය කරන ලද කේන්ද්‍ර යුගල සංඛ්‍යාව 1,000

පර්යේෂණයට භාජනය කරන ලද කේන්ද්‍ර අතුරෙන්

රාශ්‍යාධිපති පොරොන්දම පිළිබඳ සංඛ්‍යාලේඛන

| රාශිය | සුභ | මධ්‍යස්ථ | අසුභ | අනු එකතුව |
|---|---|---|---|---|
| ලග්න රාශ්‍යාධිපති (පෞරුෂය) | 35% | 35% | 30% | 100% |
| චන්ද්‍ර රාශ්‍යාධිපති (හදවත) | 25% | 35% | 40% | 100% |
| සූර්‍ය රාශ්‍යාධිපති (ආත්ම විශ්වාසය) | 25% | 45% | 30% | 100% |
| සිකුරු රාශ්‍යාධිපති (ආදරය) | 35% | 40% | 25% | 100% |

| | | | | |
|---|---|---|---|---|
| ❑ භෞම (කුජ) රාශ්‍යාධිපති (කාමය) | 25% | 40% | 35% | 100% |
| ❖ එකතුව | 145/500 | 195/500 | 160/500 | 500 |
| ❑ රාශ්‍යාධිපති පොරොන්දමේ | | | | |
| සමස්ථ ගැලපීම | 29% | 39% | 32% | 100% |
| | 145/500 | 195/500 | 160/500 | 500 |

මෙම සියළු කරුණු පිළිබඳව විමර්ශනාත්මකව බැලීමේ දී පෙනී යන කරුණක් වන්නේ රාශ්‍යාධිපති පොරොන්දමේ දී මනෝවිද්‍යාත්මක විග්‍රහක් ස්ත්‍රී පරුෂ පුද්ගලයින් දෙදෙනෙකු අතර සිදුකරනු ලබන බවයි. එම විග්‍රහය පිළිබඳ ගැඹුරු දැක්මක් ඇතිව ස්ත්‍රී පුරුෂ පොරොන්දම් ගැළපීම සිදුකළ යුතු බව පෙන්වාදිය යුතුය.



# භෛරව දෝෂය හා භෛරව පූජාව විදු ඇසින්



පෘථිවිය පැතලි තැටියක් නොවන බව ඇරිස්ටෝටල් (්රසිඑදඑ්ක) හා ටොලමි (ඡඑදකැපහ) විසින් ලොවට අනාවරණය කරන ලදී. පසුකාලීනව කොපර්නිකස් (ක්‍දචැරබසජම්) සහ ගැලීලියෝ (ඨ්කසකැද) යන අය පෘථිවිය ස්ථාවර ගෝලීය හා කේන්ද්‍රීය ස්ථාවර වස්තුවක් ලෙස පෙන්වාදෙන ලදී. නිව්ටන් (හැඅඑදබ) සහ අයින්ස්ටයින් (ෑසබ්එැසබ) විසින් එම අදහස ප්‍රශ්න කිරීමට ලක් කරන ලද නමුත් නිශ්චිත අදහසක් ඉදිරිපත් කිරීමට උත්සුක නොවූහ. හ(ර්)බල් (යමඉඉකැ) දූරේක්ෂය නිපදවීමත්, පරිගණකය නිපදවීමත් සමග සහ 1988 වර්ෂය වන විට ලබාගත් නූතන

විද්‍යාත්මක දියුණුවත් හේතුවෙන් පෘථිවිය තමා වටා භ්‍රමණය වෙමින් සූර්යයා කේන්ද්‍ර කර ඉලිප්සීය ගමන් මගක් ඔස්සේ පරිභ්‍රමණය වන ගෝලාකාර වස්තුවක් බව නවීන විද්‍යානුකූල නිශ්චිත නිගමනයකට සමස්ථ ලෝකයා පැමිණ තිබේ. මෙම නිගමණයට පැමිණීමේ දී පෘථිවියේ ගෝලාකාර බව, ආනතීය භ්‍රමණය, ඉලිප්සීය පරිභ්‍රමණය, භූකේන්ද්‍රීය ධ්‍රැව ක්‍රියාකාරීත්වය, ගුරුත්වය හා චුම්බක බල රේඛා නිර්ණය යන කරුණු පිළිබඳ සවිඥාණික දෘෂ්ඨියක් මිනිසා ඇති කරගත්තේය.

ස්වභාවික විශ්ව ක්‍රියාකාරීත්වයට පරිබාහිරව මිනිස් ක්‍රියාකාරකම් ඉස්මතු වීම ඇරඹුනේ මානවයා ගින්දර සොයාගැනීමත් සමගය. එතැන් සිට රොකට්ටුවක නැග සඳ මතට පා තබන අවස්ථාව දක්වා මිනිසාගේ ක්‍රියාකාරකම් පිළිබඳ සමාලෝචනයක් කිරීම මෙහිදී අත්‍යවශය කරුණක් නොවේ.

බෞද්ධාගමික පැහැදිළි කිරීම්වලට අනුව ආභස්සර බ්‍රහ්ම ලෝකයේ සිට පෘථිවිය කරා පැමිණි ජීවීන් රස පොළව අනුභව කළ අවස්ථාවේ ඔවුන් තුළ ඇති වූ රසයට ලොල් බව හේතුවෙන් තෘෂ්ණාව පහළ වූ බව මජ්ඣිම නිකායේ චක්කවත්ති සීහනාද සූත්‍රයෙන් බුදුරදුන් පෙන්වාදී ඇත. එතැන් සිට පොළව හා තව තවත් බැඳීම් ඇති කරගනිමින් සත්වයා භූමියේ ස්වාමිත්වය තහවුරු කිරීම සඳහා සීමා මායිම් නිර්ණය කරනු ලැබිණ. මෙම සීමා මායිම් නිර්ණය කිරීම හේතුවෙන් හා ආරක්ෂාව හා වාසය සඳහා ගෘහයන් නිර්මාණය කිරීම ආරම්භ විය.

ක්‍රිස්තියානි බයිබලයේ දැක්වෙන පෘථිවි උප්පත්ති හා මැවීම් කථාවලට අනුව ආදම් සහ ඒව යන පෘථිවියේ පළමු මානවයින් දෙදෙනා ඔවුනට කෑමට තහනම් කරනු ලැබූ ගසේ ගෙඩි කෑ අවස්ථාවේ සිට මනුෂ්‍ය වර්ගයා තුළ තෘෂ්ණාව හා කෲරත්වය ඇති වූ බව එහි කියැවේ. ඒ කරණ කොට ලෝකය විනාශ කිරීම සඳහා දෙවියන් වහන්සේ විසින් මහා ජල ගැලීමක් ඇති කරන

ලදී. අනතුරු නෝවා නැමැත්තෙකු විසින් සාදන ලද නැවට නැගගත් ඔහු ප්‍රමුඛ සත්වයින් ජල ගැල්මෙන් බේරී ගත්තේය. එසේ මහා ජල ගැල්මෙන් බේරීගත් නොවා සහ ඔහුගේ පුතුන් තිදෙනා ඇතුළු සත්වයින් නැවත තෘෂ්ණාව හා කෲරත්වය කරා ඇදී ගියේය. මේ හේතුවෙන් දේවියන් වහන්සේ විසින් මවන ලද පොළවෙහි දෙවියන් විසින් ම මිනිසා ඇතුළු සත්වයා පරීක්ෂා කිරීමේ හා ඔවුනට දඬුවම් දීමේ අරමුණින් විවිධ වූ ප්‍රතික්‍රියාවන් ඇති කරවන ලද බව කියැවේ.

මේ ආදී වූ ආගමික දෘෂ්ඨීන්ගෙන් බැහැරව ඉහත කරුණු සලකා බැලීමේ දී නැවත එම සිදුවීම මෙසේ විස්තර කළ හැකිය. පෘථිවියේ යට කී ගෝලාකාර බව, භූකේන්ද්‍රීය ධ්‍රැව ක්‍රියාකාරීත්වය හෙවත් පෘථිවියේ කේන්ද්‍රාපසාරී ගුණය හේතුවෙන් ඇන්ටාටික් වෘතය හා ආක්ටික් වෘතය, දක්ෂිණ ධ්‍රැවය හා උත්තර ධ්‍රැවය වශයෙන් ක්‍රියාත්මක වීම, ආනතීය භ්‍රමණය හෙවත් මදක් ඇල වී (අංශක 23 1/2ක්) එහි උත්තර ධ්‍රැවය හා දක්ෂිණ ධ්‍රැවය අක්‍ෂය වශයෙන් ක්‍රියාත්මක වෙමින් තමා වටා කැරකීම, ඉලිප්සීය පරිභ්‍රමණය හෙවත් තමා වටා කැරකෙමින් ම සූර්‍ය්‍යා කේන්ද්‍ර කර ගනිමින් සෞරග්‍රහ මණ්ඩලය සිසාරා ඉලිප්සීය ගමන් මගක යාම, ගුරුත්වය හෙවත් පෘථිවිය මත ඇති වස්තූන් සහ ජීවීන් විශ්වයට ඇදී යා නොදී රඳවා තබා ගැනීමේ ශක්තිය හා චුම්බක බල රේඛා නිර්ණය හෙවත් ගුරුත්වය නිසා පොළව මත ඇති වන චුම්බක ක්ෂේත්‍රය යන කරුණුවල පවතින ස්වාභාවිකත්වයට එරෙහිව මිනිස් ක්‍රියාකාරකම්වල බලපෑම එල්ලවන අවස්ථාවන්හි දී එය තුළම නැතහොත් ස්වාභාවිකත්වය විසින් සමස්ථ ජීවී පද්ධතියටම එරෙහිව විෂම බල පන්තීන් ක්‍රියාත්මක කිරීම ඇරඹෙයි.

මෙසේ ඇතිවන විෂම බල පන්තීන් මර්ධනය කිරීමට විධික්‍රම සෙවීමෙහිලා මිනිසා නිරතවිය. ඇතැම් පිරිස් භෞතිකත්වය තුළින් ද තවත් පිරිසක් මිනිස් මනස දියුණු කිරීම තුළින් ද ඊට

පිළියම් සෙවීමෙහි නිරත විය.

අධි මානුෂීය යාතුකාර්මික අභිචාර විධීන් :ඡ්ර්-ඕහජයදකදට-සජ්ක ඍසඑම්කි* පිළිබඳ විද්‍යානුකූල විමර්ෂනයක යෙදීමේ අවශ්‍යතාව හෙවත් වැඩදායී බව මෙහිදී අපට ඉස්මතු කර දැක්විය හැකිය. විද්‍යානුකූල විමර්ෂනයක යෙදීමෙහි අවශ්‍යතාවයට හා ඵලදායීතාවයට හේතුව වන්නේ ඉතා සරල ස්වාභාවිකත්වය හා බද්ධ වූ ප්‍රතිපදාවක්, ක්‍රියා පටිපාටියක් අධි මානුෂීය යාතුකාර්මික අභිචාර විධීන් තුළ අන්තර්ගත වී තිබෙන බැවිනි. ඉතා සරළ උදාහරණයක් මේ සඳහා ඔබට පෙන්වාදිය හැකිය.

අනුරාධපුරයේ මහාවිහාර පුරාවිද්‍යා කැණීම් භූමියේ පිහිටි කැසිකිළියක් (මූත්‍රා කිරීම සඳහා භාවිත කෙරෙන ස්ථානයක්) හා එහි නිර්මාණාත්මක ව්‍යුහය පිළිබඳ සැකැස්මක් ගෙන බලමු. අංක 01 රූප සටහනෙහි දැක්වෙන එම නිර්මාණය මගින් ස්වභාවිකත්වයට කෙතරම් ගරු කර ඇත්ද යන්න විමසා බැලීම අගනේය.



ප්‍රසිද්ධ නගරයක මහජන කැසිකිළියක් අසළින් ගමන් කරන විට දී අපට එය හඳුනාගත හැකිය. හේතුව මූත්‍රාවලින් හමන දුර්ගන්ධයයි. එබඳු පවිත්‍ර නොකර ඇති කැසිකිළියක් නිරීක්ෂණයට භාජනය කිරීමෙන් එහි බිත්ති හා පොළව දිරායන

ආකාරය දැකගත හැකිය.

අනුරාධපුර මහාවිහාර පුරාවිද්‍යා කැණීම් භූමියේ කැසිකිළියත්, මහජන කැසිකිළියත් දෙකෙහි සෞඛ්‍යාරක්ෂිත භාවය පසෙක තබා ඉන් පරිසරයට වන හානිය විමසීමේ දී පෙනී යන්නේ මහාවිහාර කැසිකිලිය ඉතාමත් සෞඛ්‍යාරක්ෂිත මෙන්ම පරිසර හිතකාමී අන්දමින් නිර්මානය කර ඇති බවයි.

මෙම උදාහරණ දෙකින් එනම් අනුරාධපුර පුරාවිද්‍යා කැණීම් භූමියෙන් සොයාගත් කැසිකිළිය හා වත්මන් මහජන කැසිකිළිය මගින් වර්තමානයේ සහ අතීතයේ වැසිකිළි හා කැසිකිළි නිර්මාණයේදී අනුගමනය කෙරී ඇති පාරිසරික සාධක පිළිබඳ තැකීම අපට වටහා ගත හැකිය. අතීත හා වර්තමාන කැසිකිළි නිර්මාණාත්මක ක්‍රියාවලියේ දී මිනිසා ස්වාභාවිකත්වයට ගරුක-රීම කෙතෙරම් පැහැර හැර ඇති ද යන්න මෙයින් වටහා ගත හැකිය.

බහිරව දෝෂය හා බහිරව පූජාව පිළිබඳ විදු ඇසින් බැලීම පිළිබඳව කරුණු පවසන අතර අනුරාධපුර පුරාවිද්‍යා කැණීම් භූමියේ කැසිකිළියත් හා වත්මන් මහජන කැසිකිළියත් ගැන තොරතුරු දැක්වීමට අදහස් කළේ කරුණු දෙකක් හේතුවෙනි. ඉන් පළමුවැන්න, අතීත හා වර්තමාන මූලික මිනිස් අවශ්‍යතා සඳහා ඉදිකෙරෙන ගොඩනැගිලි තැනීමේ දී මිනිසා ඇතුළු සමස්ථ පාරිසරික හා ජීවි පද්ධතිය නොසළකා හැර ඇති බව පෙන්වා දීම ය. දෙවන කරුණ වන්නේ, එසේ මිනිසා ඇතුළු සමස්ථ පාරිසරික හා ජීවි පද්ධතිය නොසළකා හැරීම හේතුවෙන් අනිටු ඵල ඇතිවන බව පෙන්වා දීමය.

මේ අනුව පෙනීයන වැදගත් කරුණක් වන්නේ අධි මානුෂීය යාතුකාර්මික අභිචාර විධීන් (Para-Psychological Rituals) ස්වාභාවිකත්වය හා බද්ධ වූ ප්‍රතිපදාවක්, ක්‍රියා පටිපාටියක්

අනුගමනය කරන බැවින් පාරිසරික සමබරතාව රැකීමෙහිලා එය මහත් සේ දායක වේ.

මිනිස් ක්‍රියාකාරකම් හේතුවෙන් පෘථිවියේ ක්‍රියාත්මක වන්නා වූ චුම්බක ක්ෂේත්‍රයෙහි ඇතිවන විෂම බල පන්තීන් විශ්ලේෂණය කිරීම කෙරෙහි අවධානය යොමු කළ යුතුය. යම් භූමි භාගයක් පැළඉණි වැටකින් හෝ ප්‍රාකාරයකින් හෝ වෙන් කිරීම නිසා ඇතිවන විෂම බල පන්තීන් සමනය කිරීම සඳහා අධි මානුෂීය යාතුකාර්මික අභිචාර විධීන් (Para-Psychological Rituals) තුළ දැක ගැනීමට ඇති එක් ප්‍රතිකර්මයක් ලෙස භෛරව පූජාව පෙන්වාදිය හැකිය.

පෘථිවියේ චුම්භක උතුරු දිශාව හා සම්මත උතුරු දිශාව අතර පැහැදිළි වෙනසක් ඇති බව අප දනිමු. ධ්‍රැව මුල්කර පෘථිවියේ ආනතිය අනුව හා භ්‍රමණය වීමත් සූයර්යයාගේ ගුරුත්වය හේතුවෙන් සූයර්යයා වටා ඉලිප්සීය ගමන් මගක පෘථිවිය ගමන් කිරීමේ දී ඇතිවන ලප්පාවීම් ආදිය එම වෙනස ඇතිවීම කෙ-රෙහි බලපාන බව පෙන්වාදිය හැකිය.

යට කී ආකාරයේ සීමා මායිම් නිර්ණය කිරීම්, පැළඉණි වැට ඉදිකිරීම්, ප්‍රාකාර බැඳීම් ආදිය හේතුවෙන් පෘථිවියේ චුම්භක බලරේඛා වෙනස්වීම නිසා ක්‍රියාත්මක වන්නා වූ විෂම බල පන්තීන් පොළවේ භූ ගර්භය තුළින් පමණක් නොව දස දිශාවෙන්ම ඇතිවන්නේ පෘථිවිය විශ්ව අවකාශය තුළ පවතින වස්තුවක් බැවිනි. මෙසේ දස දිශාව මුල්කර ඇතිවන විෂම චුම්භක බල පන්තීන් භෛරව දෝෂ වශයෙන් අපට හඳුනාගත හැකිය. නමුත් ජ්‍යෝතිෂ විද්‍යාත්මකව හා මන්ත්‍ර විද්‍යාත්මකව මෙම දෝෂ සඳහා අධිපතීත්වය දරන විශේෂිත පුද්ගල කොට්ඨාශයක් වන බව සඳහන් වෙයි. එකී පුද්ගල කොට්ඨාශයන් දස දිග් පාල භෛරවයන් ලෙස ජ්‍යෝතිෂයේ දී හා මන්ත්‍ර විද්‍යාවේදී පෙන්වා දෙයි.

පොළවේ ඇතිවන භූ කම්පන, නායයෑම්, ගංවතුර, සුනාමි රළ නැගීම්, සුළි කුණාටු තත්වයන් මේ සෑම සිදුවීමක් ම මිනිස් ක්‍රියාකරකම්වල ප්‍රතිඵල ලෙස හෙවත් ප්‍රතික්‍රියා වශයෙන් ස්වාභාවිකත්වය තුළින් ඇතිවන තත්වයන් බව පිළිගැනීමට බටහිර පශ්චාත් නූතනවාදී සහ ඇතැම් ක්වොන්ටම්වාදී ගුරුකුළයන්ගේ සරණ ගියවුන් මැළි බවක් දක්වයි. ඇතැම් විටෙක ඔවුහු තම දැණුම සඳහා ලැබී ඇති සහතික හා සමාජ බුහුමන් නැමති පිටපොත්ත මෙම අදහස් පිළිගැනීමට යාමේ දී පළුදු වේ යැයි බියෙන් අධි මානුෂීය යාතුකාර්මික අභිචාර විධීන් ප්‍රතික්ෂේප කරන බව ඇඟවීමට උත්සාහ ගනී. බුදු වදනක ඇති ශ්‍රේෂ්ඨත්වය මෙහි දී පෙන්වා දිය යුතුය. ''බහුං වෙ සරණං යන්ති පබ්බතානි වනානි ච ආරම රුක්ඛ චෙත්‍යානි මනුස්සා භය තජ්ජිතා (මිනිසා භය සංත්‍රාසයට පත්වන අවස්ථාවන් හි දී පර්වත, වන ගහණ, ආරාමයන්, වෘක්ෂයන් හා චෛත්‍යස්ථානයන් පිහිට පතන' බව ඥහෙවත් මානසික බිඳවැටීම්වල දී අධි මානුෂීය අභිචාර විධීන් අනුගමනය කිරීමට යොමුවන බව% මින් කියැවේ)'' එවැනි අවස්ථාවල දී යට කී ඇතැම් ද පිරිස් අධි මානුෂීය යාතුකාර්මික අභිචාර විධීන් හොර රහසේම අනුගමනයට පෙළඹෙන මුත් ඒ බව යම් අවස්ථාවක ප්‍රසිද්ධියට පත් වන්නේ යැයි හැඟී යන ඕනෑම විටෙක දී ඊට ඉතා තදින් පහර ගැසීමට ඔවුහු පෙළඹෙති. මෙම තත්වය ලාංකීය සමාජය තුළ ද පැහැදිළිව දකගත හැකි කරුණකි.

දස දිග් පාල භෛරවයන් උදෙසා සිදුකරනු ලබන කන්නලව් කිරීම්, ඔවුන්ගේ වික්‍රමයන් වර්ණනා කිරීම්, පිදවිළි කැප කිරීම්, පිදවිළි හා බන්ධනය කිරීම් අවසානයේ භෛරව ගොටු සමගින් තුම්මන්සලකින්, දිය බස්නා තැනකින් හෝ පාළු පිටියකින් තබා ඒ දෙසවත් නොබළා පැමිණ දස දිශා ආරක්‍ෂා කොට නිධන්වස්තු තැන්පත් කර භෛරව පූජාව සිදු කරයි.

අප විසින් ''ජ්‍යෝතිෂය හා ධ්වනි ශක්තිය'' පිළිබඳ ජ්‍යෝතිෂ සංග්‍රහයේ පළ කළ ලිපියේ දී පෙන්වා දුන් පරිදි ධ්වනි ශක්තිය අනෙකුත් උපචාර කළමණා සමග භාවිත කොට යට කී විෂම චුම්භක බල පන්තීන් මර්ධනය කිරීමට සමත් ප්‍රතිබලයක් නිපදවීම සිදු කරනු ලබයි. මෙහිදී ප්‍රස්ථාර ගත කරන ලද ධ්වනි රටා වැඩිවාර ගණනක් ගායනය කිරීම මගින් පුද්ගල චිත්ත ශක්තිය හා බද්ධ කර (සිද්ධි කරගත් මන්ත්‍ර, තන්ත්‍ර, අෂ්ටක හා යාදිනි භාවිතයෙන්) මෙම ප්‍රතිබලය නිපදවනු ලැබේ.

මෙසේ නිපදවනු ලබන ප්‍රතිබලය දස දිශාවෙන් ක්‍රියාත්මක වන්නා වූ විෂම බල පන්තීන් වෙත යොමුකර චුම්භක නියාම ධර්ම භාවිත කොට එම විෂම බල පන්තීන් සමග බන්ධනය කිරීමක් සිදු කෙරෙයි. එසේ බන්ධනය කරන්නේ එහිලා භාවිත කෙරෙන තටුව නැතහොත් පූජාසනය සමගයි. අනතුරුව එම පූජාසනය තුම්මන්සලකින්, දිය බස්නා තැනකින් හෝ පාළු පිට්ටනියකින් තැබීම සිදු කරන්නේ දස දිශාවෙන් ක්‍රියාත්මක වන විෂම බල පන්තීන් නැවත මිනිසාට අහිතකර බලයන් ලෙස ක්‍රියාත්මක වීමට ඇති අවස්ථා වැළැක්වීමට ය.



# නැකැත් සත් විස්ස හා බැඳි

# රැකියාව, අධ්‍යාපනය



ඔබගේ විමර්ශන ඇස හෛරව දෝෂය හා හෛරව පූජාව කෙරෙහි යොමු කොට ඒ පිළිබඳව නව දෘෂ්ඨිකෝණයකින් බැලීමට මෙම ලිපියෙන් ඔබට ආරාධනා කරමි.

උසස් පෙළ විභාගය සමත් වුවත්, උපාධියක් ගත්තත් අනුනට අත නොපාන රැකියාවක් කර ගන්නපුළුවන් මට්ටමකට ජීවිතය ගොඩනගා ගැනීම ඉතාමත් අපහසු කාලයකයි අපි අද ජීවත් වෙන්නෙ. බොහෝ තරුණ තරුණියන්ට ප්‍රධාන ගැටළුවක් වී ඇත්තේතමුන්ගේ නොසැළකිල්ල මත හෝ ආර්ථික දුෂ්කරතා මත හෝ ලැබූ අඩු අධ්‍යාපනය නිසා හෝ "රැකියාවක් තෝරාග ැනීමේ දී කවර අංශයකින් තමුන්ගේ වෘත්තීමය අනාගතය

තීරණය කළ යුතුද?" යන්න විසඳාගැනීමකි.

මෙවැනි දරුවෙකුගේ අනාගගැන තීන්දු තීරණ ගනිද්දි ඔහුගේ හෝ ඇයගේ කේන්ද්‍රය බැලූ දෙමව්පියෙකු වේ නම් ඒ ඉතාමත් අතළොස්සක් දෙනෙකු පමණක් විය යුතුය. ඇතැම් දෙමව්පියන් තමුන්ගේ ආශාවන් මුදුන් පමුණුවන්නට දරුවන්ට උගන්වන්නට පෙර ඒ දරුවාගේ ආශාව හෝ හැකියාව කුමක් ද කියා විමසා බැලුවා නම්, අද මුහුණ දෙන ගැටලුවකට මුහුණ දීමට ඕවුන්ට සිදු නොවේ. ඊට හේතුව ඒ දරුවන්ගේ කැමැත්ත හෝ දරුවන්ගේ හැකියාව යොමු වුන දිශානතිය ඒ දරුවන්ගේ ජන්මපත්‍රයේ නැතහොත් විශ්ව ග්‍රහ සිතියමේ දැක්වෙන නිසාය.

යමෙකුගේ වෘත්තීමය අනාගතය සාර්ථක වීමේ පළමු අඩිතාලම ඔහුගේ පෞරුෂයයි. කේන්ද්‍රයේ පළමු කොටුව ඔහුගේ හෝ ඇයගේ පෞරුෂය පිළිබඳව ඉතා විශාල මානයක් විවර කර පෙන්වයි. පළමු කොටුව නියෝජනය කරන රාශිය අනතුරුව තවත් පැතිකඩක් පෙන්වා දෙයි. ඒ නම් පළමු කොටුව නියෝජනය කරන ග්‍රහයාගේ ස්වභාවය, ඔහුගේ බලය සහ ඔහු හිඳින ස්ථානයන්ය. ඒ අනුව එම පුද්ගලයාගේ පෞරුෂය පිළිබඳ නිවැරදි චිත්‍රයක් අපට නිර්මාණය කර ගත හැකි වේ. ඔහුගේ හෝ ඇයගේ පෞරුෂ රටාව හඳුනාගැනීමෙන් අනතුරුව, අප යොමු විය යුත්තේ ඔහුගේ ධනස්ථානයටයි. එසේම අයස්ථානය හා වැයස්ථානය ඇතුළුව ස්ථාන තුනම

පිළිබඳව යට දැක්වූ ආකාරයට කරුණු විමසිය යුතු වේ. මේ සියළු කරුණු විමසීමෙන් ඇනතුරුව ඔහුගේ කර්මස්ථානයේ නැතහොත් ඔහුගේ වෘත්තිය පිළිබඳව පැවසෙන කරුණු සෘජුව දැකගත හැකි ස්ථානය වන කේන්ද්‍රයේ දශ වන භාවයේ ස්වභාවය විමසීම අවශ්‍යයි.

ශ්‍රී මහේන්ද්‍රපාදයන් විසින් විරචිත 'හෝරාභරණයෙහි' විද්‍යාරම්භ විධි පිළිබඳව සඳහන් වන 13 වන පරිච්ඡේදයේ 97 වන ශ්ලෝකයේ සිට 113 වන ශ්ලෝකය දක්වා වන ශ්ලෝක සොළසකින් නැකැත් සත් විස්සෙන් පටන් ගත යුතු ශිල්ප කවරේදැයි පෙන්වා දී තිබේ. මෙම නැකැත් සත් විස්සෙන් පටන් ගත යුතු ශිල්ප එම නැකැත්වලින් උපන් අය විසින්ම කරනුයේ නම්, ඒ ඒ ශිල්පයෙහි ඔවුනට කෙළ පැමිණිය හැකි බව බොහෝ ජ්‍යෝතිෂඥයින් අතර තවමත් රහසකි.

යමෙකුගේ වෘත්තීමය අනාගතය පිළිබඳ කරුණු සෙවීමේ දී මෙම සත් විසි නැකැත්වලට නිසර්ගව හිමි වෘත්තීන් කවරේදැයි විමසීම අනිවාර්යයෙන්ම කළ යුතු කරුණකි. එබැවින් ජන්ම කේන්දරයේ එක, දෙක, එකොළහ සහ දහය වැනි භාවයන්ගෙන් කියැවෙන කරුණු සමගින් මෙම නැකැත් සත් විස්සට අදාළ කරුණු ද සමව ගෙන තුලනාත්මකව පලාඵල කීමෙන් මෙම ශාස්ත්‍රයෙහි සත්‍යතාවය තහවුරු කළ හැකිවා සේම ඊට කරන ලොකුම සේවය ද වෙයි. එබැවින් මෙතැන් සිට ඒ ඒ නැකැත්වලින් හදාළ යුතු ශාස්ත්‍ර කවරේදැයි දක්වා ඇති

කරුණු දක්වනු ලැබේ. ඔබේ උපන් නැකතට හිමි ක්ෂේත්‍රය කුමක් ද කියා එයින් ඔබට බලාගත හැකි වේවි.

- අස්විද - ආයුර්වේද/වෘක්ෂායුර්වේද/අසුන් නැගීම (රථවාහන හැසිරවීම)/නැකැත් ඉගෙනීම/(කාලගුණ විද්‍යා) ශකුණ නිමිති ඉගෙනීම
- බෙරණ - අසුන්, ඇතුන් හික්මවීම
- කැති - ගිණි සිසිළ කර්ම (අග්නි ස්ථම්භන - පහත රට නැටුම් ආදියෙහි යෙදෙන) අග්නි පූජා
- රෙහෙණ - නක්ෂත්‍රය/ නිමිති ශාස්ත්‍රය/ අර්ථ ශාස්ත්‍රය/ (ආර්ථික විද්‍යාව)/ කඩු ශිල්පය/ ආගමික න්‍යායන් ඉගැන්වීම (වේද ශාස්ත්‍ර)
- මුවසිරස - ඇතුන් අසුන් හික්මවීම (රථ වාහන හැසිරවීම) / මල්ලවපොර හා වෙනත් ආත්මාරක්ෂක සටන් කලාවන්/ සූප ශාස්ත්‍ර (ගෘහ විද්‍යා)/ සංගීතය ඉගැන්වීම
- අද - ඇතුන් අසුන් හික්මවීම (රථ වාහන හැසිරවීම)/ සූප/ මල්ලවපොර සහ වෙනත් ආත්මාරක්ෂක සටන් කලාවන්/ භරත නැටුම්/ ගණිතය ඉගෙන ගැනීම සහ ඉගැන්වීම/ කඩු ශිල්ප ඉගෙන ගැනීම සහ ඉගැන්වීම/ ශිවාගම ඉගෙන ගැනීම
- පුනාවස - නැටුම් සහ බෙර ගැසීමේ කලාව/ හස්ත

රේඛා ශාස්ත්‍ර/ ශබ්ධ ශාස්ත්‍ර (සෙත්කවි රචනය හා කියැවීම) / ව්‍යාකරණ ශාස්ත්‍ර/ නැකැත් ශාස්ත්‍ර (සුභ මුහුර්ථ සාධනය)/ සංගීතය/ නිමිති ශාස්ත්‍රය (අනාවැකි සහ අනාගත වාක්‍ය පැවසීම)/ තන්ත/ ශාස්ත්‍ර ගණිතය ඇසුරින් වෙනත් භාෂානුයුක්ත මන්ත්‍ර රචනය සහ ගායනය)/ මන්ත්‍ර ශාස්ත්‍ර/ ඖෂධ ශාස්ත්‍ර (ආයුර්වේදය)

- පුෂ - ඇතුන් හික්මවීම/ අසුන් හික්මවීම (රථවාහන හැසිරවීම)/ ගණිත ාස්ත්‍ර/ ආයුධ අභ්‍යාස (සියළු වර්ගයේ)/ බෙර වැයීම/ තාලය සම්බන්ධ ශාස්ත්‍ර/ හස්ථ රේඛා ශාස්ත්‍ර/ මල්ලවපොර සහ වෙනත් ආත්මාරක්‍ෂක සටන් කලාවන්/ නැටුම් සහ නාට්‍ය දැක්වීමෙහි/ සූප ශාස්ත්‍ර (ගෘහ විද්‍යා)/ නැකැත් හා වෙදකම
- අස්ලිස - (කාලගුණ විද්‍යා) ශකුණ නිමිති ඉගෙනීම/ විෂ වෙදකම (රසායනික විද්‍යා)/ ආගමික ඉතිහාසකරණය
- මා - පැවිද්ද/ ඉගැන්වීමෙහි/ ඉතිහාසය ඉගැන්වීමෙහි
- පුවපල් - මරණකර්ම කිරීමෙහි (අලුගෝසු හෝ වෙනත් මරණකර්ම කරනු ලබන වෘත්තීන්/ මන්ත්‍ර ප්‍රයෝග්‍ර තන්ත්‍රෝච්ඡාටන ශාස්ත
- උත්‍රපල් - ඇතුන් හික්මවීම/ අසුන් හික්මවීම (රථවාහන හැසිරවීම)/ දුනු ශිල්පයෙහි/ තර්ක

ශාස්ත්‍රයෙහි

- හත - නාට්‍යකරණයෙහි/ නිමිති ශාස්ත්‍රයෙහි/ හස්ථ රේඛා ශාස්ත්‍රයෙහි/ බෙර වැයුමෙහි/ නක්‍ෂත්‍ර විද්‍යාවෙහි/ වේදය ඉගෙනුමෙහි/ ගණිත ශාස්ත්‍රයෙහි/ ආයුධ ශිල්පයෙහි/ ව්‍යාකරණ ශාස්ත්‍රයෙහි
- සිත - විසිතුරු කර්මයෙහි/ තර්ක ශාස්ත්‍රයෙහි/ විෂ්ණු පුරාණාදී පුරාණ ග්‍රන්ථ හැදීරීමෙහි/ ගණිතයෙහි
- සා - ජ්‍යෝතිෂ ශාස්ත්‍රයෙහි/ ඇතුන් හික්මවීම/ ඇතුන් පිට නැගීම/ අසුන් හික්මවීම / අසුන් පිට නැගීම (රථවාහන හැසිරවීම)/ මල්ලවපොර සහ වෙනත් සටන් කලාවන් අධ්‍යයනයෙහි/ සංගීතය/ ආයුර්වේදය/ සූප ශාස්ත්‍රය
- විසා - ජ්‍යෝතිෂ ඉගෙනුමෙහි/ අහස් තරු පරීක්‍ෂා කිරීම ඇතුළු වන්නා වූ තාරකා විද්‍යාවෙහි
- අනුර - ශ්‍යාම වේදය නැතහොත් සතරවන වේදය හැදෑරීමෙහි/ නැකැත් ශාස්ත්‍ර ඉගෙණුමෙහි/ නීති ශාස්ත්‍ර ඉගෙණුමෙහි/ සූප ශාස්ත්‍ර ඉගෙණුමෙහි/ කාව්‍යකරණයෙහි/ නාට්‍යකරණයෙහි
- දෙට - රාජ නීති හැදෑරීමෙහි/ දුනු ශිල්ප හැදෑරීමෙහි/ ඉතිහාසය ඉගෙණීමෙහි
- මුල - ස්කන්ධ පුරාණ ඉගෙනීමෙහි/ බෙහෙත් සෑදීමෙහි

( රසායනික විද්‍යාවේ දී : වර්තමානයේ ෆාමසියක වැඩ කිරීම) මන්ත්‍ර ශිල්පයෙහි

- පුවසල - සර්ප විහිත ශාස්ත්‍ර ඉගෙණුමෙහි (රසායන විද්‍යාව ද ඇතුළත් වෙයි)/ ජල ස්ථම්භ (කිමිදුම් ශිල්යෙහි)
- උත්‍රසල - ඇතුන් අසුන් හික්මවීම (රථ වාහන හැසිරවීම)/ කඩු ශිල්පයෙහි/ අර්ථ ශාස්ත්‍රයෙහි (ආර්ථික විද්‍යා)/ මල්ලවපොර සහ වෙනත් සටන් කලාවන් අධ්‍යයනයෙහි
- සුවණ - ධර්ම ශාස්ත්‍ර හැදෑරීමෙහි/ මල්ලවපොර සහ වෙනත් සටන් කලාවන් අධ්‍යයනයෙහි/ ආයුධ ශිල්පයෙහි/ ඇත් අස් හරඹයෙහි (රථ වාහන හැසිරවීම)/ නැකැත් ශාස්ත්‍රයෙහි
- දෙනට - ගණිතායුර්වේදයෙහි (රසායනික විද්‍යා ගණිත කර්ම හැදෑරීමෙහි) ආයුර්වේදයෙහි
- සියාවස - ගෝ චිකිත්සා (පශු වෛද්‍ය කර්ම), යෝග ශාස්ත්‍ර, ඇතුන් හික්මවීම/ ඇතුන් පිට නැගීම/ අසුන් හික්මවීම / අසුන් පිට නැගීම (රථවාහන හැසිරවීම)
- පුවපුටුප - සූප ශාස්ත්‍ර/ මැණික් පිළිබඳ කටයුතු (භූගෝලීය රසායන විද්‍යා)
- උත්‍රපුටුප - ආයුධ ශිල්පයෙහි/ ධර්ම ශාස්ත්‍රෝද්ග හණයෙහි/ මල්ලවපොර සහ වෙනත් සටන් කලාවන් හැදෑරීමෙහි

• රේවතී - ගණිත කර්මයෙහි/ ආයුර්වේදයෙහි/ වාදන ශිල්පයෙහි/ මල්ලවපොර සහ වෙනත් සටන් කලාවන් හැදෑරීමෙහි/ ධර්ම ශාස්ත්‍ර හැදෑරීමෙහි/ ඇත් අස් හරඹයෙහි (රථ වාහන හැසිරවීම)

ඒ ඒ නැකැත්වලින් ඇරඹිය යුතු කාර්‍යයන් විශ්ව ග්‍රහ සිතියමේ නැතහොත් දරුවන්ගේ කේන්ද්‍ර සටහනේ දැක්වෙන වෘත්තීය අනාගතය පිළිබඳ විමසිය යුතු භාවස්ථාන පිළිබඳව ද කරුණු විමසා බලා පියවර ගැනීමට දෙමව්පියන් උනන්දු වන්නේ නම් එය යහපත් අනාගතයක් දරුවන්ට උරුම කර දීමකි.



# දේශපාලන ජ්‍යෝතිෂය



දුරාතීතයේ පටන්ම ජ්‍යෝතිෂය යන ව්‍යවහාරය සමාජය තුළ විවිධ වූ කතිකාවත් ඇසුරු කරමින් වර්ධනය වී ඇත. විවිධ වූ දෘෂ්ටී කෝණ ඇසුරින් එම කතිකාවත් නැවත නැවත ද විමසීමට ලක් කර ඇත. එකී කතිකාවත් දෙස වියුක්තව බැලීමේ දී නැතහොත් එම කතිකාවත්වලින් බැහැරව ඒ දෙස බැලීමේ දී පෙනීයන්නේ එම සෑම කතිකාවතක් තුළම යම් සුවිශේෂත්වයක් ගැබ්ව ඇති බවය. ජ්‍යෝතිෂය නම් වූ ව්‍යවහාරය තුළ ද එය දැකිය හැකිය. මෙහිලා පැහැදිලි කරගත යුතු කරුණු කිහිපයක් වෙයි. ජ්‍යෝතිෂය වනාහි සංස්කෘත නැතහොත් මිනිසා විසින් ගොඩනංවන ලද විෂයයකි. මෙම විෂය තුළ දර්ශනයක් සේම ප්‍රායෝගික භාවිතයක් ද වෙයි. දර්ශනය හා ප්‍රායෝගිකත්වය

තුළ පැහැදිලි වෙනසක් දැකිය හැකිය. එම වෙනස ඇතිවීමෙහිලා බලපාන ලද කරුණු පිළිබඳ සමාලෝචනයක් කරගත යුතුය.

ජ්‍යෝතිෂය පිළිබඳ ගැඹුරු වැටහීමක් සාමාන්‍ය ජනතාවට නොමැති වීම ඉන් පළමුවැන්නයි. ජ්‍යෝතිෂ පුවත් පත් ගණනා-වක් රටේ දක්නට තිබුණ ද සාමාන්‍ය ජනයාගේ ජ්‍යෝතිෂය පිළිබඳ සවිඥාණිකත්වය නැතහොත් දැනුවත්භාවය ඉතාම දුර්වල මට්ටමක පැවතීම දෙවැනි කරුණයි. තෙවන කරුණ ලෙස පෙන්වා දිය හැක්කේ ජ්‍යෝතිෂ දැනුමක් යම් පමණකට ඇති පිරිස මතවාදීව හෝ වෙනත් විවිධ වූ හේතූන් බලපෑනු ලැබීමෙන් ඔවුන්ගේ ජ්‍යෝතිෂ දැනුම අවුල් සහගත තත්වයක පැවතීමයි.

ජ්‍යෝතිෂවේදීන් පිළිබඳව බැලීමේ දී නැතහොත් ජ්‍යෝතිෂයෙහි නියැලී කටයුතු කරන පිරිස දෙස බැලීමේ දී පළමුව පෙනීයන කරුණක් වන්නේ ඔවුන්ගේ ජ්‍යෝතිෂය පිළිබඳ දැනුම් මට්ටම් එකිනෙකාට වෙනස්බවය. විවිධ දැණුම් මට්ටම් තුළ පසුවන්නන් කුලකගත කරන විට පහත දැක්වෙන කුලකයන්ට ඔවුන් ඇතුළත් කළ හැකි බව පහත වෙන්රූපයෙන් පෙන්වාදිය හැකිය.

1. ජ්‍යෝතිෂ මූලික දැනුම පමණක් ඇති අය
2. ජ්‍යෝතිෂ මූලික දැනුම සහ සමාජ දැනුම ඇති අය
3. ජ්‍යෝතිෂ මූලික දැනුම සහ වෙනත් විෂයානුබද්ධ දැනුම ඇති අය
4. ජ්‍යෝතිෂය පිළිබඳ මනා ශික්‍ෂණයක් ඇති අය
5. ජ්‍යෝතිෂය පිළිබඳ මනා ශික්‍ෂණයක් ඇති සමාජ දැනුමින් පිරිපුන් අය

6. ජ්‍යෝතිෂය පිළිබඳ මනා ශික්ෂණයක් ඇති වෙනත් විෂයානුබද්ධ දැනුමින් පිරිපුන් අය

7. ජ්‍යෝතිෂය පිළිබඳ මනා ශික්ෂණයක් ඇති සමාජ සහ වෙනත් විෂයානුබද්ධ දැනුමින් පිරිපුන් අය

විවිධ වූ බුද්ධිමය තලයන් නියෝජනය කරන්නා වූ ජ්‍යෝතිෂඥයින් වෙත යොමු වන පාරිභෝගිකයන් ද එම බුද්ධිමය තලයන් නියෝජනය කරන පිරිසක් වෙයි. ඔවුන්ගේ ජ්‍යෝතිෂ අවශ්‍යතාවන් සපුරාලීම එම ජ්‍යෝතිෂඥයින් සිදු කරනු ලබන්නේ තම තමුන්ගේ විවිධ වූ බුද්ධිමට්ටම් අනුවය.
මෙහිදී සිදුවන තවත් දෙයක් ඇත. එනම් මෙම බුද්ධිමය තලයන් වටා ගොණු වන දේශපාලනික කතිකාවතක් දැකගත හැකිය. බුද්ධිමය තල හා දේශපාලනය අතර සම්බන්ධතාවක් කෙසේ නම් ඇතිවන්නේ ද කියා ඔබට ගැටළුවක් පැන නැගිය හැකිය. එය සාධාරණය. දේශපාලනය සහ ජ්‍යෝතිෂය යන විෂයයන් දෙස එකවරම බලන විට දී කිසිදු සහ සම්බන්ධයක් නැති අංග දෙකක් ලෙස පෙනී යා හැකිය. නැතිනම් මැතිවරණ සමයක කවර දේශපාලන පක්ෂයක් ජය තහවුරු කරන්නේද යන්න පිළිබඳව ප්‍රකාශ කරන අනාවැකියකට හෝ ඇතැම් දේශපාලනඥයෙකුගේ ජන්ම කේන්ද්‍ර සටහනෙහි දැක්වෙන රාජ යෝගයක් පිළිබඳ විස්තර කෙරෙන ප්‍රකාශයකට පමණක් දේශපාලනය පිළිබඳ කතිකාව ජ්‍යෝතිෂය තුළ ලඝුකොට ඇත.

නමුත් ජ්‍යෝතිෂයෙහි විෂයගත දේශපාලනයක් දැකගත හැකිය. අධිපති මතවාද ක්‍රියාකාරීත්වය (Hegemony of Confederacy) හෙවත් එක් පාර්ශවයක් විසින් දරන ආකල්පය අනෙක් පාර්ශවයන් වෙත, පාලනය කිරීමේ අදහසින් හෝ වෙනයම්

මානසික රාමුවකට ඇතුළත් කිරීමේ අදහසින් කටයුතු කිරීම දේශපාලනික සංකල්පයක් බව මූලිකව පෙන්වාදිය යුතුය. එය ජ්‍යොතිෂය තුළ පමණක් දකගත හැකි සුවිශේෂී දෙයක් නොව සමස්ථ සමාජයීය විද්‍යාවන් ගණයට අයත් වන්නා වූ සෑම විෂයකටම පොදු ලක්ෂණයකි.

ජ්‍යොතිෂය තුළ මෙම අධිපති මතවාද ක්‍රියාකාරීත්වය යම් යම් ගුරුකුල පදනම් කර විටෙක ක්‍රියාත්මක වේ. බොහෝ අවස්ථාවන්හි මෙම ගුරුකුල පදනම් කරගත් අධිපති මතවාද ක්‍රියාකාරීත්වය ජ්‍යොතිෂයෙහි ස්කන්ධත්‍රයෙන් තන්ත්‍රස්කන්ධය භාවිතය තුළ ක්‍රියාත්මක වන බව අපට සුලබව දකගත හැකිය.

ලංකාවේ මෑත ඉතිහාසයේ ඉතාම මෑතක් වන තුරු ලිත්ගණිතය සම්බන්ධයෙන් පැවතියේ මෙම තත්වයයි. ඉතා ප්‍රසිද්ධ ලිත් අතර 'ඇපා, ඉරණම, විද්‍යාසාර හා ලංකා පඤ්චාඞ්ග ග්‍රහස්ඵුට' යන ලිත් වෙයි. මෙම ලිත් ප්‍රකාශනය තුළ ලිත් ගණිතය පිළිබඳ ගුරුමුෂ්ඨී ඒ ඒ ගුරු පරම්පරානුයාතව පවත්වාගෙන එන ලදී. ජ්‍යොතිෂය හදාරන එම ගුරු කුලයන්ගෙන් පරිබාහිර වූ අයෙකුට එම ලිත්ගණිතය පිළිබඳ දුරවබෝධය ලබාගැනීමට මගක් නොවීය.

පරිගණක භාවිතය සහ මුද්‍රණ විප්ලවය හේතුවෙන් අද වන විට ලිත් ප්‍රකාශනය ඉතාමත් සුලබ කරුණක් බවට පත්ව ඇත. මේ හේතුවෙන් ලිතක් මිලදී ගැනීමට හැකි ඕනෑම කෙනෙකුට ඉතා පහසුවෙන් ජ්‍යොතිෂඥයෙකු වීමට හොර පාරවල් විවෘතව ඇතැයි පැවසීම ශාස්ත්‍රයට කරන නිගාවක් ලෙස නොදකිමි. හේතුව වන්නේ ලිත්ගණිතයේ ගැඹුරු ගණිත සූත්‍ර පසෙක ලා ලිතක් හා පලාඵල පැවසීමේ කෘතියක් ලංකරගත් විට ඉතාමත් පහසුවෙන් යට කී ජ්‍යොතිෂඥයෙකු වීමට ඉතා කෙටි මඟක්

විවර වීමය. මෙය ඉතාම ලාභදායී ව්‍යාපාරයක් ලෙස ඇතමෙකු පවත්වාගෙන යයි. නමුත් මෙම තත්වය ඉතාමත් බැරෑරුම් සහගත ගැටළුවකට අපව යොමු කරවයි.

ඉතාමත් ගැඹුරු ශික්ෂණයකින් යුතුව පළල් වූ මනසකින් හා මනැසින් දකිමින් ක්ෂේත්‍රය තුළ කටයුතු කළ යුතු වුවත් වෙළඳපල න්‍යාය මත පදනම්ව මෙසේ බිහිවන ජ්‍යොතිෂඥයින්ගෙන් බොහෝවිට සිදුවන්නේ ක්ෂේත්‍රයේ පාරිභෝගිකයන් ක්ෂේත්‍රයෙන් ඉවත් කරලීමයි.

ඔබට 'ලංකා ජ්‍යොතිෂ සංග්‍රහයෙහි' වරින් වර විවිධ වූ ශාස්ත්‍රහිතකාමී ශාස්ත්‍රවන්තයන් විසින් පළ කරන ලද ලිපි ඇසුරෙන් පෙර ලංකාවේ විසූ කොත්මලේ ගණිතයා, තංගල්ලේ සිටිනාමළුවේ බරණ ගණිතයා යනාදී ජ්‍යොතිෂඥයින් කිහිපදෙනෙකු හඳුන්වා දුන් බව ඔබට මතක ඇතැයි සිතමු. ඔවුන් මුද්‍රිත හෝ අච්චු ගසන ලද ලිත් භාවිත කළ බවක් අසා නැත්තෙමු. අතේ ඇඟිළි පුරුක් ගණනය කිරීමෙන්, ළමයෙකු උපන්වේලාව රාත්‍රියේ නම් එකෙණෙහි කපන ලද කෙසෙල් ගස දළු ලා වැඩුනු ප්‍රමාණය මැණ බලා සෑදූ කේන්ද්‍රයේ ග්‍රහයින් පිහිටවීමත්, දිවා කාලයේ සිදු වූ දරු උපතක් නම් සූර්යයාගේ ගමන අනුව යම් වස්තුවක සෙවනැල්ල (බොහෝ විට මේ සඳහා භාවිත කරන ලද්දේ මිනිසාගේ සෙවනැල්ල මිනිස් පියවරවලින් ගණනය කිරීමෙනි) මැණ බලා සෑදූ කේන්ද්‍රයේ ග්‍රහයින් පිහිටවීමත් ඔවුනට ඉතා සුළු කාර්යයක් විය. ඔවුහු තන්ත්‍රස්කන්ධය මත විනා අන් කිසිවෙකු මත යැපුනවුන් නොවීය.

ලිතක් මත යැපීමට සිදුවීම හා ගණක යන්ත්‍රයක් හෝ පරිඝනකයක් භාවිත කිරීම එක් අතකින් පහසු හා වේලාව

ඉතිරිකරන මාර්ගයක් ලෙස ඇතමෙකුට පෙන්වාදිය හැකිය. එය සත්‍ය කරුණකි. අද සමාජය දෙස බැලීමේ දී කාලය රන්වලටත් වඩා වටින කාලයක් බව සනාථ කරුණකි.

ජ්‍යෝතිෂය වනාහි සාගරය බඳු වූ එකකි. තමන් ජ්‍යෝතිෂය පිළිබඳ දත් ඥාණය අබ පියල්ලකින් මැණිය හැකි දියත්තක් බව හඟිනා කෙනෙකු තරමට නිහතමානී වන අය සොයා ගැනීම ඉතාම දුර්ලභ කරුණකි. නමුත් ඇතැම් අවස්ථාවල ගහ දන්නා අයට කොල කඩා පෙන්වීමක් ඇතැම් තැනක සිදුවීමට ඉඩ ඇත.

එවැනි අවස්ථාවක යට කී අධිපති මතවාදයේ නොගැලී කරුණු කාරණා සන්සන්දනාත්මකව විමසා බැලීමකට හෝ විමර්ශන බුද්ධිය දල්වා කටයුතු කිරීමට යොමුවිය හැකි නම් ජ්‍යෝතිෂය තුළ පමණක් නොව ඕනෑම සමාජයීය විෂයයක් තුළ එහි අධිපති මතවාදයට යටවීමකට ඉඩක් නොලැබේ.

එසේම තවත් විටෙක කර්මය, කර්ම ඵලය යන උභය ක්‍රියාවන් මත සිදුවන විශ්ව ක්‍රියාවලිය විශ්වීය වස්තූන්ගේ සංසරණයක් ඇසුරෙන් තෝරාගැනීම නැතහොත් විග්‍රහ කරගැනීම සඳහා භාවිත කරන යම් න්‍යායක් (මෙය වනාහි ජ්‍යෝතිෂ විෂය ලෙස පෙන්වාදිය හැකිය) පිළිබඳව වැරදි ආකල්පයක ගැලී කටයුතු කිරීම දැකිය හැකිය. මෙය ද භෞතික විද්‍යාවේ දී පැහැදිළි කරන ක්වොන්ටම්වාදී (Quantum) මතවාද ඔස්සේ විඥ්ඥාණවාදී න්‍යායන් බැහැර කිරීමේ අදහසින් බටහිර ගැති ඇතැම් දේශීය බටහිර උගතුන් විසින් ගොඩනගන ලද අධිපති මතවාදයක් ලෙස පෙන්වාදිය හැකිය.

නමුත් මේ වන විට බටහිර ක්වොන්ටම්වාදී (Quantum) මතවාද තලයේ මෙම තත්වය බැහැර වී ඇති බව ශ්‍රී ලාංකික

වෛද්‍යවරියක් විසින් ලද (Near Death Experience) මරණාසන්න අත්දැකීමක් පාදක කොට 2006 ඔක්තෝබර් මස 22 වන ඉරු දින ජාතික පුවත් පතක පළ වූ ලිපියකින් පෙන්වා දී තිබුණි.

මෙම කර්මය, කර්ම ඵලය යන සංසිද්ධීන් මුල්කරගත් අදහස ඉස්මතු කිරීමට අදහස් කරන ලද්දේ මේ තුළ පවතින දේශපාලනික ක්‍රියාදායම විවරණය කර ගැනීමේ අදහසිනි. 2004 මැයි මස රත්නපුරය අවට සිදු වූ මහා ජල ගැලීමත්, එම වසරේම දෙසැම්බර් මස මුහුණ දුන් සුනාමි ව්‍යසනයත් ඔබට මතක ඇතැයි සිතමු.

2005 වසරේ පකිස්ථානයේ සිදු වූ මහා භූමිකම්පාව ඔබට සිහිපත් කරමි. එසේම ඇමරිකා එක්සත් ජනපදය හරහා හමා ගිය දවැන්ත සුළි කුණාටු තත්වයන් ද ඔබට සිහිපත් කරමු. මේ දිනවල ලංකාව, ඉන්දියාව, බංගලාදේශය හා තවත් රටවල් ගණනාවක ඇදහැලෙන ධාරානිපාත වර්ෂාව හේතුවෙන් ජලගැලීම් තත්වයන් ද සිහිපත් කරගමු. මෙම සියළු ස්වාභාවික ව්‍යසනයන්ට මුහුණ දුන් මිනිසුන්ගේ ඉරණම කවර ආකාරයකට ඔවුනගේ කේන්ද්‍ර සටහන්වල ඇඳී තිබුනේද යන්න ඔබට මෙන්ම අපට ද ඇතැම් විටෙක පුදුම එළවන සුළුය.

අප බොහෝ විට කේන්ද්‍ර නැතහොත් ජන්මපත්‍ර වෙත යොමුවන්නේ කර්ම ඵලය අත් විඳිනා අවස්ථාවේ හෝ ඉන් පසුවයි. ඉන් පසුව පශ්චාත් මරණ පරීක්ෂණ පවත්වන අයුරින් අප කේන්ද්‍ර සටහන් තුළ යට කී කර්ම ඵලය ඔවුනට අත්විඳීමට තිබුනේ ද යන්න විමර්ශනය කිරීමට පෙළඹී සිටිමු.

ළදරු හා ශයන දශකයන් තුළ ජීවිත ගෙවන පුද්ගලයන් හැර අන් පුද්ගලයන්ට අදාළව මෙම කේන්ද්‍ර ඇසුරින් සිදු

කරන පශ්චාත් මරණ පරීක්ෂණ හෝ රහස් පරීක්ෂක පරීක්ෂණ අදාළත්වයක් දරන්නේ සියයට 60%ක ප්‍රමාණයක් පමණක් බව අවධාරණය කරගත යුතුය. ඊට හේතුව ළදරු අවධියේ හා ශයන දශකයේ ජීවිත ගෙවන පුද්ගලයන්ට චේතනාත්මකව යම් ක්‍රියාවක් සිදුකිරීම (චේතනාහං භික්ඛවේ කම්මං වදාමි - බුදුරජාණන් වහන්සේ) ට ඇති හැකියාව ඉතා විරළ වීමයි.

මේ තත්වය තුළ ඉහත ආකාරයේ ව්‍යසනයක දී කටයුතු කිරීමට පෙළඹී සිටින්නේ ස්වාභාවික ව්‍යසනයන්ට ගොදුරුවීම කර්මඵලයේ ස්වභාවය අනුව සිදු වූවක් බව තහවුරු කර දක්වීමටය. එය බොහෝ දෙනෙකු පිළිගන්නා සත්‍යක් බවට පත්ව ඇත. නමුත් යම් පිරිසක් එකට එක්ව සිදුකරනු ලබන යම් කර්මයක් වේ යයි අපි සිතමු. එයට අනුරූප විපාක ස්වාභාවික ව්‍යසන ආකාරයට ක්‍රියාත්මක වන බවට පන්සිය පණස් ජාතක පොතෙන් කදිම උදාහරණ ගත හැකිය.

මෙසේ ප්‍රකාශ කරන විට ඇතමෙකු පන්සිය පණස් ජාතක පොත බුද්ධ භාෂිතයක් නොවේ යයි පෙන්වාදීමට උත්සාහ දැරිය හැකිය. අප පන්සිය පණස් ජාතක පොත උදාහරණය වශයෙන් පෙන්වාදීමට අදහස් කරන ලද්දේ එය ඒ තුළ පවතින සමාජ විද්‍යාත්මක සමාජ චරණය තුළින් ගත හැකි උදාහරණය ඉස්මතු කොට දක්වීමට මිස එය බුද්ධ භාෂිතයක් ද නැතහොත් ශ්‍රාවක භාෂිතයක් ද යන්න තහවුරු කිරීමට නොවේ.

අධිපති මතවාද ක්‍රියාකාරීත්වය පිළිබඳ තත්වය පමණක් නොව, තවද දේශපාලනික න්‍යායයන් රැසක් ජ්‍යෝතිෂයය තුළ ක්‍රියාත්මක වන බව අපට පෙන්වාදිය හැකිය.

පක්ෂ දේශපාලනය යන්න අප බොහෝ දෙනෙකුට ඉතා

සමීප සංකල්පයකි. ජෝ්‍යතිෂයෙහි මෙම පක්‍ෂ දේශපාලනය ක්‍රියාත්මක වනුයේ ගුරුකුල පදනම් කරගෙනය.

ප්‍රධාන ධාරාවන් දෙකක් මෙම ජ්‍යොතිෂයෙහි පක්‍ෂ නියෙ-ර්ජනයක් දරනු ලබයි. දල කේන්ද්‍ර භාවිතා කරන සහ භාව කේන්ද්‍ර භාවිතා කරන එම පක්‍ෂ දෙක බොහෝ විට පක්‍ෂග්‍රාහී මතවාද ක්‍රියාත්මක කරනු ලබයි. මෙලෙස පක්‍ෂග්‍රාහී මතවාද තුළ ඇතැම් තැනක කේන්ද්‍රයේ කොටු දොළස ගණිනා දිශාව මුල්කරගෙන ද මතවාද බිහිවී ඇත. තව ද විටෙක භාව කේන්ද්‍රය තුළ ද ආරම්භ විරාම සහ මධ්‍ය සන්ධි ගණනය සම්බන්ධයෙන් මතවාද බිහිව ඇත.

එසේම ස්පුඨ ගණනයේ දී අයනාංශ ප්‍රමාණයන් මත සිදු කෙ-රෙන සායන නිරයන භේදය ද මුල්කර මතවාද බිහිව ඇත. මෙසේ අයනාංශ මුල්කර බිහිව ඇති මතවාද සායන හා නිරයන යනුවෙන් උභයතාවක් ගනු ලබන කල්හි ඒ තුළ දැකගත හැකි ප්‍රභේද කිහිපයක් වෙයි.

1. චිත්‍රපක්‍ෂ
2. රාමන්
3. ක්‍රිෂ්ණ මූර්ති
4. සායන හෙවත් බටහිර අයනාංශ සමග සිදුකරන ගනනය කිරීම් යනාදී සිව් ආකාර අයනාංශ භේදයක් දැකගත හැකිය.

තවත් විටෙක මහා නක්‍ෂත්‍රය හා චූල නක්‍ෂත්‍රය මුල්කර සුභ මුහුර්ථ සාධනයේ දී ද විවිධ මතවාද දැකගත හැකිය. මේ ආකාර සියළු භේද මුල් කර පක්‍ෂ දේශපාලනයක් ජ්‍යොතිෂයෙහි ක්‍රියාත්මක බව පැවසුවහොත් නම් ඔබ ඊට එකඟවනු ඇත.

මෙම කතිකාව සමග ඔබට එකඟවීමට හෝ නොවීමට ඉඩකඩ ඇතිබව දනිමු. එසේම මෙම කතිකාවත පිළිබඳ ඔබට අදහස් ඉදිරිපත් කරන්නේ ජ්‍යෝතිෂය න්‍යාය සහ ව්‍යවහාරය තුළ ක්‍රියාත්මක වන දේශපාලනික භාවිතාව පිළිබඳ ඔබේ නෙත් විවර කොට ජ්‍යෝතිෂය විෂයය දෙස විවිධ වූ දෘෂ්ඨිකෝණ ඔස්සේ විමසා බැලීමට ඔබ යොමු කිරීම සඳහාය.



# සමාජ ගැටළුවක් ලෙස 'විවාහය ප්‍රමාද වීම' විදු ඇසින්



සමාජ ගැටළුවක් යනු, යම් භූගෝලීය සීමාවක වාසය කරන ජන කොටසක් කෙරෙහි එම ජන කොට්ඨාශයේ පැවැත්මට (සමාජ සතත්වය) බාධා ඇති කරවන සේම එහි ගලායාම (සමාජ ගතිකත්වය) අඩපණ කරවන යම් ක්‍රියාවලියක් හැඳින්වීම සඳහා සමාජ මානව විද්‍යාඥයින් විසින් භාවිත කරන ලද පර්යාය පදයකි.

යථෝක්ත සංසිද්ධිය හඳුනාගෙන එකී සංසිද්ධිමය වටාපිටාව වෙනස් කිරීමෙහි ලා ක්‍රියාකාරී වන්නන්ට තත්වය පැහැදිළි කිරීම සඳහා භාවිත කරන පර්යාය පදය සාමාන්‍යකරණයකට ලක් වීම අද්‍යතන සමාජය තුළ දැකිය හැකිය. සමාජ මානව විද්‍යාඥයින් සමාජය තුළ ඇතිවන විවිධ වූ සමාජ ප්‍රශ්න කෙ-රෙහි සිය දෘෂ්ඨි කෝණයෙන් විවිධ විමර්ෂණයන් කරමින් එහි ලා පිළිතුරු සෙවීමෙහි යෙදී සිටිති.

මේ අතර දේශපාලනඥයින් තමුන් පාලනය කරන භූගෝලීය සීමාව තුළ වෙසෙන ජනතාවගේ යට කී ආකාරයෙන් පැණ නැගෙන විවිධ වූ ගැටළු නිරාකරණය සඳහා දේශපාලනමය විසඳුම් සෙවීමෙහි නිරතව සිටිති. මෙබඳු සමාජ ගැටළු විටෙක ඉතා බැරෑරුම් අවස්ථාවන් කරා යොමු කරවීමට පවා හේතුවන බව අපට නොරහසකි.

මිනිසා ප්‍රාග් ඓතිහාසික යුගයේ පටන්ම සමාජය තුළ කායික අවශ්‍යතා පිළිබඳ සංකල්පයත්, ආරක්ෂාව පිළිබඳ සංකල්පයත් යන අවශ්‍යතා දෙක කෙරෙහි පමණක් සීමා වූ තත්වයක් දැකගත හැකිව තිබූ බව පෙන්වාදිය හැකිය.

- ❖ පිරිසිදු වාතය,
- ❖ ජලය,
- ❖ ආහාර,
- ❖ වස්ත්‍ර,
- ❖ ඖෂධ,
- ❖ නිවාස, යන

මූලික යන මූලික අවශ්‍යතා සම්පූර්ණ කිරීමෙහිලා ප්‍රාග් ඓතිහාසිත සමාජගත මිනිසා යොමු වූ අතර,

- ❖ ඉඩකඩ (ජීවත් වීමට සහ ආහාර සපයාගැනීමට),
- ❖ නීරෝගීභාවය,
- ❖ ශරීර ක්‍රියාකාරීත්වයේ නිසි පැවැත්ම තහවුරුකරණයට අවශ්‍ය ව්‍යායාම් ආදිය,
- ❖ ලිංගික තෘප්තිය,

❖ විවේකය යන අවශ්‍යතා කෙරෙහි දෙවනුව යොමුවන මිනිසා එකී අවශ්‍යතා පූර්ණත්වයට පත්කරගැනීම සඳහා ශිෂ්ට

සම්මත ක්‍රියාමාර්ගවලට එළැඹීමත් සමග මිනිසා ශිෂ්ටාචාරගත වූවා යයි සමාජය විසින් පෙන්වාදෙනු ලබයි. මේ සමගම ආරක්ෂාව පිළිබඳ අවශ්‍යතාවය ප්‍රාග් ඓතිහාසික යුගයේ සිටම මිනිසා සතු කරගැනීමට යොමු වූ අතර එහි මූලික පියවර ලෙසින් විවාහය නැමති සමාජ සංස්ථාව ගොඩනැගීම දැකිය හැකිය.

මෙම ද්වි අවශ්‍යතාත්මක තත්වයන් නොමැති කල මිනිසා ප්‍රාථමික වශයෙන් පමණක් නොව ශිෂ්ටාචාරගත වර්ථමාන ලෝකය තුළද මිනිසාගේ මනුෂ්‍යත්වයේ සීමාවන් ඉක්මවා යන තත්වයක් දැකිය හැකි වීම මෙහිදී අවධාරණය කළ යුතු කරුණකි. අනතුරුව මිනිසාගේ තෙවන, සිව්වන සහ පස්වන අවශ්‍යතා සම්පූර්ණ කරගැනීම යනු පුද්ගලයාගේ මානසික ආකල්ප මත ගොඩ නැගෙනු ලබන අවශ්‍යතාත්මක තත්වයක් ලෙස පෙන්වාදිය හැකිය.

මෙබඳු වූ සමාජ පසුතලයක පුද්ගලබද්ධව පවතින්නා වූ අස-හනකාරී වාතාවරණමය තත්වයන් සමාජ ගැටළු බවට පත්වන බව මෙහිදී අපට පැහැදිළි කර ගත හැකිය.

මෙම සමාජ මානව විද්‍යාත්මක පූර්විකාව ඔබට ඉදිරිපත් කිරීමට අදහස් කරන ලද්දේ විවාහය නැමති සමාජමය සංසිද්ධිය වටා ගොණු වී ඇති කරුණු පිළිබඳ චිත්‍රයක් ඔබේ සිතෙහි මවා ගැනීමට පහසු ඉඩක් විවර කර දීමටය.

විවහය නැමති සමාජ සංසිද්ධිය මූලිකවම කේන්ද්‍ර ගත වන ක්‍රියා මාලාවක් වෙයි. මෙම සමාජ ක්‍රියා මාලාව මූලිකව පහද දැක්වෙන වර්ගීකරණයට ලක් කළ හැකිය.

❖ මිනිසාගේ මූලික අවශ්‍යතා පූරණය (ලිංගික ක්‍රියාවලිය හා ලිංගික තෘප්තිය ලැබීම)
❖ වර්ගයාගේ පැවැත්ම තහවුරු කිරීම
❖ වර්ගයාගේ ප්‍රති නිෂ්පාදන ක්‍රියාව

මෙම ක්‍රියාදාමයන් ඔස්සේ විවාහයට එළැඹෙන මානවයා ඊට නතුවන වයස් කාණ්ඩයක් සම්මත කර ඇත. මෙම වයස් කාණ්ඩයේ පසුවන සාමාජිකයන් විවාහයට යොමුවීම මූලිකව ස්ත්‍රියකගේ මුල් ආර්තවය පදනම් කර ඇති බව දැකගත හැකි කරුණකි.

ස්ත්‍රියක් තමුන් වර්ගයාගේ ප්‍රතිනිෂ්පාදන ක්‍රියාවලියට යෝග්‍යතාවය පළමු ආර්තවයෙන් ලබන අතර ආර්තවහරණය දක්වා කාල වකවානුව විවාහය සඳහා සම්මත වයස් කාණ්ඩය ලෙස ජීව විද්‍යාත්මක පනදමකින් යුතුව අපට පෙන්වාදිය හැකිය.

සාමාන්‍යයෙන් ස්ත්‍රියකගේ වයස අවුරුදු 10 සිට 20 දක්වා වූ දශකය (අසාමාන්‍ය තත්වයන් යටතේ මීට ප්‍රථමයෙන් පළමු ආර්තවය සිදුවන අවස්ථා ඇති බව සමාජය තුළ දැකගත හැකි කරුණකි) පළමු ආර්තවය දක්වන අතර වයස අවුරුදු 40 සිට 50 දක්වා වූ දශකය (අසාමාන්‍ය තත්වයන් යටතේ ආර්තවහරණය ද මීට පසු කාලයක් දක්වා පැවතීම ද සිදුවන අවස්ථා ඇති බව සමාජය තුළ දැකගත හැකි තව ද කරුණකි) තුළ ආර්තවහරණය වීම දැකගත හැකිය. මෙම කාලය තුළ පළමු ආර්තවය හා ආර්තවහරණය අතර කාල වකවානුව අවුරුදු 40ක කාලයක් ස්ත්‍රියකගේ සරු කාලය ලෙස දැක්විය හැකිය. මෙම සරු කාලයෙන් අර්ධයක් නැතහොත් අවුරුදු 20ක් ගත වූ වයස ලෙස අවුරුදු 30 දැක්විය හැකිය. මෙම කාලය තෙක්

විවාහයකට එළැඹීම ප්‍රමාදවීම විවාහය ඇත්තෙන්ම ප්‍රමාද වන තත්වයක් ලෙස පෙන්වාදිය හැකිය.

මෙහිලා බලපාන හේතු සාධක විවිධය. පවුල් පසුබිම, අධ්‍යාපන රටාව, ආර්ථිකය, සමාජ පරිසරය ආදී විවිධ කරුණු මෙහිලා බලපෑම් සහගතව ක්‍රියාත්මක වන බව නොරහසකි. නමුත් මෙම තත්වය ජ්‍යෝතිර්විද්‍යානුකූල පදනමකින් විග්‍රහ කර ගැනීම තුළ අපට ඒ සඳහා ප්‍රතිකර්ම කෙරෙහි යොමු වීමට තවත් ඉඩක් පෙන්වාදෙන බව කිව යුතුය. පුද්ගලයා විසින් සිදුකරනු ලබන ක්‍රියාවන්ට අනුරූප විපාකයන් නියෝජනය කරමින් පුද්ගල ජන්ම පත්‍රයක ග්‍රහ පිහිටීම් ඇතිවෙයි. විශ්ව ග්‍රහ තාරකා සිතියම වශයෙන් හැඳින්විය හැකි පුද්ගල ජන්ම පත්‍රයකින් යථෝක්ත ක්‍රියා විපාක හඳුනාගත හැකි අතර එහිලා අනුයුක්ත කිරීමෙහි අභිප්‍රේරිත ප්‍රතිකර්ම ජ්‍යෝතිර්විද්‍යානුකූලව යාතුකර්ම ගණයට ඇතුළත් වන බව පෙන්වාදිය හැකිය. නමුත් මූලික සමාජ තත්වයන් හා ආර්ථික දේශපාලනික හේතුසාධක මෙහිදී විමර්ෂණයට ලක් නොකරන බව අවධාරණය කළ යුතුය.

විශ්ව ග්‍රහ තාරකා සිතියමකින් හඳුනාගන්නා පුද්ගල ක්‍රියා විපාකයන්ගේ තත්වයන් වෙනස් කිරීම සඳහා ජ්‍යෝතිර්විද්‍යානුකූල යාතුකර්මවල පදනමක් ඇත. විශ්ව ශක්තීන් උපයෝග කර ගනිමින් පුද්ගල ක්‍රියා විපාකයන්ගේ තත්වයන් වෙනස් කිරීමට හැකියාවක් ඇත්තේ ද යන ප්‍රශ්නය මෙහිදී මතු වන්නකි.

විශ්ව ශක්තීන් යනු පඨවි, ආපෝ, තේජෝ, වායෝ සහ ආකාශ යන පංච මහා භූතයන්ය. නමුත් මෙහිලා පංච මහා භූතයන්ගෙන් තොර යමක් ඇති බව පෙන්වා දිය යුතුය. එය පුද්ගල මනස නැතහොත් පුද්ගල විඥාන ධාතුවයි. මෙම පුද්ගල විඥාන ධාතුව මුල්කර පංච මහා භූතයන්ට අනුරූපව රූප, ශබ්ධ, ගන්ධ, රස,

ශ්පර්ෂ හා ධර්ම යනුවෙන් ද්විතීයික විශ්ව ශක්තියක් ඇති වෙයි. පුද්ගල ක්‍රියා විපාකයන් ඇතිවන්නේ මෙකී පුද්ගල මනස නැතහොත් පුද්ගල විඥාන ධාතුව මුල්කර ද්විතීයිකව ඇතිවන තත්වයන්ගෙන් බැවින් ඊට ප්‍රතිකර්ම යාතුකර්මාදියෙන් එසේත් නැතහොත් විශ්ව ශක්තීන්ගෙන් ඇති කරගන්නා ශක්තියකින් ඇත්තෙන්ම හැකියාවක් ඇත. එහි දී පුද්ගල මනසම ඊට මුල්වන බව මෙහිදී අවධාරණය කළ යුතු සත්‍යයකි.

විවාහය ප්‍රමාද වීම කෙරෙහි මෙම ජ්‍යෝතිර් විද්‍යානුකූල සන්දර්භය උපයෝගාත්මකව විග්‍රහයට ලක් කළ හැකිය. විවාහ ප්‍රමාදයට පිළියම් වශයෙන් ජ්‍යෝතිර් විද්‍යානුකූලව සිදු කරන ප්‍රතිකර්ම ලෙස සෙත්කවි, යන්ත්‍ර දැමීම, මන්ත්‍ර භාවිතය හා වෙනත් ශාන්තිකර්ම භාවිත කිරීම පෙන්වාදිය හැකිය.

# දික්කසාද වීමේ ප්‍රවණතාවය වැඩි වකවානුවක පොරොන්දම් බැලීම උපයෝගීතාව නැතහොත් පොරොන්දම් බැලීම කෙසේ බලපානවාද? යන්න විමසීම



විවාහය නැමති සංස්කෘතික බැඳීමෙන් සමාජය තුළ ඇති වූ සමාජයීය ඒකකයක් වශයෙන් පවුල නැමති සමාජ සංස්ථාව පෙන්වාදිය හැකිය. එම සමාජ සංස්ථාව ගැටළුවකින් තොරව ක්‍රියාත්මක වීම -කසාදය" යන ව්‍යවහාරයෙන් පැහැදිළි කරයි. එසේම -දික්කසාදය" යන ව්‍යවහාරයෙන් යට කී සමාජ සංස්ථාවේ ගැටළුමය තත්වයක් ඇතිවීමක් පෙන්නුම් කරයි. මෙම තත්වය නීතිමය දෘෂ්ඨිකෝණයෙන් පැහැදිලි කිරීමේ දී තවත් ආකාරයකින් පෙන්වාදිය හැකිය. යම් සමාජ සංස්ථාවක පැවැත්ම එකී සමාජය විසින් ම පණවාගනු ලැබූ නීති පද්ධතියකින් ලබාදෙන ආරක්ෂණයකින් ආවරණය කර ඇති අවස්ථාව කසාදය ලෙසින් පෙන්වා දිය හැකිය. එසේම දික්කස-ාදය, යම් සමාජ සංස්ථාවක පැවැත්ම අර්බුදකාරී තත්වයක් යටතේ තවදුරටත් පවත්වාගෙන යාමට අපොහොසත් වීමේ දී සමාජ ගත නීති පද්ධතියකින් ලබාදුන් රක්ෂණ ආවරණයෙන්

වන්දිගෙවීමකට යටත්ව හෝ යටත් නොවී යථෝක්ත පුද්ගලයන් නිදහස් කිරීම ලෙසින් අර්ථ දැක්විය හැකිය.

සංස්කෘතික බැඳීමකින් ඇතිවන සමාජ ඒකකයක ක්‍රියාකාරීත්වය ඓතිහාසික හා සමාජයීය විද්‍යාත්මක විමර්ශනයක් තුළින් පැහැදිළි කර ගත හැකිය. එබඳු සංස්කෘතික බැඳීමකින් යුතු සමාජ ඒකකයක ක්‍රියාකාරීත්වය ඉක්ම වූ යථාර්ථවාදී භාවිතාවක පැවැත්ම පිරික්සීම සඳහා ජ්‍යෝතිර් විද්‍යාත්මක විග්‍රහයක් සිදු කිරීමේ දී පවතින සමාජයීය විද්‍යාත්මක යයි පවසන එබඳු පර්යේෂණ විධික්‍රමයක් අනුගමනය කිරීම උගහට ය. සමාජයීය විද්‍යාවන්ගේ සීමාවන් ඉක්මව ලද ඉසව් හඳුනාගැනීම එහි දී අත්‍යවශ්‍ය වන බව අවධාරණය කළ යුතුය.

සමාජයීය කතිකාව තුළ යථෝක්ත සන්දර්භය ක්‍රියාත්මක වන ආකාරය පැහැදිළි කිරීමේ දී ජ්‍යෝතිර් විද්‍යාත්මක සංකල්පයක් වන -පොරොන්දම් බැලීම" යන්න ප්‍රධාන සාධකයක් ව පවතින බව පෙන්වා දිය යුතුය. ශ්‍රී ලාංකීය සමාජය, ඉන්දියාව ද ඇතුළත්ව -පොරොන්දම් බැලීම" චාරිත්‍රයක් වශයෙන් අනුග මනය කරන බව කරුණු විමර්ශනයේ දී පැහැදිළි වෙයි.

ලංකාවේ පලවන ජාතික පුවත්පත් දෙස බැලීමේ දී පෙනී යන කරුණක් වන්නේ කේන්ද්‍රය මුල් කර ගත් පොරොන්දම් බැලීම ලාංකීය ජන විඥාණයේ මුල් බැස ඇති දෙයක් බවය. කේන්ද්‍රයේ විවාහකස්ථානයේ (හත්වැන්නේ) පාපීන්ගෙන් (රවි, කුජ, බුධ, ශනි, රාහු, කේතු යන ග්‍රහයින්) තොර හෝ පාපීන්ගෙන් යුතු හෝ කේන්ද්‍රහිමි තරුණයින් හෝ තරුණියන් හෝ සොයන මංගල යෝජනා සහිත දැන්වීම් ප්‍රමාණය දෙස බැලීමේ දී විවාහ සංස්ථාව කෙරෙහි ඉතා විශාල බලපෑම් සහගත සාධකයක් බවට ජ්‍යෝතිෂය පත්ව ඇති බව පෙන්වා දෙන්නකි.

විවාහය නැමති සංස්කෘතිකාංගය කවර පසුබිමක් තුළ ක්‍රියාත්මක වන්නක් දැයි විමසා බැලීම මෙහිදී ප්‍රයෝජනවත් වනු ඇතැයි සිතමි. විශේෂයෙන් හින්දු භක්තිකයන් සහ බෞද්ධයින් මෙම පොරොන්දම් බැලීම කෙරෙහි අවධානය යොමු කරන පිරිස වශයෙන් නැතහොත් අදාළ ගැටළුවේ ක්ෂේත්‍රගත නියැදි කාණ්ඩය වශයෙන් පෙන්වාදිය හැකිය. මේ නියැදිය අතරට මුස්ලිම්, ක්‍රිස්තියානි සහ කතෝලික භක්තිකයන් ඇතුළුවීමට ඇති ඉඩකඩ ඉතා සීමිතය. හේතුව ඔවුන් අදහන ආගම් විසින් මෙම විෂයය භාවිත කිරීමෙහිලා දැඩි නීතිමය තහංචි පණවා ඇති හෙයිනි.

මෙම ආගම් තුළින් ශික්ෂණය කරන ලද හා ශික්ෂණය නොකරන ලද සේම ආගම යන සාධකය ක්වොන්ටම්වාදී අවිඥ්ඤාණික දෘෂ්ටිකෝණයෙන් බැහැර කරන යන ලක්ෂණවලින් යුතු නූතන තරුණ පරපුර හා විවාහයට එළැඹෙන පිරිස් ඉතා බහුල වශයෙන් දික්කසාදයට ගොදුරුවන බව ලංකාවේ දික්කසාද නඩු ප්‍රමාණය පිළිබඳ සමීක්ෂණයක් කිරීමේ දී පැහැදිළි කර ගත හැකිය.

මෙසේ දික්කසාදයට නැඹුරුවන පිරිස ‘වන්දිගෙවීමකට යටත්ව හෝ යටත් නොවී නීතිමය බැඳීමකින් නිදහස් වීම’ යන තැනට කාරණය ළඝු කොට අතපිසදා ගැනීමට පෙළඹී සිටීම සමාජ ගැටළුවකි. මෙම සමාජ ගැටළුව විසඳීමෙහි ලා ජ්‍යෝතිෂයය තුළින් සිදුකළ හැකි සේවයක් ලෙසින් පොරොන්දම් බැලීම” පෙන්වාදිය හැකිය.

ලාංකීය සමාජයට කරුණු අවධාරණය කිරීමේ අදහසින් හා එම සේවයට විද්‍යානුකූල විවරණයක් සැපයීම තුළින් පොරොන්දම්

බැලීම සුජාතකරණයට ලක් කිරීමට ලංකාවේ විවිධ වූ ජ්‍යෝතිෂ පුවත්පත් සඟරා තුළින් ජ්‍යෝතිර්වේදීන් ගන්නා උත්සාහයන් පැසසිය යුතුය.

දික්කසාද වීමේ ප්‍රවණතාවය වැඩි වකවානුවක 'පොරොන්දම් බැලීම' කෙරෙහි තත්ව සහතිකයක් දීම තරමක ප්‍රශ්න කිරීමට ලක්විය හැකි කරුණක් ලෙස ඇතැම් විට පෙනී යා හැකිය. නමුත් එහි ලා පවතින තත්වය හා එසේ ඇතිවන තත්වයන් කෙරෙහි බලපාන සාධක විමසීමේ දී එය ගැටළුවක් නොවන බව පෙන්වාදිය හැකිය.

පොරොන්දම් බැලීමට ප්‍රථම පාරිභෝගිකයන් විසින් පොරොන්දම් බැලීම සිදු කරන ජ්‍යෝතිර්වේදීන්ගේ දැණුම පිළිබඳ තත්ව සහතිකය විමසා සිටීම ඉතා වැදගත් කරුණකි. මෙහිලා ජ්‍යෝතිර්වේදයෙහි පවතින සාරධර්ම හා ප්‍රඥප්තීන්ට අනුකූලව කටයුතු කරන කිසිදු ජ්‍යෝතිර්වේදියෙකු අතින් වැරදි පොරොන්දම් ප්‍රකාශයක් බලාපොරොත්තු විය නොහැකිය.

ජ්‍යෝතිෂයෙහි උන්නතිය සඳහා සහ එහි භාවිතාව සුකර කිරීමේ පරම අරමුණින් එළි දක්වන පඬ්චාඞ්ග ලිත්වල දක්වා ඇති පොරොන්දම් පරීක්ෂාව නැමති උධෘතය යටතේ පොරොන්දම් විස්සක් දක්වා ඇත. එහිම ග්‍රහ පොරොන්දමේ දී සැලකිල්ලට ගත යුතු ග්‍රහ පිහිටීම් ඇතැම් ලිත් පොතක විස්තර කර ඇත. යූජි වර්ග විභාගය, සුදර්ශන චක්‍රය, පාපාංශක චක්‍රය, අත්‍යාවශ්‍ය එකොළොස් පොරොන්දම්, දස පොරොන්දම් හා අට පොරොන්දම් හෙවත් අෂටකූඨය යන කරුණු ද ගරුඬාදී අෂ්ඨ යෝනි විභාගය, ගරුඬාදී අෂ්ඨ යෝනි නාමාක්ෂර ගණිත ක්‍රමය, එම ලිත් පොත්වල දක්වා ඇත. නමුත් අනුවේදනීය ව පැවසීමට සිදු වී ඇති කරුණක් ඇත. එනම් මේ තත්වය වංචනික කූඨ

පුද්ගලයින් ජ්‍යෝතිර්වේදීන් යයි තමුන් ම කියා ගනිමින් ලිත් පොත්වල ඇති විසි පොරොන්දම් පමණක් යන්තම් බලා සුභ වශයෙන් එහි දී ගැණෙන පොරොන්දම් ගණන 10ක් හෝ ඊට වැඩි ප්‍රමාණයක අගයක් පැමිණේ නම් විවාහයට සුභ බව නැතහොත් අසුභ බව දක්වා සිටිති.

විවාහයෙහි සුභ අසුභ අයනයන්, නැකැත්, තිථි, කරණ, යෝග සහ ලග්නාදිය, අසුභ තිථි වාර හා දෙර්කාණ අංශක, අසුභ ග්‍රහ තත්වයන් යටතේ සිදු කළ යුතු ශාන්ති කර්මාදිය, විවාහයෙහි සුභ අසුභ දෛවඥයන්ගෙන් විමසා සිටිය යුතු බව හා දෛවඥයන් කරා එළැඹිය යුතු නැතහොත් යායුතු ආකාරය, දෛවඥයා විසින් තත්කාල ග්‍රහචාරානුකූලව විවාහයෙහි සුභ අසුභ විසඳිය යුතු ආකාරය, අපුත්‍රී වෛධව්‍ය යෝග නොහොත් දරුවන් හට නොගන්නා යෝග, අඹුසැමි දෙදෙනාගේ භාග්‍ය සම්පත් දක්වන යෝග, ස්වාමියාගේ හෝ භාර්යාවගේ නැසීම දක්වන යෝග, ස්වාමියාගේ හෝ භාර්යාවගේ මව්පියන් නැතිවීම කෙරෙහි බලපාන යෝග, අඹුසැමි දෙදෙනාගේ ජීවත්වන නොවන බව දැක්වෙන යෝග, ස්වාමියාගේ හෝ භාර්යාවගේ නින්දිත බව විමසන යෝග, ශාරීරික බෙලහීනතාවන් හෝ විකලාංග සහිත තත්වයන් විමසන යෝග, දික්කසාදයෙහි චූදිතයා බවට ස්වාමියා හෝ භාර්යාව පත්වන යෝග, බාල වියෙහි දීම වැන්දඹු වීම හෝ බාල අපචාරයන්ට ලක්වන යෝග, පංචකාම සම්පත් නැතහොත් රූප, ශබ්ධ, ගන්ධ, රස සහ ශ්පර්ෂ යන සම්පත් නොලබන යෝග, කන්‍යාංග විභාගය, විෂ කන්‍යා ග්‍රහ යෝග, ප්‍රථම ආර්තවයේ නැකැත් එල, දින එල, ඉරියාපථ එල සහ රුධිර එල ද විවාහයක් සිදු කිරීමට ප්‍රමාණවත් පොරොන්දම් ගණන ද ස්ත්‍රීන්ටම අනුකූලව නැතහොත් ආර්තවය මුල්කර විවාහ නැකැත් සෑදිය යුතු බව ද යන අති විශාල ක්ෂේත්‍රයක විහිදී ඇති පොරොන්දම් පරීක්ෂාවේ දී විමසා බැලිය යුතු ප්‍රධාන කරුණු

කෙරෙහි මෙම ප්‍රයෝගකාරී වංචනික පුද්ගලයන් අවධානය යොමු නොකරති. ඇත්තෙන්ම ඔවුහු එබඳු දෑ ජ්‍යෝතිෂයෙහි ඇති බව වත් දන්නේ නැත.

දික්කසාද වීමේ ප්‍රවණතාව වැඩි වකවානුවක් එළැඹීම කෙරෙහි ද මෙම වංචනික ප්‍රයෝගකාරී දෛවඥයන් යයි තමුන් ම කියාග න්නා පුද්ගලයන්ගේ ක්‍රියා කලාපයන් සෘජුව බලපා ඇති බව පෙන්වා දිය යුතුය.

පොරොන්දම් බැලීමේ දී දැකිය හැකි පාරිභෝගිකයන් අතින් සිදුවන වැරදි ද යම් පමණකට දික්කසාද වීමේ ප්‍රවණතාව වැඩි වීමට බලපානු ලබයි. එහිලා උපන් දිනය, වේලාව හා ස්ථානය වැරදියට ජ්‍යෝතිර්වේදියා වෙත සැපයීමෙන් සකසනු ලබන කේන්ද්‍ර භාවිත කිරීම. සමාජ තත්වයන්, බලයන්, මිලමුදල් හා බලපුවන්කාරකම් මුල්කර සිදුකරන විවාහයන්හි දී මෙන්ම ප්‍රේම සබඳතා මත සිදුකරන විවාහයන්හි දී ඇතැම් විට කේන්ද්‍ර ගැලපීම නොසලකා දෙමව්පියන් විසින් විවාහ කටයුතු සිදු කරනු ලබති. නැතිනම් හිතුමතයට විවාහ යෝජක තරුණ තරුණියන් තම තමුන් ම විවාහයට එළැඹෙති. එහිදී ඇතිවන තත්වන් හමුවේ වන දික්කසාදයකට යොමු වීමකදී ජ්‍යෝතිෂඥයා වෙත දෝෂාරෝපණ එල්ල කළ හැකි නමුත් එම දෝෂාරෝපණ අර්ථ විරහිත ඒවා බව පැවසිය යුතු වෙයි.

දික්කසාද වීමේ ප්‍රවණතාව වැඩි වකවානුවක දී සාමාන්‍ය මහජනයා සතු ප්‍රබල වගකීමක් ඇත. එනම් ජ්‍යෝතිෂඥයෙකුගේ දැණුම, අත්දැකීම හා ජ්‍යෝතිෂ දැණුමෙහි ප්‍රාගුන්‍යය ඇති දෛවඥ මහතෙකු ලවා පොරොන්දම් පරීක්ෂා කිරීම කළ යුතු බව ය.

මෙහිදී ජ්‍යොතිෂයට අළුතින් පිවිසෙන නවකයින් ඇතැම් විටෙක චෝදනාවක් එල්ල කළ හැකිය. එය සාධාරණය. නමුත් යමෙකු ජ්‍යොතිෂයට අළුතින් පිවිසෙන නවකයෙකු ලවා පොරොන්දම් පරීක්‍ෂා කර ගන්නේ නම් අනිවාර්යයෙන් ම ජ්‍යොතිෂයෙහි ප්‍රවීණයෙකු ලවා නැවත එම කේන්ද්‍ර පරීක්‍ෂා කර ගත යුතු බව අවධාරණය කළ යුතුය.

ඊට සරළ උදාහරණයක් පැවසිය හැකිය. ඔබ යම් කිසි කායික ආබාධයකින් පෙලෙන විට වෛද්‍ය උපාධිය අළුතින් ගත් වෛද්‍යවරයෙකු වෙත යන අවස්ථාවක් සිහියට නගා ගන්න. ඔබට ඇති රෝගයට සරල වෛද්‍ය උපදෙසක් හෝ සරල ප්‍රතිකාරයක් නියම කරන ඔහු ඔබට ඇති රෝගයට අනුව නිශ්චිත ප්‍රතිකාරයක් ලබාගැනීම සඳහා විශේෂඥ දැණුමක් ඇති විශේෂඥ වෛද්‍යවරයෙකු වෙත අනිවාර්යයනේම ඔබව යොමු කරනු ඇත.

මේ පරිද්දෙන් ආධුනික ජ්‍යොතිර්වේදියෙකු ලවා සිදුකරන පොරොන්දම් පරීක්‍ෂාව ප්‍රවීණ ජ්‍යොතිර්වේදියෙකු කරා යොමු කරවිය යුතුය. තමන්ගේ ආධුනිකත්වය පිළිබඳ නිහතමානීත්වයෙන් පිළිගන්නා ආධුනික ජ්‍යොතිර්වේදියා හට අනිවාර්යයෙන් ම ශාස්ත්‍රය පිහිටන අතර ශාස්ත්‍රධාරී කෘතහස්ත භාවය නැමති වස්තු සම්පත් කරා ලඟාවීමට එය යාත්‍රාවක් කරගත හැකිය.

# ලෝකායත ජ්‍යොතිෂය හා දේශපාලන විද්‍යාව




''දේශපාලන විද්‍යාව'' යන්න අද දවසේ බොහෝ විවාදයන්ට ලක්ව ඇති විෂයීය මාතෘකාවකි. එසේ වුවත් ''ලෝකායත ජ්‍යොතිෂය'' පිළිබඳව කතා කරනුයේ ජ්‍යොතිෂ පුවත්පත් කලාවෙදීන් පමණකි. මෙම තත්ත්වය බොහෝ විට අපට පෙනී යන්නේ රටේ ප්‍රධාන පුවත්පත් එක් පසෙක සිට දේශපාලන විද්‍යාව අනුව දේශපාලනමය කතිකාවක් තම පුවත්පත් ඇසුරෙන් ගෙන යන අතර තවත් පසෙක ජ්‍යොතිෂ පුවත්පත් සිය විශ්ලේෂණයන් ජ්‍යොතිෂ විද්‍යානුකූලව ගෙනහැර දක්වනු දැකගත හැක.

ලාංකීය දේශපාලන කතිකාව තුළ මෙලෙස දෙආකාර වු කියාවලියක් ක්‍රියාත්මක විමට සාදක කීපයක් ඇත.

පළමුවැනි සාධකය බවට පත්ව ඇත්තේ සාමාන්‍ය ජනයාගේ ජන්ද බලය මත මහජන මතය පදනම් වන බැවින් එය තමාට ලබාගැනිමේ ක්‍රියාවලිය තුළ මධ්‍ය ප්‍රචාරණය යොදාගන්නා දේශපාලනඥයින් ඒ

සඳහා ඊට ජ්‍යොතිෂ අනුගත කිරිමට උත්සාහ දරන්නේ මහජනයා ජ්‍යොතිෂ පිළිබඳව වු සිවඥානික අනුභූතියක් තුළ ජීවත් වන නිසාවෙනි. මහජනයා උපතේ සිට මරණය තෙක් සෑම සුවිශේෂ අවස්ථාවකදිම ජ්‍යොතිෂයට අනුකූලව සිය දෛනික ක්‍රියාදාමයන් සිදු කරනු ලැබිම හේතුවකි. ජන ජිවිතය හා බැදිගත් දෙයක් බවට ජ්‍යොතිෂය පත්ව තිබිම නිසා ඇතැම් දේශපාලනඥයන්ගේ සහායක මාධ්‍ය උපදේශකයගේ එය ප්‍රයොජනයට ගනිමින් කරන අච්චාරවත් උපදේශන නිසා විද්‍යානුකූල පදනමක් මත ගොඩනැගි තිබු ජ්‍යොතිෂය විෂය පුස්සක් බවට පත්වී ඇති බව පෙනෙන්න තිබිණි.

මැතිවරණ දේශපාලන ප්‍රචාරණය තුළ පමණක් නොව දේශපල්‍යන භාවිතව තුළ ද ජ්‍යොතීෂඥයාගේ භූමිකාව වෙතින් අප අත්විදිනු ලැබු නිදර්ශනාත්මක සිද්ධීන් ගණනාවකි. ප්‍රධාන ජන නායකයකු බවට පත් වු එක් දේශපාලනඥයෙකු වටා ගොනු වු මීට සමාන සිද්ධීන් ගණනාවක් 90 දශකය මුලදී අපට දැකගත හැකිවිය. මන්ත්‍ර විද්‍යව ද ජොතිෂය තුළම අනුගත වන්නා වු එක් උප විෂය ක්ෂෙත්‍රයක් වන බැවින් එම විද්‍යාව ඔහු විසින් උපකාර කරගත් බවට ද රාවයක් විය.

නමුත් ලෝකායත ජ්‍යොතිෂය තුළ මෙබදු සරල කරුණු සඳහන්ව නැත. එය ඇරඹෙන්නේ පුද්ගල උප්පත්ති කේන්ද්‍රය ද සමගිනි. පුද්ගල උප්පත්ති කේන්ද්‍රය තුළ සඳහන් වන්නා වු රාජ යෝග සමඟ ලෝකායත ජ්‍යොතිෂය ආරම්භ වෙයි. අවන්ති දේශයේ විසු ජ්‍යොතිෂ ආචාර්ය වරයකු විසින් ලියන ලද වරාහමිහිරියට ක්‍රිස්තු වර්ෂ 966 දී ලියන ලද ''හට්ටොත්එල ටිකාව ''ට අනුව පණ්ඩිත ජි'වේරගම නැමති ජ්‍යොතිෂඥයා විසින් කරන ලද වරාහමිහිර සන්නයට අන්ව ''රාජ යොග ''නම් වු එකොළොස් පරිච්ජේ පලමු පන්තියේ රාජ යෝග 77ක් ද දෙවනිපතියේ රාජයෝ ග 7ක්ද පිළිව සඳහන් කොට ජන්ම පත්‍රයට අනුව රාජ්‍යත්වය බැබෙන කාල බලාගන්න ආකාරය ද පෙන්වා දී තිබේ. ලෝකයට ඉතාමත් සේවයක් බටු කළ සිද්ධාර්ථ ගෞතමයන්ගේ දේහයෙහි වු දෙතිස් මහා පුරුෂ

ලක්ෂණ අනුව හෙතෙම චක්‍රවර්තී රාජ්‍යත්වයට හෝ බුද්ධත්වයට පත්වන බව නාමකරණ මංගල්‍යයට පැමිණ සිටි ජ්‍යොතිෂයෙහි කෙළ පැමින සිටි බ්‍රාහ්මණයන් 107 දෙනෙකු පවසා සාටි අතර ඌර්ණ රෝම ධාතු ලක්ෂණයට අනුව අනිවාර්යෙන්ම බුදුවන බව පවසා සිටි කොණ්ඩඤ්ඤ නම් බ්‍රාහ්මණයා පසුව කුමරු බුදුවීමේ දුෂ්කර ක්‍රියා අවධියේ දී උපස්ථානපවා යොමුව සිටි අයෙකු බව පෙන්වා දිය හැකිය.

එසේම මයුරපාද ,ශුරපාද, ධර්ම කීර්තිපාදාදී ගෘහස්ථ පඬිවරුන්ට සමකාලීනයෙකු ලෙස සලකන ශ්‍රී මහේද්‍රපාදයන් විසින් විරචිත ජ්‍යොතිෂයෙහි ස්කන්ධත්‍රයෙන් හොරා ස්කන්ධයට අයත් යැයි සලකන ''හෝරාභරණ''නම් වු කෘතියට අනුව එහි 15වන පරිච්ෙ-ජදයෙහි 127 සිට 132 දක්වා වු ශ්ලෝක සයකින් රාජාභිෂේක විධි කවරේදැයි දක්වා තිබේ. අද ද දේශපාලන පදවි ප්‍රාප්තිමය අවස්ථාවන්ට හා එම පදවි දිවුරුම් දීමේ අවස්ථාවන්ට අදාළ නැකැත් සෑදීමේ දී මෙම ගුරු උපදේශ අනුව එම නැකත් සාදනු ලබන බව එම නැකැත් සාදනු ලබන ජ්‍යොතිෂඥයෝ දනිති.

දේශපාලනය පිළිබඳව හා දේශපාලන පදවි ප්‍රාප්තිමය අවස්ථාවන් හා සබැඳි දේශපාලන අනාවැකි පළකිරිමෙහි යෙදී ඇති ජ්‍යොතිෂඥයන් පිළිබඳව විමසීමේදී බටහිර ලෝකය තුළ අද ද ඉතාමත් ප්‍රසිද්ධියක් උසුලන අයෙකි. ''නෝත්‍රදාමුස් '' සැප්තැම්බර් 11වන දින ඇ-මෙරිකානු ඉතිහාසයේ සිදුවුණු අඳුරු සිදුවිම පිළිබඳව පවා හෙතෙම අනාවැකි පළකොට තිබු බව පුවත්පත් විසින් තත් කාල වකවානුව සහිතව පෙන්වා දී තිබීණි. එසේම වැරදි අනාවැකිය පළ කරන්නට යෙදුන ජ්‍යොතිෂඥයන්ට මරණ දඬුවමට පවා ලක්වීමට සිදු වු අවස්ථා ඉතිහාස ග්‍රන්ථ තුළින් දැකගත හැකිය

දේශපාලනය පිළිබඳව හා දේශපාලන පදවි ප්‍රාප්තිමය අවස්ථාවන් හා සබැඳි දේශපාලන අනාවැකි පළකිරීමෙහි යෙදී ඇති ජ්‍යොතිෂඥයන් පිළිබඳව විමසිමේදී බටහිර ලෝකය තුළ අද ද ඉතාමත් ප්‍රසිද්ධියක්

උසුලන අයෙකි. නෝත්‍රදමුස් ඉන්දීය අධිරාජ්‍ය බිහිවීමේ අවස්ථාවේදී ගුප්ත යුගයට අවධානය යොමු කරනු ලබන විට දී ඒ තුළ මෞර්ය වංශයට හිමි වන්නේ ශ්‍රේෂ්ඨ ස්ථානයකි. ක්‍රිස්තු පූර්ව 321 දී සිහ-සුනට පත් නන්ද නම් රජුගෙන් සිහසුන ලබා ගත්තේ චන්ද ගුප්ත කුමාරයාය. ඔහු කිසිදු රාජ්‍ය උරුමයක් නොතිබුවෙක් යැයි මෑත ඉතිහාසඥයන් විසින් ( Thapar, Romila. History of India, (tr) (1973 . India: Messßs penguin Books Ltd ; Dehiwala: Thisara packaging Indñtry.) අනාවරණය කරනු ලැබීය. චන්ද්‍ර නම් වු ගුප්ත වංශයට අයත් කුමරෙකුගේ ගුරුවරයා මෙන්ම ජ්‍යොතිෂය තුළ කෙළ පැමිණ සිටි කෞටිල්‍ය නම් වු ආචාර්යවරයා උපදේශන තුළින් චන්ද්‍ර අධිරාජ්‍යයකට හිමිකම් කියනු ලබයි. කෞටිල්‍ය නම් මෙම ආචාර්යවරයා පිළිබඳව ඔබ හොඳින් ආසා ඇත්තේ ඔහුගේ අර්ථ ශාස්ත්‍රය තුළ සඳහන් වන ''මත්ස්‍ය න්‍යා-ය''සමඟනි. කෞටිල්‍යයේ අර්ථ ශාස්ත්‍රය හා සමාන ප්‍රසිද්ධත්වයක් උසුලන, බටහිර දේශපාලන විද්‍යා න්‍යාය තුළ වඩාත්ම සාකච්ඡාවට බඳුන් වී ඇති ''කුමාරයා ''නැමති ග්‍රන්ථය රචනා කරන ලද මැකියාවෙල්ලි නම් වු දේශපාලන උපදේශකයාගේ උපදේශන ගැන ඔබ අසා හෝ කියවා ඇතැයි සිතමු.

කෞටිල්‍ය හා මැකියාවෙල්ලි නම් දෙදෙනාගේම ඉතිහාසය දෙස විමසිල්ලෙන් පරික්ෂා කර බලන විට දී ඔවුන් දෙදෙනාම ජ්‍යොතිෂ ශාස්ත්‍රයෙහි හසල දැනුමක් සහිතව සිටි පුද්ගලයන් දෙදෙනකු බව පෙනී යයි. චන්ද්‍රගුප්ත හට රාජ්‍යත්වයට විශේෂ ලේ උරුමයක් නොවුවත් ඔහුගේ ජන්ම පත්‍රයට අනුව රාජ්‍යත්වයට අනුමත අධිරාජ යෝග තුනකින් සමන්විත සිටි අයුරු හා ජ්‍යොතිෂයෙහි උප විෂය ක්ෂේත්‍රයක් වන දේහ ලක්ෂණ විද්‍යාවට අනුව ද අධිරාජ්‍යත්වයට පත්වීමට අවශ්‍ය කරන දේහ ලක්ෂණ චන්ද්‍රගුප්ත තුළ තිබු බව කෞටිල්‍යයන්ගේ දැක තිබු බව භට්ටෝත්පල ටීකාවෙහි රාජයෝග පිළිබඳව වන පරිච්ඡේදයට කලාන් සණේෂාචාර්ය බ්‍රාහ්මණ පඩිතුමන් විසින් විරචිත ජාතකාලංකාරයෙහි (පුස්කොළ පොත) සඳහන් වන බව පූර්විකාවෙහි සඳහන් වෙයි.

ලෝකායත ජ්‍යොතිෂයට මේ ආකාරයෙන් පූර්විකාවක් සකසා ගනිමින් එහි විෂය කරුණු දෙසට යොමුවීමේදී පුද්ගල කේන්ද්‍ර සටහන් වඩාත් වැදගත් වෙයි.එසේම යම් දේශපාලන ලක්ෂයක් හෝ පුද්ගලයකු රාජ්‍යත්වයට පත්වන අවස්ථාවේ තත්කාල කේන්ද්‍ර සටහන (එම වේලාවට හිමි විශ්ව ග්‍රහ සිතියම) අනුව ලෝකායත ජ්‍යොතිෂයෙහි පලපල කථනය සිදු කරනු ලබයි. නමුත් මෙහිදි විවාහයට පමණක් අප පරික්ෂා කරන පොරොන්දම් බැලීම යට කි තත්කාල කේන්ද්‍ර සටහනෙහි උදා අවස්ථාවේ ග්‍රහ පිහිටිමත් නැකතත් හා පුද්ගල කේන්ද්‍රයෙහි ග්‍රහ පිහිටිම හා නැකතත් අතර පොරොන්දම් පරික්ෂා කිරිමත් අනිවාර්යෙන්ම කළ යුතු වන්නේය.

මෙහිදී අප ලෝකයෙහි වඩාත් චිර ප්‍රසිද්ධියක් උසුලනු ලබන දේශපාලන නායකයින් කිහිප දෙනෙකුගේ ජන්ම ලග්න කවරේදැයි විමසා බැලීම ප්‍රයොජනවත් වෙයි. බණ්ඩාරවෙල පෙරදිග ජ්‍යොතිෂ විද්‍යාලයාධිපතිව සිටි අභාවප්‍රාප්ත වු ඇස් .ඩබ්. කස්තුරිරත්නයන්ට අනුව මෙම ලග්න සටහන් ඔබට දක්වාලමු. (කස්තුරිරත්න, එස්.ඩබ්.ගෙ ා්චර ඵල (1972). මොරවක මාතර, කිර්ති අබේවික්‍රම 147-161 පිටු

- ❖ සිද්ධාර්ථ ගෞතමයන්ගේ ජන්ම ලග්නය - කටක
- ❖ ලංකාවේ ආගමික හා දේශපාලනික නායකයෙකුව සිටි අනගාරික ධර්මපාලතුමා - කන්‍යා ලග්නය
- ❖ ලංකාවේ අගමැතිවරයෙකුව සිටි එස්. ඩබ්. ආර්. ඩී. බණ්ඩාරනායක මහතා - කුම්භ ලග්නය
- ❖ **වත්මන් ජනාධිපති පර්සි මහේන්ද්‍ර රාජපක්ෂ - කන්‍යා ලග්නය**
- ❖ හිටපු ජනාධිපතිනි චන්ද්‍රිකා බණ්ඩාරනායක කුමාරතුංග මැතිනිය - කටක ලග්නය
- ❖ ඇමෙරිකාවේ ප්‍රථම ජනිධිපති ජෝර්ජ් වොෂිංටන් මහතා - මේෂ ලග්නය
- ❖ රුසියාවේ කාර්ල් මාර්ක්ස් - කුම්භ ලග්නය
- ❖ ජර්මනියේ බිස්මාර්ක් - කටක ලග්නය

- ජර්මනිය එක්සත් කළ කෙයිසර් අගරජු - මිථුන ලග්නය
- ඇමෙරිකාවේ ජනාධිපතිවරයෙකුව සිටි ප්රැන්ක්ලින් රූස්වෙල්ට් මහතා - කන්‍යා ලග්නය
- ඉතාලි ආඥාදායක මුසෝලිනී - තුලා ලග්නය
- නැපෝලියන් අගරජු කන්‍යා ලග්නය
- පස්වන ජෝර්ජ් රජු - මීන ලග්නය
- හයවන ජෝජ් රජු - තුලා ලග්නය
- හත්වන එඩ්වඩ් රජු - ධනු ලග්නය
- මහත්මා ගාන්ධි - තුලා ලග්නය
- අගමැතිවරයෙකුව සිටි වින්සන්ට් චර්චිල් - තුලා ලග්නය
- වික්ටෝරියා රැජින - වෘෂභ ලග්නය
- රුසියන් ආඥාදායක ජෝස ස්ටාර්ලින් - තුලා ලග්නය
- රුසියානු ජාතික වී.අයි.ලෙනින් - තුලා ලග්නය
- රෝම අධිරාජ්‍යයෙකුව සිටි නීරෝ - ධනු ලග්නය
- ඒබ්‍රහම් ලින්කන් - මීන ලග්නය
- ඇමරිකන් ජනාධිපතිවරයෙකුවසිටි වුඩ්රෝ විල්සන් - මීන ලග්නය

මෙම ලග්න හිමි ඒ ඒ දේශපාලන නායකයින් ආරම්භ කරන්නට යෙදුන දේශපාලන ක්‍රියාවන් තත්කාල කේන්ද්‍ර සටහන් සමඟ විමසා බැලීමේදී බෝහෝවිට උක්ත දේශපාලන ක්‍රියාදාමයන් ඔස්සේ ඉතිහාසය ගොඩනැගුන ආකාරය ලෝකායත ජ්‍යොතිෂය තුළින් පැහැදිළි කරගත හැක. මෙම ලෝකායත ජ්‍යොතිෂය පිළිබඳව කතිකාව ගොඩනගනුයේ දේශපාලන අනාගතය සම්බන්ධයෙන් පුරෝකතන ඉදිරිපත් කිරිම ඔස්සේය. සෑම ජ්‍යොතිෂඥයෙකු විසින්ම බෝහෝවිට මෙම පුරෝකතනය ගොඩනගනු ඇත. තමන් පරිශීනය කරන පංචාඞ්ග ලිතෙහි සංවත්සර පත්‍රය හා සන්සන්දනය කිරිම ලෝකායත ජ්‍යොතිෂයෙහි තවත් එක් අංගයකි.

මෙම සංවත්සර පත්‍ර පිළිබඳව කරුණු විමසීමේ දී කස්තුරිරත්නයන් (කස්තුරිරත්න,එස් .ඩබ්.ගෝචර ඵල (1972). පිටු ). ඉදිරිපත් කරන 21

වන ශතවර්ෂ පලාපල කථනය ඉතාමත් ප්‍රශස්ත මට්ටමකපවතින බව පෙනෙන්නට තිබේ.

දේශපාලන හා ලෝකායත ජ්‍යොතිෂය අතර කිසිඳු සහ සම්බන්ධතාවක් නොමැති එකක් සේ ඇතැමෙකු සිතා සිටින නමුදු මෙම දෙක අතර පවතින සහසම්බන්ධය ගොඩනගාගත හැකි ආකාරය හා ඒ තුළ පවතින සම්බන්ධතාවය විවර කරගත හැකි මාර්ග පිළිබඳව සවාදයක යෙදීම කාලෝචිත වුවකි.